සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2558ක් වූ වප් මස (ව්‍යවහාරික වර්ෂ 2014 ඔක්තෝබර්)

36 වෙනි කලාපය

## මලියදේව මහ රහතන් වහන්සේට සුළුගුළු උපාසකතුමා පිරිනැමූ ඔසු කැඳ



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 20/-

# මේ හයත් හැරා වෙන තව ලොවක් තියේදෝ...

පත් දුකින් මිදෙන්නට ලොව සුවය සොය සොයා
රත් වෙමින් තිදොස්වල නිරතුරුව සිත අයා
නෙත් දෙකින් දකින දේ මිස නුවණ වෙත නොයා
ගත් කයින් මියෙත ලෝ සත ලොවට ගතු කියා

ඇස් දෙකින් බලන රූ සිරි නොයෙක අයුරිනා
වෙස් අරන් කොතැන හිටියද එක ලෙසට වෙනා
මස් ලෙයින් තැණුනු මේ ඇස මැරෙන තුරු පිනා
පස් සුළං ජලය ගිනි ලෙස විඳිති දුක තනා

කන් දෙකත් එලෙසමයි හඬ මිහිරි අමිහිරි
වෙන් කළත් එලෙස රිසි ලෙස පවතනට බැරි
අන් ලොවෙත් සියලු සත කන් මේ ලෙසට දැරි
සුන් වුනොත් එදින දුක මිස සතුට නැත පිරි

නාසයෙන් විඳින සුවඳද දුගඳ යන දෙකා
වාසයෙන් සියලු මනු සත පොදුය ලෙස එකා
දේසයෙන් කොතැන හිටියද සුවඳ ගඳ තකා
දෝසයෙන් වැසුනු මේ ලොව ඇතුල පිට දුකා

දිවට මුත් දැනෙන ලොව ඇති සියලු එල රසා
බවට වෙත් එකම ලොකු පොඩි වෙනස නැත අසා
මුවට විත් ගිලෙන අහරය සැමට පොදු නිසා
ලොවට අත් වෙනව ඒ දිව නැසෙන විට දොසා

කයට දැනෙන පහසෙහි ඇති මිහිරි සුව ලොවේ
සතට ගෙනෙන ලොකු පොඩි කිසි වෙනස නැත ගෙවේ
අවට තියෙන හැම දෙයකම කයට එන සුවේ
පයට පිහෙන දුහුවිල්ලක වටිනකම නොවේ

සිතින් සිතන සිතිවිලි වෙනකකින් සිතන්නද
ලොවින් දැනෙන අරමුණු ඉන් අයින් කරන්නද
මෙතුන් ලොවෙහි සත වෙනතින් දහම් විඳින්නද
මෙතැන් නොහැර තිලොවින් කෙලෙසකින් මිදෙන්නද

ඉඳුරන් හයකින් ලොව සුව හොයන ලොව සතා
හඳුනන් නැතිවම ඒ බව නොයෙක සුව පතා
ඇඳුරන් පසු පස දිව ගිය නමුදු නොව යතා
උදුරන් කෑවද මේ හැර සුවය තව නැතා

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්...

16 වන කොටස

මහා ශ්‍රාවක, ශ්‍රාවිකා පාරමිතාවන් පුරපු උතුමන් සහ උත්තමාවියන් ඒ පාරමිතා පිරීම පටන් ගත් තැන පැහැදිලිව සඳහන් වුනත්, බුද්ධ සාසනයේ වැඩ හිටපු අනෙකුත් ශ්‍රාවක ශ්‍රාවිකාවන් පාරමිතා පිරීම පටන් ගත් තැනක් ඒ ආකාරයට පැහැදිලිව සටහන් වෙලා නෑ. නමුත් ඊට මූලික වුන සිද්ධි දාමයක් උන්වහන්සේලා ගැන කියවෙන අපදානයන් තුලින් විග්‍රහ වෙලා තියෙනවා. එහෙම ශ්‍රාවිකාවක් ගැන තමයි මේ ලිපියෙන් කියන්න යන්නෙ. එතුමිය මේ ගෞතම බුද්ධ සාසනයේ ඕපපාතිකව පහල වුන මනුස්ස දුවක්. ඒ කියන්නෙ අම්මෙක් තාත්තෙක්ගෙ සම්බන්ධයක් නැතිව බිහි වෙච්ච කෙනෙක්. එහෙම ක්‍රම තියෙන බව මීට පෙරත් මේ සඟරාවෙ පළවෙච්ච ලිපිවලින් විග්‍රහ කරල තියෙනවා. ඇය නගර සෝභිනියක් විදියට, එහෙම නැත්නම් අද කාලෙ වචනයෙන් කිව්වොත් ප්‍රසිද්ධ ගණිකාවක් විදියට කාලය ගෙවල, පසුව ගෞතම බුද්ධ සාසනයේ පැවිදි වෙලා අරිහත් වුන උත්තමාවියක්. ඇය ගිහිව හිටපු කාලෙ හැඳින්නුවෙ අම්බපාලි කියන නමින්. ඒ වගේම පැවිදි වෙලා අරිහත් වුනාට පසුවත් අම්බපාලි රහත් තෙරණිය කියල තමයි හැඳින්නුවෙ. කලින් කිව්ව වගේ ඇය පාරමිතා පිරීම පටන් ගත් තැන පැහැදිලිව සටහන් නොවුනත්, ඒකට මූලික වෙච්ච හේතුවක් තියෙනවා. ඒ කියන්නෙ ඵුස්ස නම් බුදු පියාණන් වහන්සේ ලොව පහල වෙලා හිටපු කාලෙ, උන්වහන්සේ කෙරෙහි පැහැදිලා මහා දන් දීල රූප සම්පත්තියක් බලාපොරොත්තු වුනා. ඒක තමයි ප්‍රාර්ථනාව වුනේ. ඒ කියන්නෙ ඉතාමත් සිත් ගන්නා සුළු රූපයෙන් බැබලෙන කාන්තාවක් වීම. නමුත් අන්තිමට කෙලවර වුනේ ගෞතම බුද්ධ සාසනයේ රහත් මෙහෙණියක් වෙලා.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, නිවන් දකින්න ප්‍රාර්ථනාවක් තිබුනෙත් නැතිව, එහෙම නිවන් දැකල කෙලවර වුනේ කොහොමද කියල. අපි මේ විදිහට හිතුවොත් ඒකට මුලක් අල්ල ගන්න පුළුවන්, එහෙම නැත්නම් තේරුම් ගන්න හැකියාව තියෙන තැනකට එන්න පුළුවන්. සියලුම බුදු පියාණන් වහන්සේලාගෙ පාරමිතා කාලය තුල එකම එක පැතුමයි උන් වහන්සේලාට තියෙන්නෙ. අන්න ඒ පැතුම ඉෂ්ට සිද්ධ කරගන්න තමයි උන්වහන්සේලා නොවිඳිනා දුක් විඳල සාරාසංඛ්‍ය, අටාසංඛ්‍ය සහ සොළොසාසංඛ්‍ය වශයෙන් අප්‍රමාණ කාලයක් පාරමිතා පුරන්නෙ. ඒක මහා ශ්‍රේෂ්ඨ පැතුමක්. මේ ලෝක සත්වයා මහා දුක් ගොඩකින් මිරිකිලා ඉන්නෙ, මාත් ඒකට අයිතියි, ඉතින් මාත් මේ දුකින් මිදිල, මේ ලෝක සත්වයාත් අන්න ඒ අප්‍රමාණ දුකින් මුදවනව කියන එක තමයි ඒ පැතුම. එතකොට තමන් වහන්සේට පුළුවන්කම තියෙද්දිත්, සෙසු ලෝක සත්ත්වයා



වෙනුවෙන් පාරමිතා පුරල බුද්ධත්වයට පත්වුනාට පස්සෙ, දන් දෙන කෙනෙක් දන් දීල මොන පැතුමක් පැතුවත්, උන්වහන්සේලා ඒකට සුවපත් වේවා කියල ආශිර්වාද කළොත් අවසානයේ කෙලවර වෙන්නෙ නිවනින්.

සම්මා සම්බුදු රජාණන් වහන්සේලාගෙ එක දේශනාවක් තමයි ''තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර, නිවන හැර ලෝක සත්ත්වයාට වෙන සුවයක් මම නොදකිමි'' යි කියන්නෙ. ආර්ය විනයෙදි, යම් තැනක දුක නැද්ද ඒ අර්ථයෙන් එතන සුවයි කියනවා. ඒ තමයි අවේදයිත සුවය හෙවත් නිවන් සුවය. ඒක වේදනා චෛතසිකයකින් ගන්න සුවයක් නෙවෙයි, ප්‍රඥා චෛතසිකයේ තියෙන නිදහස් සුවය. නමුත් ලෝකයා සුව කියල කියන්නෙ, යම් තැනක සුබ ආස්වාදයක් තියෙනවද අන්න ඒකට. ඒක වේදයිතයි. ඒ කියන්නෙ සුව වේදනාවකින් විඳින සුවයක්. ඉතින් බුදුන් වහන්සේලා ලෝක සත්ත්වයාට දෙන්න බලාපොරොත්තු වෙන එකම සුවය තමයි නිවන් සුවය. ඒ නිසා උන්වහන්සේලා ආශිර්වාද කරන්නෙත්, ලෝක සත්ත්වයා විඳින මේ දුක් කන්දරාව මහා කරුණා ඥානයෙන් දැකල ඒකෙන් සුවපත් වේවා කියල. ඒ නිසා තමයි දන් දෙන කෙනා මොන පැතුම පැතුවත්, අවසානයේ නිවනින්ම කෙලවර වෙන්නෙ. මොකද ලෝකෝත්තර ගුණයකට පැහැදිලා ඒ ගුණය දැකලයි දන් දෙන්නෙ. ආශිර්වාදය ලැබෙන්නෙත් ඒ අප්‍රමාණ ගුණයෙන් නැගුණ මහා කරුණා ඥානයෙන් නිවන් අරමුණු කරලමයි.

ඒ වගේම කෙනෙකුට හිතෙන්න පුළුවන්, අනේ ඉතින් එහෙම මහා කරුණා ඥානයක් තියෙන බුදු පියාණන් වහන්සේ අද නෑනෙ, අපි කොහොමද එහෙම ආශිර්වාදයක් ලබා ගන්නෙ කියල. බුදු පියාණන් වහන්සේ අද ජීවමානව වැඩ හිටියෙ නැති වුනත්, උන්වහන්සේ මහා කරුණා ඥානයෙන් දැකල, මහා ප්‍රඥාවෙන් ලොවට පහල කළ චතුරාර්ය සත්‍ය ධර්මය, පටිච්ච සමුප්පාද ධර්මය තවම ඉර හඳ තියෙන මේ ලෝකය බබලවනවා. ඒ වගේම ඒ මග ගමන් කරන ආර්යන් වහන්සේලා තවමත් වැඩ ඉන්නවා. උන්වහන්සේලා සම්මා සම්බුදුවරයන් වහන්සේගේ පුත්‍රයන් වහන්සේලා. පියා ගිය මග තමයි උන්වහන්සේලාත් ගමන් කරන්නෙ. ඉතින් ඒ ආර්යන් වහන්සේලාගෙ දරුවො තමයි අපි. ඒ වගේම පියාගෙන් දරුවන්ට යම් දායාදයක් ඉබේම උරුම වෙන්නෙ කොහොමද, අන්න ඒ වගේම අපිටත් ඒ ලෝකෝත්තර දායාදය ඊට අනුව කටයුතු කළාම ඉබේම හිමි වෙනවා. ඉතින් ඒ ආර්යන් වහන්සේලා වුනත්, සුවපත් වේවා කියල ආශිර්වාද කළොත්, අර මානසිකත්වයට අනුවම තමයි ඒ ආශිර්වාදය ලැබෙන්නෙ. ඒකෙ කිසිම අඩුපාඩුවක් වෙන්නෙ නෑ.

දැන් අර පැතුම පතපු ආකාරයටම අම්බපාලිට ඒ රූප සම්පත්තිය ලැබුනා. ඒ අතර තුර, ඒ කියන්නෙ සිඛී කියන බුදු පියාණන් වහන්සේ ලොව පහළ

වෙලා හිටපු කාලෙ ඇය බමුණු කුලයක උප්පත්තිය ලැබුවා. ඇය ඒ බුද්ධ සාසනයේ පැවිදි වෙලා සක්මනේ යෙදිල හිටපු අවස්ථාවක, යන එන මග කවුරු හරි කෙළ ගහල තියෙන බව දැකල, ඒක කරපු කෙනාට බැන වැදුනා. මේ ජරාව දාපු කෙනා ළඟ බඩකවත් ඉපදෙන්න නරකයි, මොන ජරාවක්ද මේ... ආදී වශයෙන් බැන වැදුනා. ඒ වගේම, මේ නම් බුද්ධ සාසනය විනාස කරන්න ආපු වෙශ්‍යාවක් කියලත් බැන වැදුනා. හැබැයි කවුද ඒ කෙළ ගැහුවෙ කියල දැන ගෙන හිටියෙත් නෑ. පාරෙ තිබ්බ කෙළ පිඩ දැකල තමයි අර විදියට වෛරයෙන්, ක්‍රෝධයෙන් බැන වැදුනෙ. ඉතින් ඒ කාරණය කොච්චර බරපතල වුනාද කිව්වොත්, ඇය ඒ අත්බැවෙන් චුත වෙලා ඊළඟ අත්බැවේ අපාගත වුනා. ඒ වගේම එතනින් පස්සෙ ඇය උපදින අත්බැවක් අත්බැවක් පාසා ගණිකාවක් විදියට තමයි ජීවිතය ගත කරන්න සිද්ධ වුණේ. ඒ වගේම ඇය එතනින් පස්සෙ උප්පත්ති ලබපු කිසිම අත්බවයක මවු කුසක් ලැබුනෙ නෑ, ඕපපාතිකව තමයි ඉපදුනේ. පෙර අත්බැවක බුදුන් වහන්සේ නමකට දන් දීල රූප සම්පත්තියක් බලාපොරොත්තු වුන නිසා ඒකත් ලැබුනා.

දැන් කෙනෙකුට නැවතත් හිතෙන්න පුළුවන්, මේ කෙළ ටිකක් දැකල බැනපු එකට ඔච්චර බරපතල විපාකයක් ලැබුනෙ කොහොමද කියල. ඉතින් ප්‍රධානම හේතුව වුනේ, ඇය වෛරයෙන් ක්‍රෝධයෙන් බැන වැදුනෙ කෙළ පිඩට නෙවෙයි, ඒක කරපු කෙනාට. කවුද කළේ කියල නොදැනුවත් වුනාට, ඇයට කලින් සක්මනේ යෙදුන රහත් මෙහෙණියක් තමයි ඒක කරල තිබුනෙ. එතුමියට තමයි අර විදියට පදුට්ඨ මනසකින් බැන වැදුනෙ. ඒ ජාතියේ ජරාවක් තියෙන කුසකවත් ඉපදෙන්න එපා කියල තමයි මුලින්ම බැන්නෙ. ඉතින් රහත් මෙහෙණියක් කියන්නෙ ලෝකෙටම මවක් වගේ කෙනෙක්. ලෝක සත්ත්වයා සලකන්නෙ තමන්ගෙම දරුවො වගේ, කිසිම වෙනසක් නෑ. ඒ නිසා ලෝකෙට මවු වුන කෙනෙකුගෙ කුසකවත් ඉපදෙන්න එපා කියල පදුට්ඨ මනසකින් කියපු වචන හරිම බරපතලයි. ඒ හේතුවට විපාක වශයෙන් ඇයට උපදින කිසිම තැනක කුසක් ලැබුනෙ නෑ, ඕපපාතිකව තමයි පහළ වෙන්න සිද්ධ වුනේ. ඕපපාතිකව පහළ වුනත් කලින් දන් දීල පතපු පැතුමත් ඉෂ්ට වුණා. ඒ තමයි රූප සම්පත්තියේ බලාපොරොත්තුව.

ඉතින් නිකමට හිතන්න, ඒ තරම් රූප සම්පත්තියක් තියෙන තැනැත්තියක්, කාත් කවුරුවත් නැතිව උප්පත්තිය ලැබුවම ඊළඟට වෙන්නෙ මොකක්ද කියල. ඇය අයිති කරගන්න බල පුළුවන්කාරකම් තියෙන අය පොරකනවා. අසාධාරණයෙන් හරි ලබා ගන්න උත්සාහ කරනවා. ඉතින් ඒකට අනෙකා මරල හරි ගන්න හදනවා. අනෙකත් නිකං ඉන්නෙ නෑ, කොහොමහරි අයිති කරගන්න උපක්‍රම යොදනවා, සටන් කරනවා. මේ මහා ගාලගෝට්ටිය බේරගන්න ඒ කාලෙ තිබ්බ නීතියක් තමයි, එහෙම කෙනෙක්ව ප්‍රසිද්ධ ගණිකාවක් හැටියට පත් කිරීම. එතකොට ඒ ඒ බල පුළුවන්කාරකම් තියෙන අය තමන්ට ලැබෙන වාරය අනුව ඒ කෙනාව මිලක් නියම කරල ලබා ගන්නවා. ඉතින් මේ විපාකය ඇයට ලැබුනෙ, මවු ගුණයක උපරිමයක් වූ, පතිවත උපරිමයක් වූ, බ්‍රහ්මචාරී ගුණය සම්පූර්ණ කළා වූ අරිහත් මෙහෙණින් වහන්සේ නමකට, බුද්ධ සාසනය විනාස කරන්න ආපු වෙශ්‍යාවක් කියල වෛරයෙන් ක්‍රෝධයෙන් බැන වැදීම නිසා. කවුද කියල දැක්කෙත් නෑ, දන්නෙත් නෑ, බැන වැදුනා. ඒත් විපාකය සුළුපටු නෑ. නිවන් දකින අන්තිම අත්බැවෙත් අඹ වනයක ඕපපාතිකව පහළ වුන නිසා අම්බපාලි කියන නම ලැබුනා. පෙර පැතුම නිසා ඉතාම ඉහල රූප සම්පත්තියක් ලැබුනා. කලින් කිව්ව වගේ, බලවත් අය සටන් කරගෙන මහා යුද්ධ ඇතිවෙන එක වලක්වන්න ඕන නිසා ප්‍රසිද්ධ ගණිකාවක් විදියට සම්මත කළා.

දැන් මෙතනින් පැහැදිලි වෙන කාරණයක් තමයි, ආර්ය උතුමන්ගෙ තියෙන මහා ගුණස්කන්ධය දැක්කා හෝ නොදැක්කා හෝ අවමානයක් කළා නම්, ඒ කළේ ඒ මහා ගුණස්කන්ධයට. එතනදි පුද්ගලත්වයක් ගැනෙන්නෙ නෑ. ඒ අප්‍රමාණ ගුණයට තමයි ගැරහීමක් කළා නම් කළේ, අවමානයක් කළා නම් කළේ. ඉතින් ඒකට එන විපාකයත් ඒ වගේමයි. ඒකෙ අනෙක් පැත්තත් ඒ වගේම තමයි. ''අනේ ආර්ය ගුණ කියන්නෙ කොච්චර ශාන්තියක් ගෙන දෙන දෙයක්ද! උන්වහන්සේලා කොච්චර උතුම්ද! මම බඩගින්නෙ හිටියත් උන්වහන්සේලාට, මට කන්න තියෙන එක වේල හරි දන් දෙනවා.'' මෙහෙම සතුටින් ගුණ දැකල ගරු බුහුමන් දක්වනවද, පාවඩ එලනවද, උඩුවියන් වට තිර එලනවද, මුතුකුඩ සේසත් අල්ලනවද, මල් පූජා කරනවද, හඳුන්කූරු පහන් පූජා කරනවද, මෙකී නොකී අංශු මාත්‍රයකින් හරි පැහැදීමක් ඇති වෙලා, තමන් ඉඳගත්ත තැනින් නැගිටිනවද, ඒ කාරණයම ඒ පුද්ගලයට කවදා හරි නිවනින්ම කෙලවර කරගන්න උපනිශ්‍රයක් වෙනවා. අඩුම තරමෙ ඒ ගුණවතුන්ට පුද පූජා ගරු බුහුමන් දක්වන කෙනෙකුට, ඒක කරගන්න ඉඩ දීල විරුද්ධ නොවී හිටියත් ඒකම ඇති සෙතක් වෙන්න. උපමාවක් කියනව නම්, කවදාවත් ඉවර වෙන්නෙ නැති මහා අස්වැන්නක් තියෙන කරල්වලින් බර වෙච්ච කුඹුරක් වගේ. කොච්චර කැපුවත් ඉවර නොවී ඕන තරම් අස්වැන්න තියෙන කෙතක් වගේ. ආර්යන් වහන්සේලා කියන්නෙ පින් උනන මහ කෙතක්. ඒ නිසා තමයි උන්වහන්සේලාට, බුද්ධ සාසනයේ අනුත්තර පින් කෙත් කියල උපමාවකින් කියන්නෙ.

දැන් මේ කාරණය ඔප්පු කරන්න පුළුවන් දහම් කතාවක් හෙළ වංස කතාවල සඳහන් වෙනවා. එක්තරා වෘක්ෂ දේවතාවෙකුට භෞතික වශයෙන් හිතූ පැතූ යම් යම් ආහාර මවල දෙන්න පුළුවන් හැකියාවක් (පුණ්‍ය සෘද්ධියක්) ලැබුණා. ඒ හැකියාව ලැබෙන්න හේතුව වශයෙන් පෙන්වන්නෙ, ඊට පෙර මේ දේවතාවා මනුස්සයෙක් වෙලා හිටපු අත්බැවක, යම් කිසි ආරණ්‍යයක වැඩ වාසය කරපු භික්ෂූන් වහන්සේලාට දානයක් දෙන්න ගිය පිරිසකට පාර පෙන්වීම. ඒ කියන්නෙ මේ මනුස්සයා පුංචි පැළක් හදාගෙන කැලේක ඉන්න කොට, අර භික්ෂූන් වහන්සේලාට දානයක් දෙන්න සොයා ගෙන ආපු පිරිසක් ඇවිත් පාර අහන කොට, ඔන්න ඔය අඩි පාරෙන් යන්න කියල පාර පෙන්නුවා. එච්චරයි ඒ මනුස්සයා කළේ. එහෙම නැතිව ඒ දානයට සම්බන්ධ වෙලාවත් නෙවෙයි. නමුත් ඒ මනුස්ස අත්බැවෙන් චුත වෙලා ගියාට පස්සෙ දෙවි කෙනෙක් වෙලා, අර මග පෙන්වීමේ පින මතුවෙලා ආවා. හිතූ පැතූ ආහාර ලැබුණා. ඒ තමන්ගෙ ලැබීමෙන්, හැකියාවෙන් ප්‍රයෝජන ගත්තු මේ දේවතාවා, ලංකාවෙ ඇති වෙච්ච බැමිණිටියා මහා සාගත කාලෙදි එක්තරා භික්ෂූන් වහන්සේ නමකට දොළොස් අවුරුද්දක් තිස්සෙ ඒ විදියට තමන්ගෙ ශක්තියෙන් දානෙ දුන්න කියල සඳහන් වෙනවා. ඒ වගේ තමන් නොකළත්, අනෙක් අයට යම් යහපතක් කර ගන්න වචනයකින් හරි මග පෙන්වනව නම්, ඉඩ දෙනව නම් ඒකෙත් පිනක් තියෙනව කියන කාරණය මේ වගේ කතාවලින් ඔප්පු වෙනවා.

ඉතින් ගුණ වඩපු ආර්ය උතුමන්ට නොදැන හෝ තමන් අතින් වරදක් වුනා නම්, ඒ මොහොතෙම කමා කරගන්න එක තමයි වටින්නෙ. ඒ උතුමන් මේ වෙන කොටත් පිරිනිවන් පාල නම්, ඒ උතුමන් ගමන් කරපු මාර්ගයේ ගමන් කරල ප්‍රතිපත්ති පූජාවකින් කමා කර ගැනීම තමයි කළ යුත්තෙ. දැන් ඉතින් අම්බපාලිත් ඒ ප්‍රතිපත්ති අනුගමනය කරමින් ගෞතම බුද්ධ සාසනයෙදි සියලු කෙලෙසුන් නසල අරිහත්වයට පත්වෙලා, අර අරිහත් මෙහෙණින් වහන්සේට කරපු අපවාදය කමා කරගත්තා.

*වතුරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග අපදාන පාලිය 2-2 අම්බපාලි ථේරිපදානය ඇසුරින් සකස් කළේ:*

**රිෆ්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# ධම්ම පදය තුලින් නිවන් මග

**3 වන කොටස**

නිවන් කරා යන බෞද්ධයා අප්‍රමාදී විය යුත්තේ කෙසේද කියන කාරණයත්, ප්‍රමාද වූ පුද්ගලයන් වැටෙන තැන විඳිනා දුක් ගැනත් විග්‍රහ කෙරෙන අප්‍රමාද වර්ගයේ එන මුල් ගාථා තුන ගැන තමයි මේ ලිපියෙන් කියන්න යන්නෙ. මේ ගාථා තුන බුදුන් වහන්සේ විසින් දේශනා කරන්න මූලික වෙච්ච කථාවක් තියෙනවා. ඒකට නිදාන කථාව කියලත් කියනවා. ගෞතම බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයේ කොසඹෑ නුවර උදේනි කියල රජ කෙනෙක් හිටියා. මේ රජතුමාට මාගන්දිය, සාමාවතිය සහ වාසුලදත්තා කියන නම්වලින් හඳුන්වපු අග බිසෝවරු තුන් දෙනෙක් හිටියා.

ඉතින් මේ තුන් දෙනාගෙන් මාගන්දිය කියන බිසවගෙ දෙමවුපියන් බුදුන් වහන්සේගෙ රූපයට වශී වෙලා, තමන්ගෙ දුව (මාගන්දිය) බුදුන් වහන්සේට සරණ පාවා ගන්න කියල ඉල්ලා හිටියා. නමුත් බුදුන් වහන්සේ කියන්නෙ වීතරාගී, වීතදෝසී, වීතමෝහී ගුණයෙන් යුත් බ්‍රහ්ම චරියාව පූර්ණ කරපු තුන් ලෝකාග්‍ර වූ උත්තමයා. නැවතත් ලෝකයට බැඳෙන්න අංශු මාත්‍රයක හෝ කැමැත්තක්, අවශ්‍යතාවයක් උන් වහන්සේට කොහෙත්ම නෑ. ඉතින් මේ ඉල්ලීම කරන කොට බුදුන් වහන්සේ මාගන්දියගෙ රූපයට නිග්‍රහ කළා. මෙතනදි නිග්‍රහ කළා කියල අදහස් කරන්නෙ බැන වැදුන කියන එක නෙවෙයි. රූපයේ ආදීනව, දිරාපත් වීම, රූපය නිසා ශෝකයට පත්වීම... ආදී කරුණු පෙන්වා දුන්නා කියන අදහස තමයි ගන්න ඕන. පසුගිය හෙළ බොදු පියුම 30 කලාපයේ ''නිවන් මාර්ගයේ මුල පටන් ගැන්ම අපදාන පාළිය තුලින්'' කියන ලිපියෙන් කියවුනු ඛේමාපදානය තුලින් මේ ගැන වැඩි විස්තර ඉදිරිපත් කරල තියෙනවා.

ඉතින් මේ කාරණය වැරදියට තේරුම් ගත්ත මාගන්දියා, බුදුන් වහන්සේගෙන් පලිගන්න හිතා ගත්තා. ඒ අතරතුර ඇය උදේන රජතුමාගෙ අග බිසවක් බවට පත් වුණා. රජතුමාගෙ තවත් බිසවක් වුන සාමාවතී බිසව බුදුන් සරණ ගිය උපාසිකාවක්. ඇය නිතර බුදුන් වහන්සේ ඇතුලු මහා සංඝයාට දාන මාන දීල ගරු සත්කාර කරගෙන හිටියෙ. මාගන්දිය බිසව, සාමාවතී බිසව බුදුන් වහන්සේට ඒ විදියට උපස්ථාන කිරීම ගැන ක්‍රෝධයෙන් හිටියෙ. ඒ නිසා උපක්‍රමයක් යොදල සාමාවතිය ඇතුලු පන්සීයක් ස්ත්‍රීන් මාලිගාව තුලදිම ගින්නෙන් පුච්චල මරල දැම්මා. මේක සැලවුන රජතුමා, මාගන්දිය බිසව ඇතුලු ඇගේ නෑදැයින්ව දරුණු වද හිංසනයට ලක් කරල මරල දැම්මා. ඉතින් මේ කාරණාව තමයි මේ ගාථා තුන දේශනා කරන්න මුල් වුනේ.

අප්පමාදො අමත පදං
- පමාදො මච්චුනො පදං
අප්පමත්තා න මීයන්ති
- යේ පමත්තා යථා මතා

අප්‍රමාදය අමෘත පදය වූ නිවනට කරුණුය. ප්‍රමාදය මරණයට කරුණුය. අප්‍රමාද වූවෝ නොමියෙති. යම් කෙනෙක් ප්‍රමාදද ඔවුන් මළවුන් වැනිය.



ඒතං විසේසතෝ ඤත්වා
- අප්පමාදම්හි පණ්ඩිතා
අප්පමාදේ පමෝදන්තී
- අරියානං ගෝචරේ රතා

මේ කාරණය විශේෂයෙන් දැන අප්‍රමාදයේ පිහිටියා වූ පණ්ඩිතයෝ අප්‍රමාදය පිළිබඳව සතුටු වෙත්. ආර්යයන්ගේ ගෝචරයේ (විෂයෙහි) ඇළුණාහු වෙත්.

තේ ඣායිනෝ සාතතිකා
- නිච්චං දළ්හපරක්කමා
ඵුසන්ති ධීරා නිබ්බානං
- යෝගක්ඛේමං අනුත්තරං

ධ්‍යායී වූ (ධ්‍යාන කරන) සතතයෙන් (නිරන්තරයෙන්) පැවති වීර්ය ඇති, නිතර දැඩි වීර්යයෙන් යුත් ප්‍රාඥයෝ කාමාදී යෝගයන්ගෙන් නිර්භය වූ අනුත්තර වූ නිර්වාණය ස්පර්ශ කෙරෙත්.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, මොකක්ද මේ අප්‍රමාදය කියන්නෙ කියල. ලෝක සම්මතයේ අපි කතා කරන අප්‍රමාදයද මේ කියන්නෙ, එහෙම නැත්නම් ඉක්මන් වීම කියන්නෙ මේකටමද කියල ගැටළුවක් එන්න පුළුවන්. ඔය ඉක්මන ගැන කියන කොට මතකයට එන වචන පෙළක් තමයි ''ඉක්මන් කොටයි'' කියන්නෙ. මේකෙන් අද ගන්න අදහස තමයි ''හදිස්සි වෙන්න එපා, ඒක අනතුරකට හේතු වෙන්න පුළුවන්'' කියල. හැබැයි එහෙම හිතල ගත්තොත්, බුදුන් වහන්සේ දේශනා කරපු අදහස ගන්න වෙන්නෙ නෑ, එහෙම පැහැදිලි කිරීමක් ගන්නත් බෑ. ඉතින් බුදුන් වහන්සේ පෙන්වා දීපු ඉක්මන, එහෙම නැත්නම් අප්‍රමාදය මොකක්ද? උන් වහන්සේම දීපු උපමාවක් අරගෙන බැලුවොත්, යම් කිසි මනුස්සයෙක්ගෙ ඔළුව උඩට, ඉක්මනින් ගිනි ගන්න ද්‍රව්‍යයක් වැටිල හදිස්සියේ ගිනි ගන්නවා. දැන් මේ මනුස්සය මොනව කරයිද? අනේ මට දවල්ට කන්න තියෙනවා, මේ වැඩේ තියෙනවා, අර වැඩේ තියෙනවා, ඒවා ඉවර වෙනකල් ඉන්න ඕන කියල ඉඳියිද? එහෙම නැත්නම් අර වැඩ සේරම පැත්තක තියල තැන නොතැන නොබලා, අප්පොච්චියේ මගේ ඔළුව ගිනි ගන්නව ඉක්මනට නිවාගන්න ඕන කියල, ඒකට කෑ මොර දිදී ඒක නිවා ගන්න උත්සාහ කරයිද? ඒ කාරණයට ඉක්මන් වුන තරමටම අර පිච්චීම නිසා ඇතිවෙන තුවාලයත් අඩු වෙනවා, වේදනාවත් අඩු වෙනවා, දැවිල්ලත් අඩු වෙනවා. ඒ ගින්න නිවුනම ඇති වෙන සැනසීමත් ලැබෙයි. දැන් මේ කාරණය ලෝවැඩ සඟරාවෙ එන කවියකින් මේ විදියට විග්‍රහ වෙනවා.

**ඉස ගිනි ගත්තෙකු එ ගිනි නිවන ලෙස**
**කුසලට මඳකුත් පමා නුවොත් මිස**
**මෙ සසර අත් හැර නොයන මෙ දුක් රැස**
**වෙසසින් නැත අත් හරිනා උපදෙස**

හිස ගිනි ගත්ත කෙනෙක් නොපමාවම ඒ ගින්න නිවා ගන්නවා වගෙයි, කුසලට මොහොතක්වත් පමා නොවුණොත් මිසක් මේ සංසාරය අත් හැර නොයන, මේ දුක් සමූහය නැති කරන වෙනත් උපදේසයක් ඒකාන්තයෙන්ම නෑ කියන එකයි මේ කවියෙන් කියන්නෙ.

ඉතින් ලෝක සත්ත්වයාත් මේ ජාතියේ ගිනි තුනකින් පත්තු වෙවී ඉන්නෙ. එකක් රාග ගින්න. ''අනේ මට මේ දේ ලබා ගන්න තිබුන නම්, මට ඉතින් කොහෙද ඒක ලබා ගන්න වාසනාවක්!'' නැති කෙනා තියෙන කෙනා දිහා බල බලා මේ විදියට පිච්චෙනවා, දැවෙනවා, තැවෙනවා. ඇයි මට නොලැබෙන්න හේතුව කියල නිකමටවත් හිතන්නෙ නෑ. හිතන්නෙම, මට නැතෙ අනෙකට තියෙනවනෙ කියන අදහස. ඉතින් ඒ දේ නොලැබුනාම ඊළඟට නොරිස්සුම් ගතියක්, ඉවසිලි නැති ගතියක් හට ගන්නවා. මේ ගතිය නිතර තියෙන කෙනෙක් තව කෙනෙක් ඇගේ හැපුනත් බනිනවා, කෑ ගහනවා. ඒ අර තමන් ඇලුන දෙයක් ලැබෙන්නෙ නැති වුනාම, ලබා ගන්න බැරි වුනාම ඊළඟට මනසට එන ස්වභාවය. එහෙම නැත්නම් පළමුව රාගය නිසා ඇතිවුන ඇලීමට විරුද්ධ දෙයක් ඇවිත්, දෙවැනියට මනස ඇසුරට එන ස්වභාවය. මේ ස්වභාවයට කියනව ද්වේශය කියල. ඒකත් ගින්නක් වගේ දැවී දැවී මනස දාහයට පත් කරනවා. අර තියෙන කෙනා දැක්කමත් තරහ යනවා, පිච්චෙනවා. ''ඌ ඕක හොරකම් කරන්න ඇති, නැත්නම් ඌට කොහොමද ඕක ගන්න ඔච්චර සල්ලියක්.'' මෙහෙම අභූත චෝදනා කරනවා. සමහර වෙලාවට ඒක කඩල බිඳල දාන්න පවා සිතිවිලි එනවා. නොතේරුම් කමක් තියෙන දරුවෙක් යම් කිසි දෙයක වටිනාකම නොදැන ඒක කඩල බිඳල දානව වගේ, මනස නොතේරුම් කමින් තීරණ ගන්නවා. කරන වැඩ නිච්චි නෑ. සමහර විට පිට කෙනක් අහන්නත් පුළුවන්, මොකක්ද බං උඹ ඒ කරපු මෝඩ වැඩේ කියල. ඒ ජාතියේ වැඩ කරනවා. නැවතත් මිනිස්සුන්ගෙන් බැනුම් අහනවා. ඒ නිසාත් පිච්චෙනවා, දැවෙනවා, තැවෙනවා. මේකට කියනව මෝහය කියල.

මේ නොතේරුම්කම නිසා ඊළඟට ඇලෙන, ගැටෙන දේට ඉබේම යනවා. නැවත නැවතත් දැවෙනවා, තැවෙනවා, පිච්චෙනවා. මේ තුනම ගිනි තුනකට උපමා කළේ ඒ නිසා. රාගය ගින්නක්, ද්වේශය ගින්නක්, මෝහය ගින්නක් කියල මේ උපමාවෙන් පෙන්නුවෙ. මේ නිසා කෙනෙක් තීරණයක් ගන්න කොට ඒක සිහි බුද්ධියෙන් තමයි ගන්න ඕන. සාමාන්‍ය ව්‍යවහාර භාෂාවෙන් කියනව නම්, ඔළුව පාවිච්චි කරල වැඩ කරන්න ඕන. නමුත් රාග ගින්නෙන්, ද්වේශ ගින්නෙන්, මෝහ ගින්නෙන් පිච්චි පිච්චි ඉන්න කෙනෙක් ගන්න තීරණ සිහි බුද්ධියෙන් නෙවෙයි ගන්නෙ. ඒ කිව්ව ඔළුව, අර කිව්ව ගිනි තුනෙන් දැවී දැවී තියෙන්නෙ. ඉතින් ඒක පුළුවන් තරම් ඉක්මනට නිවා ගන්න ඕන. එතකොට තමයි නිවීමක් ඇවිත් සිහි බුද්ධියෙන් තීරණයක් ගන්න පුළුවන් වෙන්නෙ. මෙන්න මේ ඉක්මනට තමයි ආර්ය විනයේ අප්‍රමාදී වීම කියන්නෙ. මේ ඉක්මන් වීම නිසා, කොට වෙන (කෙටි වෙන) දෙයක් තියෙනවා. ඒ තමයි සසර ගමන. ඒ පැත්තෙන් බැලුවම ''ඉක්මන් කොටයි'' කියන වචනය හොඳට කිව්ව වෙන්නත් පුළුවන්. දැන් අර්ථ විපරීත වෙලා තමයි ''හදිස්සි වෙලා වලේ වැටෙන්න එපා'' කියන අදහසක් ඇවිත් තියෙන්නෙ.

ඉතින් අර ඔළුව ගිනි ගත්ත කෙනාගෙ උපමාව අරන් බැලුවොත්, ඒ ගින්න නිව්වෙ නැත්නම් මොකද වෙන්නෙ? ඒ මනුස්සය ඔළුව පිච්චිලා මැරිල යනවා. එතකොට ඒ උපමාවෙන් බැලුවම රාග ගින්නෙන්, ද්වේශ ගින්නෙන්, මෝහ ගින්නෙන් ඔළුව පත්තු වෙවී ඉන්න කෙනෙක්, ඒ ගින්න ඉක්මනින් අප්‍රමාදී වෙලා නිවා ගත්තෙ නැත්නම් මළා හා



සමානයි. ඒ නිසා තමයි ප්‍රමාදී කෙනා මැරුණු කෙනෙක් වගේ කියල කිව්වෙ. **මැරිච්ච කෙනෙක්ගෙ හිසට ගිනි තිබ්බට දැනෙන්නෙ නෑ. ඒ වගේ රාග ගිනි, ද්වේශ ගිනි, මෝහ ගිනි ආවට අවිද්‍යාවෙන් වැහිච්ච ප්‍රමාදී පුද්ගලයට ඒවා ගිනි කියල දැනෙන්නෙ නෑ. ඒ නිසා ඒ පුද්ගලය මළ මිනියකට උපමා කරන්න පුළුවන්.** ඉතින් ඒ ඒ පුද්ගලය ඇලුන දේ නිසා අවසානයේ එන ගින්න නුවණින් දැක්ක නම්, ඊළඟට කරන්නෙ සිහි බුද්ධියෙන් තීරණයක් ගන්න එක, ඒ ගින්න වහ වහා නිවා ගන්න උත්සාහ කරන එක. මේ උත්සාහයටත් කියනව අප්‍රමාදී වීම කියල.

මේ උත්සාහය නිසා යම් ගිනි අංශු මාත්‍රයක් හෝ නිවුනද, අන්න ඒ අංශු මාත්‍රය නිසා, අර ඇති වුන දැවුන තැවුන දේ නැතුව යනවා. ඒ දාහය, පීඩනය නැතුව යනවා. මේ දාහය, පීඩනය නෑ කියන්නෙ හිතට ලොකු සැනසීමක්, සතුටක්. ඒ සැනසීම, සතුට ලැබුණෙ අප්‍රමාදී කෙනා නුවණින් ගත්ත තීරණය නිසා. මේ ගින්න නිවන්න කරපු උත්සාහය නිසා යම් කිසි ගිනි ප්‍රමාණයක් නිවුනද ඒකෙන් සැනසීමක්, සතුටක් ලැබෙනවා. ඉතින් ඒ උත්සාහය කොච්චර වටින එකක්ද, එහෙම නැත්නම් ඒ අප්‍රමාදී වීම කොච්චර සතුටක් ගෙන දෙන එකක්ද කියල සතුටු වෙනවා. මේ සතුට නිකං ලැබෙන්නෙ නෑ. ඒ උත්සාහය කරන විදිහ, එහෙම නැත්නම් අප්‍රමාදී වෙන විදිහ නිකං ලබන්න බෑ. ඒ සතුට, සොම්නස ලබපු කෙනෙක්ම ඕන ඒක පෙන්වල දෙන්න.

දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, එහෙම කෙනෙක් ඉන්නම ඕනද, අපිට ඕක තනියෙන් කරගන්න බැරිද කියල. නිකමට හිතන්න, ගින්නකින් දැවී දැවී ඉන්න කෙනෙක්, පිච්චෙන කෙනෙක් සිහි බුද්ධියෙන් හැසිරෙනවද කියල. අනේ මට වෙච්ච විපතක් කියල නිච්චි නැතුව එහෙ මෙහෙ දුවනව මිසක්, වෙන දෙයක් පැහැදිලිව තේරුම් ගන්න හැකියාව ඒ පුද්ගලයට තියෙයිද? ඒ වගේ තමයි රාග ගින්නෙන්, ද්වේශ ගින්නෙන්, මෝහ ගින්නෙන් දැවී දැවී ඉන්න කෙනෙකුගෙ මනස. ඒ පිච්චීම, දාහය නොතේරෙන තරමට මනස අවිද්‍යාවෙන් වැහිල. ගින්නෙ රස්නය තාවකාලික සතුටකින් විඳගෙන ඉන්නව වගේ, හරියට සීතලට ඉන්න කෙනෙක් ගිනි තපිනව වගේ තැප තැප ඉන්නවා. ඒ ගින්න වැඩි වෙලා ඒ පුද්ගලය පිච්චිලා අළුවෙලා යනකල් දන්නෙම නෑ. ඒකයි තනියෙන් තෝර ගන්න බෑ කිව්වෙ. ගින්න නිවපු කෙනෙක්ම ඉන්න ඕන අනෙක් අයගෙ ගිනි නිවන හැටි කියල දෙන්න, උදව් කරන්න, ඒ නිවුනම ඇතිවෙන සැනසීම පෙන්වල දෙන්න. එහෙම පෙන්වල දුන්න කෙනාට කියනවා කල්‍යාණ මිත්‍රයා එහෙම නැත්නම් ආර්යන් වහන්සේ කියල. තමන්ට සැනසීමක්, සතුටක් ලබා ගන්න හැටි කියල දීපු උතුමෙක් කෙරෙහි තව තවත් පැහැදෙනවා, ළං වෙනවා, ඒ ඇසුර විඳගන්න තව තවත් මුණ ගැහෙන්න යනව මිසක්, එතනින් කෙනෙක් ඈත් වෙයිද? මේ කාරණය තමයි උන්වහන්සේ දෙවැනි ගාථාවෙන් ලෝකයට කියල දුන්නෙ.

ඉතින් මෙහෙම ආර්ය ඇසුරට පත්වුන කෙනාට ඊළඟට මොකද වෙන්නෙ? උන්වහන්සේලා ගින්නේ ස්වභාවය පහදල දෙනවා. ඉන් නැගෙන දාහය, පීඩාව පෙන්වල දෙනවා. එහෙම දැක්ක නුවණැත්තෙක් ගන්න තීරණය මොකක්ද? අර දාහයට, පීඩාවට තව තව ඇලෙයිද? එහෙම නැත්නම් ඒ පීඩාව දැකල බය වෙයිද? හරියටම දැක්ක

නම් කෙලින්ම බය වෙනව මිසක් වෙන මොනව වෙන්නද? ඉතින් ගෙයක් ඇතුලෙ තනියෙන් ඉන්න පොඩි ළමයෙක් බය කළාම ඒ ළමය ගේ ඇතුලෙ දුවනවා, හැංගෙන්න බලනවා. හැංගෙන්න තැනක්, එහෙම නැත්නම් එලියට යන්න දොරක් නොතිබුනා නම්, ඒ ළමය ගේ ඇතුලෙ සතුටින් ඉඳියිද? හිටියත් ඉන්නෙ බයෙන්. ගේ ඇතුලෙ ඉන්නත් බයයි, යන්න තැනක් පේන්නෙත් නෑ. ඉතින් මේ වගේ තමයි මුලින්ම මේ ගින්න අවබෝධ කරගත්ත කෙනා. ලෝකෙ ඉන්නත් බයයි, යන්න තැනක් තේරෙන්නෙත් නෑ. නැවතත් අර ජාතියේ වැඩවලට යන්න පෙළඹීමත් අඩු වෙනවා. තවත් පිච්චෙන්න, දාහයට පත්වෙන්න වෙයි කියන බය හට ගන්නවා. මතු ඒ ජාතියේ වැඩ කිරීම අඩු වෙනවා. යම් කිසි තීරණයකට එනව මිසක්, අනේ මට නම් ඕවා හොඳයි කියල ගන්නෙ නෑ.

නමුත් ගන්නෙ නෑ කිව්වට නතර කරගන්න විදිහක් තෝරගන්න බෑ. අර ගේ ඇතුලෙ ඉන්න ළමය වගේ යන්න තැනක් දන්නෙත් නෑ, ගේ ඇතුලෙ ඉන්නත් බයයි. යන්න තැනක් හොයන්න තව තව දැඩිව වීර්ය කරනවා. මේ අවස්ථාවට කියනව, අනුලෝම ශාන්තියට පත්වුනා කියල. ඒ කියන්නෙ මතුවට සතර අපාගත වන ජාතියේ වැඩ කටයුතුවලින් මිදෙන්න බලාපොරොත්තුවක් එනවා. නමුත් කරන වැඩ නතර කර ගන්න හැටි දන්නෙත් නෑ. අර පොඩි එකාගෙ බය වගේ. ගේ ඇතුලෙ ඉන්නත් බයයි, ගෙයින් එලියට යන්න දොරක් හොයා ගන්න දන්නෙත් නෑ. ඉතින් මේ ළමයට කවුරු හරි කෙනෙක්, පුතේ අර තියෙන්නෙ දොර, ඒ පැත්තට දුවල දොර ඇරගෙන යන්න කිව්වොත්, දැන් ඒ ළමයට ලොකු සැනසීමක් ඒ වෙලාවෙම එනවා, දොර දැක්කම දුවන්න තැනක් දන්නවා. දොර ඇරගෙන ගිය ගමන් මේ කරදරේ, බය ඉවරයි කියල සතුටකුත් එක්ක දුවන්න පටන් ගන්නවා. දුන් දුවන්නෙ අර දැකපු දොර පැත්තට.

ඒ වගේ තමයි ලෝකයේ රාග, ද්වේශ, මෝහ කියන ගිනි දැකල, ලෝකයට බය වුන කෙනාට ඒ ගිනි නිවන මාර්ගය පෙන්නුව ගමන් ඒ පැත්තට ගමන් කරනවා. ඒ වෙලාවෙ ලැබෙන සැනසීම, ශාන්තිය අනුව සියලු ගිනි නිවුනම එන සැනසීම ගැන හිත හිතා ඒ පැත්තට ගමන් කරනවා. මේ ශාන්තියට තමයි නිවන කියන්නෙ. මාර්ගය දැක්ක ගමන් ඒ සැනසීමේ එක්තරා කොටසක් ලැබෙනවා. එතකොට ඒ දැක්ක සැනසුමට, ශාන්තියට අනුලෝම වෙනවා. ඊළඟට ඒ පූර්ණ සැනසීම ලබා ගන්න ඒ පැත්තට ගමන් කරන්න පටන් ගන්නවා. එහෙම නැත්නම් ඒ පැත්තට නැඹුරු වෙනවා. මේකට කියනවා සමයත්ත නියාමයට (සම්මත නියමයට) පත්වුනා කියල. ඒ කියන්නෙ නියමාකාරයෙන්ම සම්මත වුනා, එහෙම නැත්නම් සම්මත ලෙසට අත්දැක්කා. මේ වගේ කෙනෙකුට සුදුසු මොහොතක් ආවම නිදහස් වෙලා ඵලය ලැබෙනවා. ඒ කියන්නෙ මුලින්ම නිවන ප්‍රත්‍යක්ෂව අත්දකිනවා. තුන් වෙනි ගාථාවෙන් උන්වහන්සේ පෙන්නුවෙ මේ සැනසීම, බය නැතිව ගමන් කරන්න පුළුවන් පැත්ත. ඉතින් මාගන්දියගෙ, සාමාවතියගෙ පුවතින් බුදුන් වහන්සේ අප්‍රමාදී වීමේ වටිනාකමත්, ආර්ය ඇසුර නිසා ඒ අප්‍රමාදී වීම ලැබෙන ආකාරයත්, ඒ උපකාරයෙන් අමෘත පදය වූ නිවන ළඟා කර ගන්න ආකාරයත් මහා කරුණාවෙන් ලෝකෙට පෙන්වා දුන්නා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්මපද පාලිය - අප්පමාද වග්ගය ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**

# දහම් සිසිල මුළු ලොව පැතිරේවා

**සොමි සඳ නැගී එන පසළොස්වක දාක**
**සවු කෙලෙසුන් නසා හිමි බුදු වූ සේක**
**තුන් ලෝ තලය බබලන අලුයම් රෑක**
**හිමි බුදු වෙලා මහ පෙළහර පෑ සේක**

**සුන් කර දමා අවිදුවෙ භව බැම් නේක**
**සංකර ලොවට තිලකුණු ගැන දෙසු සේක**
**දෙව් බඹ ගගන අවුරා රැස් වූ දාක**
**දම් බෙර වයා තිලකුණු හෙළි කළ සේක**

**සදහම් ගඟ ගලා මුළු ලොව නැහැ වේවා**
**සවු සත සිවු දිගින් නිවනට පැමිණේවා**
**සිවු කොණ දම් මඟුල් බෙර හඬ පැතිරේවා**
**තුන් සිත පහදවා සත නිවනට යාවා**

**දම්සක් නාද ලෝ දසතින් පැතිරේවා**
**තුන් ලෝ දිලෙන මහ එළි කඳ විහිදේවා**
**අරිහත් ධජය සැම තැනකම ලෙළදේවා**
**සිත නිවි නිවී සැම සත නිවනට යාවා**

පබැඳුම: **ලක්ෂ්මන් චිත්‍රවඩුගේ - මරඳගහමුල**

# නිවනට වදන්

**සංඝයා අතර ජාති, කුළ මල, ආගම්, දේශපාලන භේද හා සම්බන්ධයක් නැත. උන්වහන්සේලා අතර පොදු සමගිය අග්‍රයි. බොදුනුවන් අතර විරසක බවක් නැත. මේ ආර්ය විනයේ උත්තරීතර භාවයයි.**

**- වහරක අභයරතනාලංකාර හිමි -**

# යහපත් දිවියකට....

2 වන කොටස

මොහොතක් පාසා නොකඩවා තමන්ගෙ ශරීරය ගෙවි ගෙවී වැනසෙන බව, සසර සැරි සරන සත්ත්වයා දැනගෙන හිටියත්, පස්කම් සැප විඳීම වටිනවා, සුවයි මිහිරියි කියන දෘෂ්ටිය නිසා, හිත යොමු කරන්නෙ ගෙවි ගෙවී වැනසී යාමේ අසාර බව දකින්න නෙවෙයි, වැනසීම වහගන්න ක්‍රමෝපායන් සොයන්න. ඒ නිසා සුදු වෙන කොණ්ඩය පාට කරනවා, හම රැළි වැටෙනවට විවිධ ආලේපන හොය හොයා ගානවා, ගඳ යන්න සුවඳ ජාති ගානවා. මේ මොනව කළත් වැහැරෙන කය වැහැරෙනවා. එදාට, අනේ අපොයි මට මෙහෙම වුනානෙ කියල ලතැවෙනවා. ඒ අතර තුර නොයෙක් ලෙඩ රෝග හැදෙනවා. ඇවිද ගන්න බැරුව යනවා. පුළුවන් කාලෙ විනෝදයෙන් ගත කරත්දි කරපු දේවල්, දැන් කර ගන්න බැරුව දුක් වෙනවා.

පස්කම් සැප විඳින්න හදාගත්තු කය වැහැරෙනව වගේම, ඒ සැප විඳින්න ''මගෙ'' කියල රැස් කර ගත්තු හැම දේමත් ගෙවි ගෙවී වැනසිලා යනවා. ලෙඩ දුක්, නඩු හබ, අඹු දරුවන්ගෙ ප්‍රශ්න, රැකියාවේ කරදර... මේ සියල්ල සැප විඳින්න රැස් කර ගත්ත ජාති ධර්මවලට උරුම දේවල් වුනත්, ඒ බව නොදන්න නිසා හොඳ උරුමයක්ම හොයනවා. ලබන්න බැරි දෙයක් ලබා ගන්න උත්සාහ කරන කොට එන බාධක කොහොම හරි අයින් කර ගන්න කියල පස් පවු, දස අකුසල් කරන්න පෙළඹෙනවා. පෙර සසරෙදි තම තමන් හිතින්, කයින්, වචනයෙන් ගොඩගහ ගත්තු සංඛාරවල විපාක තමයි මේ දුක් කරදර විපත් හැටියට ඇවිත් තියෙන්නෙ කියල දකින්නෙ නෑ. හොඳ දේවල්ම හොය හොයා යනවා. දුකම උපාදාන කර ගන්නවා. මෙතනදි දුක කියන්නෙ කාමයට කියන තවත් නමක්. මොකද කාමය නිසා අන්තිමට හටගන්නෙ දුකක්. යම් කිසි දෙයක් නිසා දුක හටගන්නව නම් ඒ දේ ප්‍රධාන කළාම ඒක මුල් කරගෙන එන කාමයත් දුකක්. මේ තමයි දුක්ඛ සත්‍යය නොදැනීම, ලෝකය කැමති සේ නැති බව නොදැනීම.

''අනේ මට මෙහෙම වුනානෙ! මම මේ ආත්මෙ නම් කාටවත් දැන දැන වැරදි කරල නෑ. උදව්වක් උපකාරයක් කළා මිසක් තරහ වෛර ඇති කර ගෙන නෑ. දැන් මට උදව්වකට කෙනෙක් නැති වුනානෙ!'' මෙහෙම කිය කියා දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන මේවායින් තැවි තැවී දුක් වෙනවා. දුකක් සැපයි කියල හිතාගෙන උපාදාන කර ගන්නවා. මෙහෙම දුක් වෙන්නෙ, දුකට හේතුව නොදැනීම නිසා, දුක්ඛ සමුදය ආර්ය සත්‍යය නොදන්න නිසා.

අනේ මෙහෙම වුනානෙ කිය කියා දුක්වෙන්නෙ මුලාව නිසා. දහම් මගක් තියෙනවද කියල හොයල බලන්නෙවත් නෑ. මේ ලෝකෙට පහළ වුන ශ්‍රේෂ්ඨ විද්‍යාඥයා වන බුදු පියාණන් වහන්සේ,



තමන් අවබෝධ කර ගත් ඒ ගැඹුරු දහම දේශනා කළේ දුෂ්ප්‍රාඥයින්ට (ප්‍රඥාවෙන් දුර්වල) නෙවෙයි, ප්‍රඥාවන්තයින් මුල් කර ගෙන උත්සාහවන්ත වීර්යවන්තයින්ට. දහම් මගට යොමු වෙලා, ඇත්තටම මේ දහමෙ දුකෙන් මිදෙන මගක් තියෙනවද කියල හොයල බලන්නෙ නෑ. ඒ නිසා දුකෙන් මිදෙන මගක් තියෙනව කියල දන්නෙ නෑ. මේ තමයි දුක්ඛ නිරෝධ සත්‍යය නොදන්නකම.

දුක් කරදර එනකොට හිතවත් කවුරු හරි කෙනෙක් කියනවා, ඉතින් පන්සලකට ගිහින් බෝධි පූජාවක් තියන්න කියල. ඒ කියමන අහල බෝධි පූජා තියනවා. අහවල් දේවාලෙට ගිහින් පඬුරක් ගැට ගහල භාර වෙලා පූජාවක් තියන්න කිව්වම ඒකත් කරනවා. අහවල් දේවාලයේ හරියට හාස්කම් තියෙනවා, පූජාවට සහභාගි වෙන්න කිව්වම ඒකත් කරනවා. මේ වගේ උපදෙස් එකක්වත් නරකයි කියන්න බෑ. ඒවායිනුත් යහපතක් වෙන්න පුළුවන්. පන්සල්, පල්ලි දේවාල, කෝවිල් කියන්නෙ සැදැහැවතුන්ගෙ පූජනීය ස්ථාන. නමුත් ඒවායින් සහන මිසක් දුකෙන් මිදීමක් නෑ. එක කරදරයක් ඉවත් වෙන කොට තව එකක් එනවා. මේ තමයි හොඳයි කියන හැම දේම කරන ලෞකික සම්මා දිට්ඨිය. නමුත් දුකෙන් මිදෙන්න නම් උතුම් ආර්ය සම්මා දිට්ඨියට එන්න ඕන. ආර්ය සම්මා දිට්ඨිය නොදන්නකම කියන්නෙ චතුරාර්ය සත්‍යය නොදැනීම. මෙන්න මේ සිවු අරිසස් (චතුරාර්ය සත්‍යය) නොදැනීම නිසා ලෝක සත්වයා, දුක මත පිහිටි ලෝකය බදාගෙන, දුක් සහිත සසර ගමනක සැප හොයනවා.

දැන් මෙහෙම කිව්වම, පෙර සසරෙදි හිතින්, කයින්, වචනයෙන් තම තමන් ගොඩගහ ගත් සංඛාරවල විපාක හැටියට, මේ ජීවිතේදි නඩු හබ, ලෙඩ දුක්, රැකියාවෙ කරදර එනව කියල සමහරු පිළිගන්න කැමති නෑ. 100% ක්ම කර්මය නිසා සිද්ධ නොවන බව ඇත්ත. නමුත් කර්මය මුල් වෙනවා. **ගිරිමානන්ද සූත්‍රයේ ලෙඩ දුක් හැදෙන කාරණා අටක් දේශනා කරල තියෙනවා.** පිත්ත සමුට්ඨානා ආබාධා, සෙම්හ සමුට්ඨානා ආබාධා, වාත සමුට්ඨානා ආබාධා, සන්නිපාතිකා ආබාධා (ශරීරය වෙව්ලන, කම්පා වෙන අමනුස්ස හෝ වෙනත් බාහිර හේතූන්ගේ බලපෑමෙන් ඇති වන්නා වූ ස්වභාවයන්. සන්නි රෝග කියන්නෙ ඒ වෙව්ලන ගතිය නිසා), උතුපරිනාමජා ආබාධා (සීත, උෂ්ණ ආදී සෘතු විපර්යාසයන් නිසා ඇති වන ආබාධ. උදාහරණ වැස්සට තෙමීම, පිනි බෑම නිසා ඇති වන විපරීතයන්), විසම පරිහාරජා ආබාධා (ආහාර පාන, චර්යා රටාවල් ආදිය විසම වීම නිසා ඇති වන ආබාධ), ඔපක්කමිකා ආබාධා, කම්ම විපාකජා ආබාධා කියන්නෙ ඒ කාරණා අට.

මෙතනදි උපක්‍රම යෙදීමෙන් ඇති වන ආබාධ තමයි උපක්‍රමික ආබාධ කියන්නෙ. උදාහරණ විදියට කෙනෙකුට වහ දීමෙන් හෝ හැංගිලා ඉඳල පහර දීමෙන් ආබාධිත තත්ත්වයට පත්වෙන්න පුළුවන්. බුදුන් වහන්සේගෙ සිරි පතුලේ ගලක් වැදිල ලේ ඉපැද්දුනෙත් දෙව්දත් තෙර යොදපු උපක්‍රමයක් නිසා. හැබැයි ඒක උපක්‍රමික ආබාධයක් වුනාට ඒකට මුල් වුනේ සසරෙ කරපු කර්ම වේගයක්. ඒ නිසා තමයි කම්මස්ස කෝම්හි, කම්ම දායාදෝ... ආදී වශයෙන් කර්මය මේ හැම එකකටම සම්බන්ධ වෙනව කියල උන් වහන්සේම

දේශනා කළේ. මිලින්ද ප්‍රශ්නයෙදි උපක්‍රමික ආබාධවලට උදාහරණ වශයෙන්, මිලින්ද රජතුමාට නාග සේන රහතන් වහන්සේ පෙන්වපු කාරණයකදි, බුදුන් වහන්සේගෙ සිරි පතුලේ ගලක් වැදීම උපක්‍රමයකින් සිද්ධ වුනා කියල පොත්පත්වල සඳහන් වෙලා තිබුණත්, පුබ්බකත පිලෝතිකාවදානයේදි විග්‍රහ වෙනව, උන් වහන්සේ පෙර කාලයක ළමයෙක් වෙලා ඉඳෙද්දි යම් කිසි විදියකින් පසේ බුදුවරයන් වහන්සේ නමකට ගල් කැටයකින් ගහපු හේතුවට කර්ම විපාකයක් විදියට ඒක සිද්ධ වුනා කියල. එතනදි උන් වහන්සේගෙ ඒ කර්ම වේගය මුල් වෙලා උපක්‍රමය ඒ අනුව යෙදුණා. ඒ උපක්‍රමය තමයි එතනදි විද්‍යමාන වුණේ. නමුත් ඒකට මුල් වුනේ කර්මය. ඒ වුනත් බොහෝ දෙනෙක් හිතන්නෙ නෑ, මේ උපක්‍රම කියන ඒවා කර්ම විපාකත් එක්ක සම්බන්ධයි කියල. කර්ම විපාක කියන්නෙ එයින් එකක්. නමුත් මේ හැදෙන ලෙඩවලින් 1/8 ක් විතරයි කර්ම විපාක වෙන්නෙ කියල අදහසක් අද සමහරු අරගෙන තියෙනවා. නමුත් කර්ම විෂය අචින්ත්‍යයි, හිතල කෙළවරක් දකින්න බෑ කියන එකයි බුද්ධ දේශනාව. හිතල කෙළවරක් දකින්න බැරි යම් කරුණක් තියෙනව නම්, ඒක තමන්ට ඕන හැටියට හිතා ගැනීම නිවැරදියි කියන්න බෑ.

කෙනෙකුගෙ ස්වාමියා හෝ බිරිඳ අමනාප වෙලා හෝ අමනාපයක් නැතිව හෝ හොඳට ආදරෙන් වෙළිල ඉඳෙද්දිම දරා ගන්න බැරි දුකක් දීල වෙන් වෙන්න පුළුවන්. ඒ වෙන් වුන හේතුව කුමක් හෝ වේවා, ජීවත් වෙලා ඉන්න කෙනා දුක් වෙනවා. දුකෙන් මිදෙන්න නම් දුකෙන් මිදෙන මගක් අනුගමනය කරන්න ඕන. කෙනෙකුට පිහි පාරක් වැදුනොත්, කවුද මට පිහියෙන් ඇන්නෙ... කිය කියා හොයල බලන එකද කරන්න ඕන, එහෙම නැත්නම් වහාම වෛද්‍යවරයෙක් ළඟට යන එකද? කල්පනා කරල බලන්න. පිහියෙන් ඇන්න අය හොය හොයා හිටියොත් නොදනම මැරෙන්නයි වෙන්නෙ.

බුදු දහම කියන්නෙ මෙලොව අභිවෘද්ධිය, පරලොව අභිවෘද්ධිය, නිවන කියන තුන් අභිවෘද්ධියම සලසන මුල යහපත්, මැද යහපත්, අග යහපත්, අර්ථ සහිත වූ, ව්‍යංජන සහිත වූ සර්වාකාරයෙන් පරිපූර්ණ වූ, පිරිසිදු වූ බ්‍රහ්ම චර්යාව ප්‍රකාශ කරන දහමක් බව දැන ගන්න බොදු මග ඇසුරු කරන්න ඕන.

මෙතනදි මුල, මැද, අග යහපත් කිච්චම ක්‍රම කිහිපයක් තියෙනවා. ධර්මය පැත්තෙන් බැලුවොත් මුල ඉඳන්ම ලෝභ, දෝස, මෝහ ක්ෂය කර ගෙන යන ස්වභාවයක් තමයි තියෙන්නෙ. එහෙම යන කොට ඇතිවෙන්නෙ සැනසිල්ලක්. ඒ නිසා මුල යහපත්. ඊළඟට තවත් ටිකක් මැදට යන කොට ඇති වෙන්නෙත් සැනසිල්ලක්. ඒ නිසා මැද යහපත්. අගට ගියාම අරිහත්වයට පත් වුනාට පස්සෙ ඇති වෙන්නෙත් සැනසිල්ලක්. ඒ නිසා අග යහපත්. ඒ වගේම දේශනා කිරීමේදී අනුපූර්ව ක්‍රමයකට ගිහින් අනුපූර්ව ශික්ෂා, අනුපූර්ව සමාධි... ආදී වශයෙන් යන ක්‍රමයක් තියෙනවා. ඒ විදියට යන කොටත් මුල පටන්ම අගට යන කල්ම යහපතක්මයි සිද්ධ වෙන්නෙ. මේ යහපත කියන කාරණයේ විශේෂත්වය තමයි රාග, ද්වේශ, මෝහ ක්ෂය වීම. ඒක ආරම්භයේ පටන් අගට යනකල්ම සිද්ධ වෙන දෙයක්. ඒ නිසා මොහොතක් පාසා සිද්ධ වෙන්නෙ මුල, මැද, අග යහපත් දෙයක්. යහපත් කියන එකේ අර්ථය ඒකයි. දහම් දකින්න දකින්න සිද්ධ වෙන්නෙත් ඒකයි. ඒ වගේම සීලය මුල ලෙසත්, සමාධිය මැද ලෙසත්, ප්‍රඥාව අග ලෙසත් තවත් ආකාරයකට ගන්න පුළුවන්. මේ විදියට විවිධ ක්‍රමවලින් මුල, මැද, අග යහපත් කියන කාරණා ගන්න පුළුවන්. ඊළඟට ව්‍යංජන සහිත වූ කිච්චම, යම් කිසි ආකාරයකින් උදාහරණ උපමා ආදිය යොදා ගෙන අර්ථ විග්‍රහ කරල පෙන්වීම තමයි අදහස් කරන්නෙ.

ඉතින් මේ බොදු මග ඇසුරු කරන්න උත්සාහයක් නැති, අපිත් දන් දෙනව... සිල් ගන්නව... භාවනා කරනව... ආදී වශයෙන් කියල ලෝකයාට කීමෙන් හිත හදා ගන්න උත්සාහ කරන අයට ධර්මය පහදා දීම, අන්ධයාට කිරි ගැන කියල දෙනව වගේ අමාරුයි. එහෙම කියන අදහසින් හෝ ඒ දේවල් කරන එක නම් හොඳයි. කවදා හරි ධර්මය වටහා ගන්න ඒවත් උපකාර වෙනවා.

බෝධි පූජා මෙච්චරක් කළා, ඒත් තවම කිසි සහනයක් ලැබුනෙ නැහැනෙ... ආදී වශයෙන් කියනවා. බෝධි පූජා කරනව කියල, කරල තියෙන්නෙ මොකක්ද කියල පැහැදිලි කර ගන්න තමන්ගෙම හිත අවුස්සල බලන්න ඕන. ඇත්තටම තමන් බුදු, දම්, සඟ ගුණ කෙරෙහි විශ්වාසයෙන් ගෞරවයෙන් ඒ වඳින්න ගත කරපු කාලය වෙනත් දේවල් ගැන නොහිතා තෙරුවන් ගුණම සිහි කළාද? පැන් කලය අතේ තියාගෙන කී වතාවක් නම් තමන් පෙළෙන දුක ගැන නැවත නැවත සිහි කළාද? බුදු ගුණ උපාදානය කරනව කියල දුකම උපාදාන කළාද? දහම් ගුණ සිහි කළාද? ''ඇත්තටම තවම සහනයක් වුනේ නැත්තෙ මොකද?'' මේ විදියට හිතල ධර්මය ගැන සැක කළේ නැත්ද? සංඝ රත්නයේ ගුණ සිහි කළාද? උජුපටිපන්නෝ කිච්චට තමන් ඒ ගුණයට නැමී සිටින්න උත්සාහ කළාද? නමෝ තස්ස... ආදී වශයෙන් නමෝ කියන්නෙ නමස්කාර කරමි, නැමී සිටිමි කියන අදහස. අනුත්තරං පුඤ්ඤක්ඛෙත්තං ලෝකස්සාති කියන්නෙ ලෝකයාට අනුත්තර පුණ්‍ය ක්ෂේත්‍රයක් වගේ කියන එක. එබඳු ගුණ ඇති ධර්මය දන්න කෙනෙක් හමු වෙලා කතා කළාද? දුන්න උපදෙස් හරියට පිළිපැද්දද?

මුලින්ම තෙරුවන් ගුණ විස්වාසයෙන් පිළි අරගෙන, දහම් මගට නැඹුරු වෙන්න, ඒ ගුණවලට තමනුත් නැමී සිටින්න උත්සාහ කරන්න ඕන. මේ බොදු මග පිළිපදින කෙනාට තමයි දහම සන්දිට්ඨිකයි කියල අවබෝධ වෙන්නෙ. මේ විස්වාසය පූර්ණව තහවුරු වෙන්නෙ අරිහත් ඵලයෙදි. ඒ කාරණය චූල්ල හත්ථි පදෝම සූත්‍රයේදි විග්‍රහ වෙනවා. එතනදි ඉස්සෙල්ලම සද්ධාව මුල් කරගෙන පටන් ගන්න බව ඇත් පිය (ඇතාගෙ පියවර) උපමාවෙන් පෙන්වනවා. මොකද කෙනෙක් ඉස්සෙල්ලම ඇතා කියල හඳුන ගන්නෙ ඇත් පියවර දැක්කම. ඒක විස්වාසයෙන් තමයි හඳුනගෙන කියන්නෙ. සෝවාන් මග ඵල ලාභියෙක් මුල පටන් ගන්නෙත් එහෙමයි. ඊට පස්සෙ ගස්වල අතු කඩල තියෙනව දකින කොට ඇතා කියල විස්වාසය තවත් වැඩි වෙනවා. ඊළඟට දළවලින් ගස්වලට ඇනල තියෙනව දැක්කම ඒකාන්තයෙන්ම ඇතා කියල විස්වාසයි. මොකද වෙනත් සතෙකුට ඒ වගේ දෙයක් කරන්න දළ නෑ කියල දන්නවා. අන්තිමට ළඟට ගිහින් බලන කොට ඇතා ඇස් දෙකින්ම දැක ගන්නවා. ඒ වගේ බුදුන් සම්මා සම්බුද්ධයි, දහම ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියල පූර්ණ වශයෙන්ම දකින්නෙ අරිහත් ඵලයෙදි. මුල සුළු තැනකින් පටන් ගත්තට ඒ මුල් ස්වභාවයම අරිහත් ඵලයෙදි පූර්ණවම දකිනවා. ඒ වගේම අද කාලෙ උදාහරණයක් ගත්තොත්, විභාගයකට හොඳට පාඩම් කරන, කෙටි සටහන් තියා ගන්න, පසු ගිය ප්‍රශ්න පත්‍රවලට උත්තර ලියමින් පෙරහුරු කරන ළමයෙකුට තමයි විභාගයෙන් එන ප්‍රතිඵල ගැන විස්වාසයක් ඇති වෙන්නෙ. ඒ මග අනුගමනය නොකර ප්‍රතිඵල ගැන විස්වාසයක් ගොඩ නගා ගන්න බෑ.

සංවර වෙලයි අපි බොදු දරු ලෙස ඉන්නේ... කියල ඇහෙන කොට, ඇත්තටම සංවර වෙන්න ඕන කියන අධිෂ්ඨානය ඇති කර ගන්න ඕන. ඒ මොහොතෙ නම් ඇත්තටම සංවර වෙලා තමයි ඉන්නෙ. නමුත් ඒක ජීවිතය ගත කරන අනිත් වෙලාවටත් සිහියෙ තියා ගන්න ඕන. මල් නටුවෙන් කැඩුවම බීජ සකස් වෙන්නෙ නැති නිසා ගස්වැල් පරපුර ගොඩනැගීම නවතිනවා, සංවර වෙනවා. මේ මල් වගේ ඉන්න අපි බැඳිල ඉන්න ලෝකය අසාරයි කියල නුවණින් දැකල, ඡන්ද රාගය කියන නටුව දුරු කරල, එදිනෙදා ජීවිත කටයුතු

කරගෙන යනව කියන කාරණය ඒ උපමාවෙන් පෙන්වනවා. මේ කිව්වෙ අපේ සසර ගමන සංවර වෙනව කියන කාරණය. මතුවට සිද්ධ වෙන දේ වගේම මේ කය මරණයෙන් කෙළවර වෙන තුරු විපාක ස්කන්ධය කියන මේ කයත් සංවරව පවත්ව ගන්න ඕන. බාහිර පෙනුම, අභ්‍යන්තර මානසික ස්වභාවය පෙන්නුම් කරන කැඩපතක්. මේ ලෝකය මනස පූර්වංගමව ගොඩනැගිල තියෙන බව නිතරම සිහි කර ගෙන අභ්‍යන්තර, බාහිර දෙපැත්තම සමතුලිතව පවත්වගන්න ඕන. භික්ෂූන් වහන්සේලාගෙ හිස කෙස් ටිකක් වැවිල තිබුණොත්, ගිහි පින්වතුන් ඒ ගැන කතා කරනවා. නමුත් ඒ ඇඟිල්ල තමන් දෙසට හරවල බලන්න හිතන්නෙ නෑ. බුදු හාමුදුරුවො ධර්ම දේශනා කළේ සිවුවනක් පිරිසට නම්, බාහිර සංවරත්වය උපාසක උපාසිකා පිරිසටත් අදාල වෙනවා.

කය සංවරව පවත්ව ගන්න ඕන විදිය කායානුපස්සනාවෙන් පැහැදිලි කරනවා. කායේ කායානු පස්සී විහරති කියන්නෙ, කයේ කයට අනුව දහම් ස්පර්ශ කරමින් වාසය කරන්න කියන කාරණය. එතනදි කයේ කය කිව්වෙ, මේ ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්ගෙ ක්ෂයවීම, ගෙවී වැහැරී විනාශ වීම නෙවෙයි. මේ කයේ තියෙන අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ කියන කාරණා 4 බැලීම තමයි කායේ කායානුපස්සනා කියන්නෙ. න+උප+අස්සනා - අනුපස්සනා. ඒ කියන්නෙ දෘඩිව ඇසුරු කරන්නෙ නෑ කියන එක. එහෙම නැත්නම් කය පිළිබඳ දෘඩි ඇසුරින් වෙන්වීම. දෘඩි ඇසුරින් වෙන් වෙන්න නම් මේ කය පිළිබඳව තියෙන අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ කියන කාරණා 4 දකින්න ඕන. ක්ෂය වීම, වැහැරීම කියන්නෙ ඒකෙ යම් මාත්‍රයක් විතරයි. මේ අනුපස්සනාව කියන කාරණය අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ කියන කාරණා 4 ට දාල බලන්න කියල පෙටකෝපදේශයේ විග්‍රහ කරල තියෙනවා. ඒ අනුව තමයි කායේ කායානුපස්සනාව කියන එක විග්‍රහ කර ගන්න ඕන. නමුත් දැනට සිංහලෙන් සමහර පොත්පත්වල ලියල තියෙන්නෙ කයේ කය අනුව බලන්න කියල. අනුපස්සනාව කියන වචනයේ තේරුම හරියට දන්නෙ නැති නිසා සමහරු එහෙම ලියල තියෙනවා. නමුත් එතකොට නියම අර්ථය ගන්න බෑ, නියම අර්ථය වැහිල යනවා.

ඒ නිසා විපරිනාමයට පත් වූ දෙය නැවතත් ඒ ආකාරයෙන්ම ගොඩ නොනැගෙන බව, කැමති සේ පවත්ව ගන්න බැරි බව, ඒ නිසාම ඇති වන පෙළීම, දුක, දාහය මෙනෙහි කරමින් ඒ ඒ ඉඳුරන්ට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම ආදියත් එබඳුම බව නුවණින් මෙනෙහි කරමින් අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ ස්වභාවය මෙනෙහි කරමින් කය පරිහරණය කිරීම තමයි කායානුපස්සනාව කියන්නෙ. ඒ විදියට නුවණින් දකින කොට, මේ කය පරිහරණය උතුම් නිවන අවබෝධ කර ගැනීම පිණිස පවත්වාගෙන යනව මිසක් හැඩ වැඩ කරන්න, දකින දකින අයගෙ කාම හැඟීම් උද්දීපනය කරන්න, දස අකුසල් කරන්න නොයෙදවිය යුතු බව තේරුම් අරගෙන සංවර වෙන්න ඕන.

කයේ කය අනුව කිව්වම දැන් අපට අහන්න ලැබෙන්නෙ, මනසින් මේ ශරීරය හතරට පළල විවෘත වුනාම ඇතුලෙ හැටි බලන්න, ඒ අනුව අසාරයි කියල තේරුම් ගන්න කියන අදහස. නමුත් මනසින් ඇතුල දකින්න දිවැසක් නැතිව පුළුවන්ද කියන එකත් ගැටළුවක්. මේ ශරීරය හතරට බෙදන්න කියන එකේ තේරුම හගවත හෙවත් බෙදා බලන වත අනුව බලන්න කියන එක. මේ ශරීරය කියන ඒකකය ගොඩනැගිල සකස් වෙලා තියෙන ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන සතර මහා භූත ගෙවී ගෙවී වැනසිලා යනවා, දිරල යනවා. පෙර තිබුන ආකාරයට යළි ගොඩනැගෙන්නෙ නෑ, විපරිනාමයට පත් වෙනවා. සම්මුති මරණයෙන් පස්සෙ යළිත් ඒ සතර මහා භූතයන්ටම වෙන් වෙලා යනවා. ඒ නිසා අසාරයි. නැවත නැවත ආස්වාද විඳින්න ගොඩ නගා ගනිමින් සසර සැරි සැරීමේ හරයක් නෑ කියන එකයි තේරුම් ගන්න ඕන.

මෙතනදි කායේ කායානුපස්සී හෙවත් කයේ කය අනුව බැලීම කියන කාරණයත් ආකාර 2 කට විග්‍රහ වෙනවා. එතනදි **ඉස්සෙල්ලම විග්‍රහ වෙන්නෙ මේ මස් ලේ කයේ කායානුපස්සනාව. අනුපස්සනා කරනව කියන්නෙ අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ වශයෙන් බැලීම.** මේ මස් ලේ කයේ තියෙන ඒ හතර ආකාරයම බලන්න ඕන. ඒ තමයි මේ මස් ලේ කයේ කායානුපස්සනාව. කාය කියන්නෙ සමූහයක්. සමූහය පිළිබඳ යථාර්ථවත්ව දැකීම තමයි මේ කියන්නෙ. කාය පිළිබඳ සමූහය යථාර්ථවත්ව දැක්කම, බාහිර ලෝකය පිළිබඳ සමූහයත් ඒ අනුසාරයෙන් යථාර්ථවත්ව දකිනවා. උදාහරණ විදියට ගෙදරක ප්‍රධාන ජේනුව (Main Switch) ඉස්සෙල්ලම ක්‍රියා විරහිත කරන කොට, අනිත් ජේනු සියල්ලමත් ක්‍රියා විරහිත වෙනව වගේ, ඉස්සෙල්ලම කරන්න ඕන මේ මස් ලේ කයේ කායානුපස්සනාව. ඊළඟට **ලෝකයේ තවත් බාහිර කායානුපස්සනාවක් තියෙන නිසා තමයි මුලින්ම තමන්ගෙ මස් ලේ කයේ කායානුපස්සනාව බලන්න කිව්වෙ.** තමන්ගෙ කය පිළිබඳ බැලීම මුල් කරන්න ඕන.

ඊළඟට ධර්මයේ පෙන්වන දෙයක් තමයි අහංකාර, මමිංකාර මාන අනුශය බැලීමට බාහිර ලෝකයේ කායානු-පස්සනාව බලන්න කියන කාරණය. සබ්බ ලෝක කියන්නෙ ඒ බාහිර සියලු ලෝකවලට. ඒ කියන්නෙ අතීත, වර්තමාන, අනාගත, අධ්‍යාත්මික, බාහිර, හීන, ප්‍රනීත, දුර, ළඟ, සියුම්, ඝන වශයෙන් රූපය යැයි යමක් වේ නම් ඒ සියල්ලම අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ වශයෙන් බලන්න ඕන. ඒ බලන්නෙ අහංකාර, මමිංකාර කියන මාන අනුශය දුරු කර ගන්න. එතකොට මේ මස් ලේ කයයි බාහිර සියල්ලමයි අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ විදියට බලන්න ඕන. එතනින් ඉස්සෙල්ලම බලන්න ඕන එක තමයි කයෙහි කය අනුව බැලීම කියන මේ මස් ලේ කයේ අනුපස්සනාව. ඊළඟට බාහිර ලෝකය ගැන බලන්නෙ ඒ උපමාව සංසන්දනය කරල. පළවෙනියට සෝතාපන්න වෙන්න මේ මස් ලේ කය මුල් කර ගෙන බැලුවම ප්‍රමාණවත්. ඒ කියන්නෙ බණ අහන මොහොතක. ඊළඟට ඒක මුල් කර ගෙන බාහිර ලෝකය ගැනත් දකිනවා. එතනදි අහංකාර, මමිංකාර මාන අනුශය දුරු කරනවයි කියන්නෙ රූප රාග, අරූප රාග, මාන, උද්ධච්ච, අවිද්‍යා දුරු කිරීම. ඒ කියන්නෙ අරිහත් ඵලය පූර්ණ කර ගැනීම. එතනදි මස් ලේ කයේ කායානුපස්සනාව ඉක්මවා බලනවා. සබ්බ ලෝක කියන සියලුම ලෝක එතනදි බලන්න පුරුදු වෙනවා.

එතකොට සබ්බ කාය පටිසංවේදි අස්සසිස්සාමීති සික්ඛති... ආදී වශයෙන් කියන්නෙ අවසානයට. එතනට පත් වෙන කොට තමයි කායානුපස්සනාවේ අවසානය. එහෙනම් සබ්බ කාය කිව්වම මේ කය විතරක් නෙවෙයි, මේ ලෝකයේ තියෙන සියල්ලම අහු වෙනවා. එතකොට මුලින්ම කායේ කායානුපස්සී විහරති කිව්වෙ එකක්. ඒක තමයි ආරම්භය. මේ මස් ලේ කයට අයිති වෙන ඇස, කන, දිව, නාසය, ශරීරය, මන කියන මේවා ගැන බලන්න පුරුදු වීම. ඊළඟට ලෝකෙ අනෙක් කායත් මේ වගේ නේද කියල දෙවෙනියට බලනවා. ඒ කියන්නෙ සතිපට්ඨානයේ කායානුපස්සනාවේ මුල එතනින් පටන් අරගෙන, ඒක පුරුදු වුනාම බාහිර ලෝකය ගැන බලන්න පුරුදු වෙනවා. එතකොට තමයි අහංකාර, මමිංකාර මාන අනුශය දුරු වෙන්නෙ.

යුදකාමී රජෙක් වුන ධර්මාශෝක නමින් පසු කාලීනව ප්‍රසිද්ධ වුන චණ්ඩාශෝක රජතුමා යුද්ධයෙන් ජය ගත්තත්, යුදකාමීව හිටපු රට වැසියො සංවර කර ගෙන රට පාලනය කරන්න අපහසු වෙලා කනස්සල්ලෙන් සී මැදුරු කවුළුවෙන් පාර බලාගෙන ඉන්න වෙලාවක, කහ පාට දළ සිවුරක් පොරව ගෙන ඉතාම සන්සුන් ලීලාවෙන් ☞

පිඬු සිඟා වැඩිය නීග්‍රෝධ පුංචි හාමුදුරුවො දකල හිත පැහැදිලා, පසුව බණ අහල ධර්මය කෙරෙහි පැහැදිලා වෙහෙර විහාර ඉදිකළා කියල පුංචි දහම් කතාවක් තියෙනවා.

මේ කතාවෙන් පේනවා, රජ්ජුරුවන්ට බොහොම ලස්සන, සර්වාභරණයෙන් සැරසුන, මන වඩන සුගන්ධ මල් ගවසාගෙන හැඩ වැඩ වුණ, දුහුල් සළු පිළි පොරව ගත්ත බිසෝවරු හිටියට, ඒ අය දිහා බලල හිත නිවා ගන්න පුළුවන් වෙලා නෑ කියල. කාමභෝගී රජෙක් වුනත් අන්තිමට හිත පැහැදුනේ සංවරකම පිරුණු, අල්පේච්ඡ ගති තිබුණු, පුංචියට පෙනුනට මහ රහතන් වහන්සේ නමක් වුන නීග්‍රෝධ හිමියන්ගෙ රූපය දකල. ඒ වගේම වෛර්ණ සළුපිළි ඇඳගෙන ඉන්න නිරූපිකාවන්ට, නිරූපකයන්ට මිනිස්සුන්ගෙ ගරු සැලකිලි තියෙන්නෙ, කාම සංකල්පනා මතු වෙලා තියෙන වෙලාවට විතරයි. මිනිස්සු දවස පුරා විවිධ කටයුතුවල යෙදෙන්නෙ ඒ රූප අමතක කරල. ඒවා ඔළුවෙ තියාගෙන හරියට කටයුතු කරන්න අමාරුයි, වැඩ කටයුතු අතපසු වෙනවා, අවුල් වෙනවා.

එහෙනම් බුදු පුදට පන්සලට යන කොට අනාවරණය නොකළ යුතු තැන්, කැපී පෙනෙන ඉස්මතු වී පෙනෙන ඇඳුම සංවර ඇඳුමක්ද? 64 ක් ආභරණවලින් සැරසිලා, නා කපන වැහි වැටෙන වෙලාවෙ විශාඛාව ගිය විදියට ඇයි අපට යන්න බැරි? සේවක සේවිකාවන් බොහෝ පිරිසක්, දූ දරු මුණුබුරු මිණිබිරියන් බොහෝ ගණනක් ගැන සොයා බලපු, බුදු පියාණන් වහන්සේ මූලික කර ගෙන මහා සංඝරත්නය දහස් ගණනකට නිතර දෙවේලෙ දන් පැන් පූජා කළ විශාඛාව, එදා සමාජයේ වැදගත් වැඩ කටයුතු බහුල ප්‍රභූ කාන්තාවක්. වැඩ පළ අධික නිසා සංවර ඇඳුමක් ඇඳගන්න වෙලාවක් නෑ කියන අය මේ ගැනත් හිතල බලන්න ඕන. අඳින ඇඳුම තමන්ගෙ අභ්‍යන්තර සංවරකම, පිරිසිදුකම, පිළිවෙල විදහා දක්වන කැඩපතක් වගෙයි.

මල් පූජා කරන්න මල් බඳුන් සකස් කරන වෙලාවට මේ සංවරකම ගොඩනැගෙන විදියට විදර්ශනා කර්මස්ථානයක් වඩන්න පුළුවන්. මේ බොදු දරු අපිත් මේ මල් වගෙයි, මලින් බුදුන් පුදන අපේ සංවර හැසිරීමත් මේ වගෙයි කියල හිතාගෙන, මුල ඉඳලම මලින් මල පිළිවෙලට වට්ටියේ අසුරනවා. පිළිවෙලට තියන්න හුඟ වෙලාවක් ගතවෙන නිසා මුලින් මල් අහුරක් වට්ටියට දමල, ඒ මත පිළිවෙලට මල් අහුරන කොට, අසංවර පිරිසක් අතරෙ සංවර පිරිසක් ඉන්නව වගෙයි. සංවර පිරිස නිසා අසංවර පිරිසගෙ අසංවරකම වැහිල යනවා. නිවන අරමුණු කර ගෙනම නොවුනත්, මේ ලෝකය තුළ යහපත් ජීවිතයක් ගත කරන්න මේ සංවරකම වටිනවා. මේ මල් අහුරන පිළිවෙල හිතේ රැඳුනම එදිනෙදා ජීවිතේ ගැටළුවක් ආවමත්, ඒකෙන් පැනල යන්නෙ නැතුව විවේක බුද්ධියෙන් හිතල බලල, ගැලපෙන ප්‍රතිකර්මයක් යොදා ගන්න පුළුවන් වෙනවා. ගැටීම් අඩුවෙන ජීවිතේ ශාන්තිය මෙලොවදීම ලබන නිවනක් කියල වටහා ගන්නත් පුළුවන් වෙනවා.

සංවරට්ඨේන සීලං... සංවරයි කියන අර්ථයෙන් සීල කියනවා. හිත, කය, වචනය තුන් දොරම සංවර වෙන්න ඕන. කය නිරතුරුව ඇඳුමකින් ආවරණය කර ගෙන ඉන්න නිසා ඇඳුමත් සංවර වෙන්න ඕන. කයේ බාහිර පෙනුම වගේම අභ්‍යන්තර සංවරය ඇති කර ගන්න හැටි ගිරිමානන්ද සූත්‍රයෙන් පෙන්වල තියෙනවා. ''සෝ සතෝව අස්සසති... පස්සං භයං කාය සංඛාරං පස්ස සිස්සාමීති සික්ඛති...'' මේ කොටසින් කාය සංවරය ඇති කර ගන්න පිළිවෙල තමයි දක්වන්නෙ. මේ විදර්ශනා කායානුපස්සනාව ''දම් වරුසා'' නම් පොතේ දීර්ඝ ලෙස පැහැදිලි කරල තියෙනවා.

බොරු, කේළාම්, පරුස වචන, හිස් වචන කියන්නෙ වචනයෙන් සිද්ධ වෙන අසංවරකම්. මේවා කීමෙන් ලෝකයාට සිදුවන අවැඩ අසාධාරණ තේරුම් ගන්න ඕන. බොරුවෙන් අනුන් මුළා කරනවා. අනුන් මුළා කරන හේතුවේ ඵල වශයෙන් කවදා හෝ තමන්ටත් මුළා වෙන්න සිද්ධ වෙනවා. හේතුව දකින්නෙ නැති නිසා, ඵලය ආව දවසට ඒක කළේ කවුද කියල නැවතත් තරහ, ක්‍රෝධ, වෛර ඇති කර ගන්නවා. තමන්ගෙ හිත දූෂ්‍ය කර ගැනීමෙන් අනන්ත සසර දුකට වැටෙනවා. මේ විදිහට බොරු කීමේ විපාක තේරුම් අරගෙන, අද විපාක ඵල ඇවිත් තියෙනව නම් ඒකට හේතු තේරුම් අරගෙන, තමන්ම කර්ම ඵල විස්වාස කරගෙන, බොරු නොකීමේ ආනිසංස නුවණින් දකල, බොරු කීමෙන් වෙන් වෙලා සංවර වෙන්න ඕන.

මේ විදියට කේළාම් කීමෙන් අන් අය අතර සමගිය බිඳෙනවා. ඒ හේතුවේ විපාක වශයෙන් තමන්ටත් කවදහරි, තමන් ප්‍රිය මනාප අය අතරෙ බේද ඇතිවෙලා, අසමගි වෙලා වෙන් වෙන්න සිද්ධ වෙනවා. අද එහෙම විපාක ඵලයක් ඇවිල්ල තියෙනව නම් ඒකට හේතුව තේරුම් අරගෙන, කේළාම් කිව්වෙ කවුද කියල හොය හොයා තරහ, වෛර, ක්‍රෝධ සිත් ඇති කරගන්නෙ නැතිව, තමන්ගෙ හිත දූෂ්‍ය කරගන්නෙ නැතිව, කේළාම් කීමෙන් වෙන් වෙලා සංවර වෙන්න ඕන. පරුස වචන කීමෙන් අනිත් අයගෙ හිත් රිදෙනවා. කිසිම ගණනකට නොගෙන අනුන්ට සමච්චල් කරන, ඒකෙන් විනෝදවෙන අය, ඒ පරුස වචන කීමෙන් කළේ අකුසලයක්, මතු දුක් විඳින්න හේතුවන දෙයක් කියල දන්නෙ නෑ. අපි පන්සල් නොගියට පවු කරන්නෙ නෑ කියලත් කියනවා. සත්වයා කියන්නෙ ගත සිත දෙකටම කරන්නා වූ දැඩි ඇල්ම (සං.නි. (3) සත්ත සූත්‍රය). ඉතින් **ගත රිද්දුවම පාණාතිපාතා සිල් පදය කැඩෙනව වගේ තමයි, හිත රිද්දුවමත් පාණාතිපාතා සිල් පදය කැඩෙනවා.**

අනුන්ගෙ හිත් රිදවීමේ විපාක වශයෙන්, කවදා හෝ අන් අය විසින් තමන්ගෙ හිතත් රිද්දවනවා. සමහර වෙලාවට පුංචි බොරුවක්, කේළමක්, පරුස වචනයක් හේතුවෙන් දුකට පත් පුද්ගලයා දිවි නසා ගත්තොත්, නරක වචනයේ විපාකය පර පණ නැසීමේ ක්‍රියාවට වක්‍රාකාරයෙන් උදව් වෙනවා. මේ වගේ සිද්ධි අද ඕන තරම් අහන්න දකින්න තියෙනවා. දුකට පත් පුද්ගලයා ගුණ මහන්තත්වයෙන් උසස් කෙනෙක් නම්, විපාකය සතර අපායක උප්පත්තිය වෙන්නත් පුළුවන්. බෝසත් ගුණ පුරණ උතුම් අයත් ඒ ගුණ පුරන්නෙ මේ සමාජයේම ඉඳගෙන. එබඳු වන්නා වූ කාරණා නිසා තමයි බුදුන් වහන්සේ ''සබ්බ පාපස්ස අකරණං.....'' කියල සියලු පවු බැහැර කරන්න දේශනා කළේ.

සංවර සංවර... කියනවා. සංවර කියන එකේ තේරුම සං වරනව කියන එක. ''සං'' කියන්නෙ ගොඩනගනවා, සකස් කරනවා කියන අර්ථය. වරනවා කියන්නෙ වළක්වනවා. එතකොට ගොඩනගන්නෙ මොනවද? රාග, ද්වේශ, මෝහ. යම් දෙයකින් හෝ ක්‍රියාවකින් හෝ අන් අය තුළ හෝ තමන් තුළ රාග, ද්වේශ, මෝහ ගොඩනැගෙනවද, ඒ දේවල් හෝ ඒ ක්‍රියා සංකරයි, අසංවරයි. මෙන්න මේ මූල සිද්ධාන්තය තේරුම් අරගෙන කටයුතු කිරීමෙන් සංවර වෙන්න පුළුවන්. සංකර වුනොත් ලෝකෙට බැඳෙනවා. සංවර වුනොත් නිවනට ඇදෙනවා.

ඉතින් මේ විදිහට දහම් දැනගෙන අභ්‍යන්තරයෙන් කය, වචනය සංවර කරගත් පිරිස, හරියට මුල ඉඳලම රටාවකට අසුරල සකස් කරපු මල් වට්ටියක් වගේ, දකින නෙත් පහදිනවා. අභ්‍යන්තර සිල් සුවඳින් බුදුන් පුදන පිරිස සිටින තැන, පිළිවෙලට ලස්සනට සකස් කරපු මල් වට්ටියේ මල් සුවඳ වගේ සුවඳ විහිදවනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික බැංකු නිලධාරිණී**
**කඩවත**

**අභයරතනාලංකාරය - 36**

# මැරෙන බහුතරය සතර අපා ගත වන බව ඇත්දැකීමෙන්ම දැන ගත්තා...



*(පසුගිය කලාපයෙන් - තිරිසන් වේසයෙන් ආ අමනුස්ස පිල්ලි ....)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

ඉකනෙක් මරණාසන්න මොහොතෙදි ඇති වන සංකීර්ණ සහ අතිශය බියකරු ක්‍රියාවලිය ගැනත්, මැරෙන බහුතරයක් සතර අපාගත වන බවත්, මරණය ගැන කියවෙන ලිපි පෙළින් මීට පෙර පැහැදිලි කළා. ඒ වගේම ඒ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර හිමියන්ට අත්දකින්න ලැබිච්ච බොහෝ බියකරු බව උපදවන සිද්ධීන් ගැන ඉදිරියේ දී විග්‍රහ කෙරෙන බවත් සඳහන් කළා. හුදෙක් ත්‍රාසජනක, බියජනක චිත්‍රපට කතන්දර වගේ මනස්කල්පිතවලින් ඔබ්බට ගිය, මේ ලෝකයේ බහුතරයක් උදවිය නොදකින, නමුත් සත්‍යය යථාර්ථය රැගත් උන් වහන්සේගේ මේ අත්දැකීම් පෙළ මෙතැන් පටන් ඔබ හමුවේ දිග හැරෙන්නේ, නිකං කියවල බලල අහක දාන්නවත්, ඕව ඔහොම තමයි කියන්නවත් නෙවෙයි. මේ දිගු සංසාර ගමනේ තියෙන අතිශය බියකරු වූත්, දුක් සහිත වූත්, සංකීර්ණ වූත් ක්‍රියාදාමය බිඳකින් හරි තේරුම් අරගෙන, දහම් ජීවිතයක් ගත කරල, මේ භයානක සසරින් මිදෙන්න උපනිශ්‍රයක් වේවා කියන අදිටන මුල් කර ගෙන තමයි මේ සිදුවීම් පෙළ ඔබ හමුවේ මේ විදියට දිග හැරෙන්නෙ. මේ වගේ සිදුවීම් බොහොමයක් උන්වහන්සේට අහන්න දකින්න ලැබිල තිබුණත්, ඒවායින් විශේෂ සිද්ධි කිහිපයක් විතරක් සඳහන් කිරීම ප්‍රමාණවත්. මේ වගේ අවස්ථාවන්ට මුහුණ දුන් අයගෙ පවුල්වල ඥාති හිතමිත්‍රාදීන් තවමත් ජීවතුන් අතර ඉන්න පුළුවන් නිසාත්, පුද්ගලිකව නම් ගම් හෙළි කිරීම නොගැලපෙන නිසාත්, අදාල සිද්ධිය විතරයි මෙතනදි සටහන් කරල තියෙන්නෙ. මරණය සම්බන්ධ ලිපි පෙළින් මතු කරපු දහම් කරුණු තවදුරටත් තහවුරු කර ගෙන, ඒ කාරණා තේරුම් ගන්න මේ සිදුවීම් පෙළ බොහොම වැදගත් වේවි. මේ තමයි අභයරතනාලංකාර හිමියන්ට අත්දකින්න ලැබිච්ච ඒ වගේ බොහෝ සිදුවීම් අතරින් කිහිපයක්.

මට වයස අවුරුදු 20 ක විතර කාලෙදි වෙච්ච සිද්ධියක් තමයි මේ කියන්නෙ. එක්තරා භික්ෂූන් වහන්සේ නමක් අවුරුදු 60 ක විතර ආයුෂ ගෙවල අපවත් වුණා. හැබැයි උන්වහන්සේ මහණ වෙලා හිටියත්, නැවත උපතක් ගැන විස්වාස කළේ නෑ, ජීව ගණන් ගත්තෙ නෑ. නැවත උපතක් ගැන කිව්වොත්, ඕව බොරු කතා කියල කියනවා. මිනිස්සුන්ට ප්‍රසිද්ධියේ බණට නොකිව්වට උන්වහන්සේ හිතාගෙන හිටියෙ එහෙමයි. ඒ වගේම කරන්න තියෙන තරමක් දුස්සීල වැඩත් උන් වහන්සේ කළා. දායකයො ගෙනත් දෙන දාන මාන ආදියත් පරිභෝග කළා, සත්තු මරාගෙන කෑවා, බිත්තර තම්බගෙන කෑවා. ඒ අතර නොයෙක් දුරාචාර වැඩත් කළා. ඔහොම ඉඳල තමයි අපවත් වුණේ. හැබැයි උන් වහන්සේ දක්ෂ කථිකයෙක්, ලෝක සම්මතයේ ත්‍රිපිටකධාරී භික්ෂූන් වහන්සේ නමක්.

දැන් ඉතින් උන් වහන්සේ අපවත් වුනාට පස්සෙ, ජීවත් වෙලා ඉන්න කාලෙ නොගැලපෙන විදියට ළඟින් ඇසුරු කරමින් හිටපු එක්තරා ස්ත්‍රියකගෙ ඇඟට ආවේස වෙලා ඒ ස්ත්‍රිය කොර වුණා, නැගිට ගන්න මුකුත් කර ගන්න බැරිව ගියා. ඊට පස්සෙ කට්ටඩියො ගෙන්නල මේ අමනුස්සයව අල්ලන්න හැදුවා. ඊළඟට එතන හිටපු පොඩි ළමයෙකුට ආවේස වෙලා කියවන්න පටන් ගත්තා. ''මම අහවල් හාමුදුරුවො. මට හාමුදුරුවො කියල කතා කරන්න එපා යකෝ. මං හිතුවෙ නෑ මට මෙහෙම ආත්මයක උපදින්න වෙයි කියල. මං ඕව ගණන් ගත්තෙම නෑ. ඒ වුනාට මට දැන් තමයි ඒකෙ බරපතලකම තේරෙන්නෙ. මං කරපු අපරාධ! මං මහ ගිනි ගොඩක ඉන්නෙ. මගෙ ඇඟ ඇතුලෙ හැම තැනම දැවෙනවා. මං පිච්චි පිච්චි ඉන්නෙ.'' දැන් මේ පුංචි ළමයට ආවේස වෙලා මේ අමනුස්සයා මේ විදියට මහා අඳෝනා නගන්න පටන් ගත්තා. එතකොට උන් වහන්සේ ළඟින් හිටපු දායකයො මෙහෙම කියන්න පටන් ගත්තා. ''මේ මහ අපරාධයක් කරන්නෙ. මේ ළමයගෙ ගෙදර එවුන් හාමුදුරුවොත් එක්ක තියෙන තරහට, ගමේ එවුන් එක්ක එකතු වෙලා මේ අපවත් වෙච්ච හාමුදුරුවන්ටත් දොස් කියනවා. ඔය ගෙදර මිනිස්සු ඒ කාලෙ ඉඳන්ම මේ හාමුදුරුවොත් එක්ක තරහයි. උන් ඒ තරහට තමයි ඔය වැඩේ කරන්නෙ. ඔය කොල්ලට ආවේසයක් නෑ. ඕකට මහ එවුන් උගන්නල තමයි ඔය බොරු කියන්නෙ.'' මේ විදියට ඒ අපවත් වෙච්ච හාමුදුරුවන්ට නිගරු කරන්න තමයි මේව කරන්නෙ කියල, අර උන් වහන්සේ ළඟින් හිටපු උපාසක ආදී පිරිස කියන්න පටන් ගත්තා.

ඊට පස්සෙ මේ පොඩි ළමය ආවේසයෙන් නැවතත් කතා කරන්න පටන් ගත්තා. ''උඹල දන්නවද මං ත්‍රිපිටකධාරී බව? ගෙනෙන් පිරිත් පොත, මගෙන් අහපන් ඒකෙ තියෙන ඕන ප්‍රශ්නයක්.'' දැන් මේ පොඩි එකා තමයි කතා කරන්නෙ. ඉතින් ඒ කාලෙ ලේසියට තිබිච්ච පිරිත් පොත ගෙනාවා. ''කියපන් ඕන ප්‍රශ්නයක් මම උත්තර දෙන්නෙ නැද්ද බලන්න.'' දැන් ඉතින් ධජග්ග සූත්‍රය කියන්න කිව්වම කියනවා, කරණීය මෙත්ත සූත්‍රය කියන්න කිව්වම කියනවා. අර පිරිත් පොතේ තියෙන සූත්‍ර ඔක්කොම මහ හඬින් මේ පොඩි ළමය කියන්න පටන් ගත්තා. එහෙම කියල අන්තිමට ආවේසයෙන්ම අහනවා, දැන්වත් උඹලට තේරෙනවද මම අහවල් හාමුදුරුවො කියල. දැන් ඉතින් අර බලන් හිටපු ඔක්කොම පිරිස මේ සිද්ධිය ගැන පුදුම වුණා. දැන් මේ පොඩි ළමය කොහොමද මේව කියන්නෙ? ඒ පොඩි එකාට කොහොමටවත් ඒව කියන්න තේරෙන්නෙ නෑ. මේ ළමය නැවතත් ආවේසයෙන් කතා කරන්න ගත්තා. ''දැන් හිතපල්ල මම ඒ හාමුදුරුවො තමයි. මට

ඉතින් වෙන කරන්න දෙයක් නෑ. මම මේ ටික කියන්නෙ, මැරුණම මෙහෙම දුක්ඛිත ලෝකයක් තියෙනව කියල කියන්න. පවු කරන්න එපා. උඹලවත් මේක විස්වාස කරපල්ල. මැරුනම ඉවර නෑ. මේ වචන ටික උඹලට කියන්න ලැබිච්ච එකත් මට ලොකු සහනයක්. ඒකයි මම මේ අවස්ථාව ලබා ගත්තෙ.''

දැන් මේ විදියට ඒ හාමුදුරුවො අමනුස්සයෙක් වෙලා අර පොඩි එකා හරහා මේ විස්තරය කිව්වා. ඉතින් වටේ ඉන්න අයත් දැන් මේ ආවේස වෙච්ච ළමයගෙන් ප්‍රශ්න අහනවා. කොච්චර කාලයක් ඔය තත්ත්වයෙන් ඉන්න වෙනවද කියල ඇහුවම, මට පේන හැටියට කල්ප 3 ක් මෙහෙම ඉන්න වෙනව, මේ විපාකය ගෙවන්න වෙනව කියල කිව්වා. මට පේන්නෙ එච්චරයි, මට තව ඉස්සරහට කොච්චර ගෙවන්න තියෙනවද දන්නෙ නෑ කියලත් කිව්වා. ඉතින් කල්ප 3 ක් කිව්වම සමහර විට ඒ අමනුස්සයට පේන මට්ටමට අන්තඃකල්ප වෙන්නත් පුළුවන්. දැන් ඉතින් මෙහෙම කියල, මේව කවද විඳල ඉවර කරන්නද කියල හූල්ලන්න පටන් ගත්තා. ''මට කරන්න දෙයක් නෑ. මං කියන්න තියෙන හරිය කිව්වා. කට්ටඩි මහත්තයෝ කැමැත්තක් කරන්න'' මෙහෙම කියනවත් එක්කම ළමය දරදඬු වෙලා සිහිය ආවා. ඊට පස්සෙ අර කට්ටඩි වැඩ කරන අය එකතු වෙලා මේ අමනුස්සයව නූලකට හිර කරල කුප්පියකට දාල මූඩිය වහල, ගලක බෝර ගහල සිදුරක් හදල ඒක ඇතුලට දැම්මා. ඊළඟට ඒක උඩින් කොන්ක්‍රීට් වත්කරල වැහුවා. දැන් ඉතින් ඕක බොහෝ කාලාන්තරයක් යනකල් දිරන්නෙ නෑ. එතකල්ම ඕක විඳින්න වෙනවා. කන්න බොන්නත් නෑ. කර්ම ශක්තියෙන් ජීවත් වෙලා ගල දිරනකල් කවද හරි ඕක අස්සෙම විඳවන්න වෙනවා. යම් කිසි විදියකින් ඔය ගල දිරල, අර කුප්පියත් දිරල හුළං පාරකින් හරි එළියට එන්න වෙලාවක් අහු වුනොත් නැවතත් එළියට පැන ගන්න පුළුවන්. හැබැයි එහෙම පැන ගත්තත් අර දුකින් නිදහස් වෙන්නෙ නෑ. අර කල්ප ගාන ඉවර වෙන කල්ම කොහේ හරි ඉඳගෙන පිච්චි පිච්චි ඉන්න වෙනවා. ඉතින් මේ වගේ කාරණා දකින්නෙ නැති අය කියනවා, ඕව මොන බොරු කතාද, කවුද මැරිල උපදින්නෙ, මළා ඉවරයිනෙ .... ආදී වශයෙන්.

තවත් හාමුදුරු නමක් හිටියා, උන් වහන්සේ තමන් ළඟින් නොගැලපෙන විදියට ඇසුරු කරපු කාන්තාවන් දෙන්නෙකුට හැමදාම පොළට ගිහින් බඩු ගේන්න කියල සල්ලි දෙනවා. ඒක පුරුද්දක් විදියට ගිහින් තිබුණා. ඊට අමතරව තවත් සම්බන්ධකම් පවත්වපු කාන්තාවො හිටියා. එතනදි දුප්පත් කාන්තාවො තමයි මේ හාමුදුරුවන්ගෙන් සල්ලි අරගෙන බඩු මුට්ටු ගන්නෙ. සල්ලි තියෙන කාන්තාවො යන්නෙ ඒ වගේ ආර්ථික වාසි ගන්න නෙවෙයි, මේ හාමුදුරුවන්ගෙ පෙනුමට, ඒ වගේම උන් වහන්සේ කරපු යම් කිසි ගුප්ත වැඩවලට, ඒ බලයට වශී වෙලා. මොකද සමහර අය ඉන්නවා බලයට කැමතියි. මහ කට්ටඩි හාමුදුරු කෙනෙක් නම් යාළු කරගන්න, ඇසුරු කරන්න කැමතියි. ''අපි බය නෑ, අපිට අහවල් හාමුදුරුවො ඉන්නවනෙ'' ඔය වගේ මහ මුළා අදහස් සමහර කාන්තාවන්ට තියෙනවා. ඒ වගේ වැඩ කටයුතු කරපු නිසාම මේ හාමුදුරුවොත් එක්ක සම්බන්ධ වෙලා හිටපු කාන්තාවොත් හිටියා.

ඊට පස්සෙ මම දන්න කියන



කෙනෙක් දවසක් මේ හාමුදුරුවො මුණ ගැහිල, හාමුදුරුවනේ ඕව හොඳද, සුදුසුද, ගැලපෙනවද කියල ඇහුවා. ''යකෝ මේ අවීචි මහා නරකාදිය කියන එක උඹල දන්නෙ නෑ, ඕක අසූචි මහා නරකාදිය'' උන් වහන්සේ මෙහෙම උත්තරයක් දුන්නා. ඒ කියන්නෙ අවීචි මහා නරකාදියට උන් වහන්සේ හිතාගෙන ඉන්නෙ මේ අසූචි මහා නරකාදිය තමයි ලොකුම අපාය කියල. වෙනත් විදියකින් කියනව නම් වැසිකිලිය. ලොකුම පාපෙ තියෙන්නෙ එතනයි කියල තමයි උන් වහන්සේ හිතාගෙන ඉන්නෙ. ''දැන් තමුසෙ හිතනවකො මං අසූචි මහා නරකාදියෙ ගියයි කියල. ඉතින් යකෝ කක්කුස්සියෙ ඉන්න පණුවො දන්නවද ඕක? හිතපංකො මම මැරිල පණුවෙක් වෙලා ඉපදුනයි කියල. ඉතින් ඌට බත්ද හරියන්නෙ අසූචිද? දැන් කක්කුස්සියෙ ඉන්න පණුවට අසූචි තිත්තද? ඉතින් ඕයි මං කාල ඉන්නවනෙ. ඌට හොඳ හින්දනෙ ඌ ඒක කකා ඉන්නෙ. ඉතින් වැඩිම පවු ඔච්චරයිනෙ. අසූචි මහා නරකාදියට වඩා තව එකක් තියෙනවයැ? වැඩි පුරම යන්නෙ ඕකටනෙ'' මේ තමයි අර මනුස්සයට මේ හාමුදුරුවො දුන්න උත්තරය. ඇත්තටම මේ හාමුදුරුවො දැන ගෙන හිටියෙ නෑ, අවීචි මහා නරකාදිය කියන්නෙ මොකක්ද කියලවත්. වචන උච්චාරණය කරන කොට අසූචි වගේ කියවෙන නිසා, උන්වහන්සේ හිතාගෙන හිටියෙ මේ මිනිස්සු පාවිච්චි කරන වැසිකිලිය තමයි අවීචි මහා නරකාදිය කියන්නෙ කියල.

ඒ වගේම යම් කිසි ගුප්ත වැඩ වශයෙන් හූනියම් කිරීමත්, හූනියම් කැපීමත් මේ හාමුදුරුවො සිද්ධ කළා. දවසක් උන්වහන්සේම කරපු හූනියමක් දන්නෙම නැතිව උන්වහන්සේ අතින්ම කැපුණා. ඒකට සම්බන්ධ පුහුල පපුව උඩ තියාගෙන කපන කොට එක පාරටම ගිනි ගත්ත වගේ වුණා. ඒ කියන්නෙ උන් වහන්සේ කරපු හූනියම උන්වහන්සේටම වැදුනා. ඊට පස්සෙ දැවෙන්න පටන් ගෙන, ඉන්න බෑ කකියනව කියල කෑ ගහන්න පටන් ගත්තා. පස්සෙ මොකද කළේ, පිරිස එකතු වෙලා ඉස්පිරිතාලෙට ගෙනිහින් භික්ෂු වාට්ටුවට ඇතුල් කළා. ඊට පස්සෙ මේ හාමුදුරුවො වාට්ටුව වටේට තමන් ඇසුරු කරපු කාන්තාවො 4 දෙනෙක්ගෙ නම් කිය කියා දුවන්න පටන් ගත්තා. තොපි එකෙක්වත් නැත්ද මං පිච්චෙනවෝ, මාව බේරගනියෝ කිය කියා කෑ ගහල, වටේට දුවල අන්තිමට වැටිල මළා.

එතකොට බලන්න, හාමුදුරුවො කෙනෙක් වෙලත් අර විදියට තමයි හිතුවෙ. නමුත් අන්තිමට යථාර්ථය කොයි විදියටද වුනේ? මේ වගේ, මිනිස්සු දන්නෙ නැතිව විවිධ දෘෂ්ටිවල එල්බ ගෙන විවිධාකාරයෙන් කියනව, කරනවා. ''මොන පිං පවුද මළාට පස්සෙ ඔක්කොම ඉවරයිනෙ! වෙන මොනව වෙන්නද? පවු කරල කාටද එල දුන්නෙ? පින් කරල කාටද ලැබුනෙ? ඉන්න ටිකට හොඳට කාල බිල ඉන්න එපැයි.'' මේ විදියට නොයෙක් භෞතික තර්කවාද අරගෙන කතා කරනවා. ඕකට තමයි විභව තණ්හාව කියල කියන්නෙත්. ඒ කියන්නෙ මෙතනින් මළාට පස්සෙ තවත් භවයක උපදින්නෙ නෑ කියල පංච කාමයටම ගැතිවෙලා, වහල් වෙලා හොඳට ආස්වාද විඳිනවා. නමුත් ඒකෙ මෙලොවදීම පේන්න තියෙන හරිය මැරෙන්න ඉස්සෙල්ලම දකින්න ලැබෙනවා. ඒ කියන්නෙ අර කිව්ව විදියට මරණාසන්න මොහොතෙ ඊට අනුකූළ නිමිති ඇඳල ඇවිත් කෑ ☞

ගහනවා, විලාප දෙනවා. ඉතින් කලාතුරකින් කෙනෙක් තමයි ඔතනින් අහක් වෙලා සුගතියකට යන්නෙ.

මම එක අවස්ථාවක ඔය ගන්ධබ්බ ලෝකෙ ඉන්න අමනුස්සයෙක් දැක්කා. ඒ අමනුස්සයට ඒ ලෝකෙ ඉන්න අනෙක් අය කතා කරන හැටි කියන්නවත් බෑ. අමු තිත්ත කුණුහරුපයක් මුලට දාල... කුණා කියල තමයි කතා කරන්නෙ. අහවල් කුණා එනව කියනවා. බලපුවමම හෙළුවෙන් ඉන්නෙ. ඉස්සරහ ලිංගේන්ද්‍රිය තියෙන ප්‍රදේශයේ මීමැසි පොදියක් වගේ පණුවො පොදියක් ඉන්නවා. ඒ කියන්නෙ කුණුවෙලා පණුවො ගහල. ඒ පෙරේත ලෝකෙ පෙරේතයෙක් වෙලා ඉපදිලා. මේ පෙරේතය යන කොට අනික් පෙරේතයො කෑ ගහනව, අන්න අහවල් කුණා එනව කියල. ඉතින් ඒකගෙ වැඩේ දුවන එකමයි. මොකද මෙහෙන් නලිය නලිය පණුවො කනවා, ඒ අස්සෙ අනික් එවුන් කෑ ගහනවා. ඒ තමයි කර්ම වේගයට අනුව ඒ ලෝකෙ නිර්මාණය වෙලා තියෙන හැටි. මනුස්ස ලෝකෙ ඉදෙද්දි කෙනෙකුට දූෂණයක්, අපරාධයක් කරල ඒකෙ විපාකය තමයි දැන් මේ ඇවිල්ල තියෙන්නෙ. ඉතින් හෙළුවෙන් එහෙ මෙහෙ නිච්චි නැතුව දුවනවා. අර දැවිල්ල සියුම් ශරීරය ඇතුලටම කා වැදිල. ලිංගේන්ද්‍රියක් පේන්න නෑ. තියෙන්නෙ නිකං පණු පොදියක් විතරයි. පණුවො නලියනවා. පිට ඉන්න පණුවො ඇතුලට යනවා, ඇතුලෙ ඉන්න එවුන් පිටට එනවා. මෙහෙම දඟල දඟල ඉන්නවා. සමහර විට ඒ පණුවො කර්ම ශක්තියෙන්ම මැවිච්ච එවුන් වෙන්නත් පුළුවන්. එහෙම නැත්නම් අත්බැව් ලබපු එවුන් වෙන්නත් පුළුවන්. එහෙමත් නැත්නම් මේ දෙවර්ගයම වෙන්නත් පුළුවන්. මේ වගේ අවස්ථා හරියට තියෙනවා.

ඒ වගේම තමන්ගෙ පිරිසට, දේපල වස්තු, මිල මුදල්වලට දැඩිව ආසා කරල, ඒව උපාදාන කරගෙන මැරුනමත් ප්‍රේත අත්බැව්වල ඉපදිලා, ඒ තමන්ට ඥාති හිතවත් පුද්ගලයින්ගෙ ශරීරවලට සම්බන්ධ වෙලා, එහෙම නැත්නම් ඒ ඇසුරු කරපු වස්තුවලටම ඇලිල දුක් විඳ විඳ ඒව ඇසුරු කරන්න වෙනවා. දැන් මේ වගේ අවස්ථාවක මම අත්දැකපු තවත් සිද්ධියක් තමයි මේ කියන්න යන්නෙ. නිතර දෙවේලෙ වන්දනා ගමන් ගිය එක්තරා උපාසක අම්ම කෙනෙක්, දඹදිව වන්දනා ගමන් ගියාට පස්සෙ තමන් ගියපු වාර ගණන, කියපු කරපු දේවල් ආදිය පින් පොතක ලියන සිරිතක් තිබුණා. මොකද කොයි වෙලාවක හරි මැරෙන්න එන කොට අනික් අයට කියල කියව ගන්න, මතක් කර ගන්න. ඒකත් එක්තරා ප්‍රයෝග සම්පත්තියක්. ඒ කියන්නෙ මරණාසන්න මොහොතෙ, කලින් කරපු පිනක් දහමක් මතක් වුනොත් සුගතියකට යන්න පුළුවන් කියල අහල තිබුණා. හැබැයි මේ උපාසක අම්ම වත්තෙ පිටියෙ තියෙන ගස්වැල් ආදියට බොහොම ආසයි. ඒ නිසා කොයි වෙලාවකවත් නිකං ඉන්නෙ නෑ, මොනව හරි වත්තෙ පිටියෙ කටයුතුමයි කරන්නෙ. දැන් ඒ වගේ කටයුතු කරන්න එපා කියන එක නෙවෙයි මේ කියන්නෙ, ඒවට දැඩි ඇල්මකින් ඇලිල බැඳිල උපාදාන කර ගෙන හිටියොත් සිද්ධ වෙන භයානකත්වය තමයි මේ කියන්නෙ.

ඔහොම ඉඳල ඉතින් කොහොම හරි මාරාන්තික මොහොතක් ආවම අනික් අය ලවා මේ පිං පොත කියව ගත්තා. කියන්න පුතේ, කියන්න කියන්න .... කියල කියන කොට, ඇගේ ඥාති පිරිසත් ඉතින් එක දිගටම කියාගෙන ගියා. හැබැයි මේ උපාසක අම්ම මැරිල චුත වෙන කෙනෙක් නෙවෙයි, ගන්ධබ්බයෙක් විදියට ඒ භවයෙම ඉන්න ආයුස තියෙන කෙනෙක්. නමුත් ඒක එයා දන්නෙ නෑ. ඒ නිසා තමයි අර පිං පොත කියවද්දි ස්වභාවික සිහිය තියෙන්නෙ. එතකොට මේ මස් ලේ කයින් අහක් වෙන්නත් බොහොම කිට්ටුයි. හොඳ සිහි කල්පනාවත් තියෙනවා. කියන ඒවත් හොඳට ඇහෙනවා. ඉතින් මේ පිං පොත කියවගෙන යන කොට තමන් වන්දනා ගමන් බිමන් ගියපු හැටි, නැවතිච්ච හැටි, කන්න බොන්න ඉඳගත්තු තැන් ආදී සියල්ලම කියවුණා. අවසාන හරිය කියාගෙන යන කොට, ආ.... පොඩ්ඩක් හිටපංකො හිටපංකො කිව්වා. ''ඔය අර කොස් ගහ තිබ්බච්ච හරියනෙ කියන්නෙ, අනේ බං ඒ ගහේ මුල ඉඳන් අගට යන කල් කඳ හැම තැනම අඩියක් නෑර ගෙඩි. දැක්කම මට ආසාවෙ බෑ.'' දැන් මෙහෙම කියනවත් එක්කම පණ ගියා.

දැන් ඉතින් පිං පොත තමයි කියෙව්වෙ. නමුත් අවසානයේ සිද්ධ වුනේ, කොස් ගහේ ගෙඩි ටික මතක් වෙලා ඒකට ආසාවෙන් ඒ ගෙඩි ටික දිහා බලාගෙන මැරෙන්න. ඉතින් ඔය පිං කටයුතු කරන අතර දැක්ක දෙයක් හිතේ තදට මේ විදියට කා වැදිල තිබුණා. අන්තිමට ඒක තමයි උපාදාන කළේ. දැඩි ආසාවෙන් බැඳ ගත්තෙ මේ ලෝකෙ තියෙන දෙයක්. ඒ වගේ දේකට දැඩි ආසාවෙන් බැඳුනොත්, ඒ තාක් ඒ පුද්ගලයට සුගතියකට යන්න බෑ, එතනම ඇලෙනවා. අන්තිමට බලන කොට තමන්ගෙම වත්තෙ කොස් ගහක් යට අමනුස්සයෙක් වෙලා උපන්නා. ඒ කියන්නෙ අර මනුස්ස ගන්ධබ්බ තත්ත්වයෙන් අමනුස්ස බවට පරිවර්තනය වෙන අවස්ථාවක්. නමුත් මේ නිකං කෙනෙක් නෙවෙයි, ලෝක සම්මතයේ හොඳට පිං දහම් කරපු උපාසක අම්ම කෙනෙක්. දැන් කල්පනා කරල බලන්න, මනුස්සයො කරන කියන දේවල් දිහා පිටින් බලල අපිට මේ වගේ අවස්ථා නිගමනය කරන්න බෑ, හොයන්න බෑ. මැරෙන බහුතරය සතර අපාගත වෙනව කියන්නෙත් ඕක තමයි.

ඉතින් අන්තිමට බලන කොට මේ අමනුස්සය තමන්ගෙ ගෙදර කෙනෙකුට ආවේස වෙන්න පටන් ගත්තා. හැබැයි ආවේස වුනාට කතා කරන්නෙ නෑ. නමුත් ඒකට හේතුව මොකක්ද කියල ඒ අය දන්නෙත් නෑ, එහෙම හොයන්නත් බෑ. ඊට පස්සෙ මේක අයින් කර ගන්න දේවාල ගානෙ යන කොට, මේ මළගිය කෙනා හරහා සාස්තර කියන්න ආදී කටයුතු කර ගන්න වරම් දෙන්න පුළුවන් කියල ඒ වගේ දේවල් තමයි කියල තිබුණෙ. නමුත් ඒ ගෙදර අය කියනවා, අනේ අපිට වරම් ඕන නෑ, සාස්තර කියන්න ඕන නෑ, මේක අයින් කර ගන්නයි ඕන කියල. මොකද ඒ අයගෙ එහෙම බලාපොරොත්තුවක් නෑ, යමක් කමක් තියෙන උදවිය. එතකොට ඒ දේවාල ආදියෙන් කිව්වලු, එහෙම අයින් කරන්න බෑ, අයින් කළොත් උඹල ලෙඩ වෙයි, කරදර වෙයි කියල. ඒ නිසා මෙයාට අහවල් දේවාලෙට යන්න මුඛ වරම් ගන්න කියල ඔහොම කතා තමයි කියල තිබුණෙ. ඔය විදියට මේ ආවේසය අහක් කර ගන්න බලාපොරොත්තුවෙන් නොයෙක් තැන් වලට ගිහින් තිබුණා. ඒ තැන්වලිනුත් අර වගේ දේවාරූඪයෙන් මුඛ වරම් ගන්න පුළුවන් කතා තමයි කියල තිබුණෙ.

දැන් මේ කාලෙ වෙන කොට මම යම් දිහාවක පූජා විධි, සෙත් ශාන්ති ආදී කටයුතු කරමින් හිටියෙ. ඒ ඔස්සෙ තමයි මේ අය මං ළඟටත් ආවෙ. ඒ වගේම මේ මියගිය අය සම්බන්ධයෙන් මීට හුඟක් ඉස්සර කාලෙක වෙච්ච සිද්ධියකුත් තිබුණා. එතකොට මට එච්චර වයසත් නෑ. මං ඉස්කෝලෙ යන කාලෙ. ඒ කාලෙ එක්තරා පිරිසක් මහා සති පට්ඨාන සූත්‍රයේ කොටසක් කියල දෙන්න කියල මගෙන් ඉල්ලීමක් කළාම, මං ඉතිං ඒක තෝරල දුන්නා. ඒක කියා දෙන කොට ඔය මියගිය උපාසක අම්මත් ඔතන ඉඳල එතනින් නැගිටල අහකට ගියා. අහකට ගිහින් මම යනකල් බලන් ඉඳල අනික් අයට මෙහෙම කියනවා. ''ඔය බොරු කියන්නෙ. ඕව අහන්න යන්න එපා. ඔය ඉස්කෝලෙ යන කොල්ලො කොහොමද ඕව දන්නෙ'' පස්සෙ මට එතන හිටපු අය කිව්ව, බලන්න මෙච්චර හොඳට කියල දීලත් අර උපාසක අම්ම මෙහෙම කිව්වනෙ කියල. මම කිව්ව ඉතින් කවද හරි එයාට මං ළඟට එන්න සිද්ධ වෙයි, එයාගෙන්ම දැන ගන්න ලැබෙයි කියල. මෙහෙම නිකමට කිව්ව මිසක් මුකුත් දැකල කිව්ව නෙවෙයි. අන්තිමට ඉතින් කොහොම හරි මේ පිරිස මේ ප්‍රශ්නයට විසඳුම් ගන්න මාව ☞

හොයාගෙන ආවා. මොකද ඒ අය දැන ගෙන හිටිය ඒ කාලෙ මම ඒ කටයුතු කරල දෙන බව. ඇවිත් බලපුවම මේ මළගිය කෙනා ඒ ගෙදර කෙනෙක්ගෙ ඇඟට ආවේස වෙලා ඉන්නවා.

ඉතින් මම ඇහුව, මේ ආවේස වෙලා ඉන්න කෙනා කවුරු කියලද සාස්තර අහපු තැන්වලින් කිව්වෙ කියල. දේවත්වයක ඉන්නවා, මුඛ වරම් දෙන්න පුළුවන් කියනවා, නමුත් අපිට ඕන මෙයාගෙන් කරදරයක් නැතිව ඉන්නයි කියල ඒ අය කිව්වා. නමුත් ඉතින් මම දැන ගෙන හිටියා, මට පෙනුනා, මෙයා ඉන්නෙ දේවත්වයක නෙවෙයි, අර ප්‍රේත ගතියට පරිවර්තනය වෙලා එන මට්ටමක කියල. ඒ කියන්නෙ අර මිනිස් ගන්ධබ්බය ප්‍රේත තත්ත්වයට පරිවර්තනය වෙන අවස්ථාවක්. ඒ වගේ ගන්ධබ්බ ප්‍රේත තත්ත්වයට ගියයි කියන්නෙ, මොනව හරි හේතුවක් ඇදිල ඇවිත් දුක්ඛිත තත්වයට පත් වෙලා ඉන්නවයි කියන එක. මොකද මේ උපාසක අම්ම කොච්චර ලෝක සම්මත පිං දහම් වැඩ කළත්, උපාදාන වෙන පැත්ත හෙවත් දැඩිව ආසා කරල තිබුණෙ පිනට නෙවෙයි, අර වගේ ලෝකෙ තියෙන වස්තුවලට. හැබැයි දැන් මේ පුද්ගලයා මළත්, චුත වෙලා නැති නිසා ගන්ධබ්බ තත්ත්වයෙන් අහකට ගිය කෙනෙක්.

දැන් ඉතින් ඉස්සෙල්ලම මම එක්තරා කිරණ ශක්තියක් දුන්නම, මේ මියගිය කෙනා ක්ෂණයකින් අර ගෙදර කෙනෙකුට ආවේස වුණා. හැබැයි කතා කරන්නෙ නෑ, ආවේසයෙන් ඉන්නවා. ඉතින් ඒ ආවේස වෙච්ච අයත් ඉඳෙද්දිම, මම වටේ හිටපු පිරිසගෙන් ඇහුව, දෙවියො මොනවටද කැමති, පෙරේතයො මොනවටද කැමති කියල. මොකද මේ අයට අර දේවාලවලින් කියල තිබුණෙ, දේවත්වයක ඉන්නව මුඛ වරම් ගන්න පුළුවන් කියල. නැවතත් මම ඇහුවම, මේ කෙනා දෙවියෙක් කියලද ප්‍රේතයෙක් කියලද හිතාගෙන ඉන්නෙ කියල, ඒ අය දන්නෙ නෑ කිව්වා. ඊට පස්සෙ අපි එහෙනම් බලමු කියල, දෙවියො මොනවටද කැමති, ප්‍රේතයො මොනවටද කැමති කියල මම ඒ පිරිසගෙන්ම ඇහුවා. උත්තර නැති නිසා මමම කියල දුන්නා. ප්‍රේතයො හොටු කබ මල මුත්‍රවලට කැමතියිනෙ, එතකොට දෙවියො? සුවඳ දේවල්වලට, අමෘතය වගේ පිරිසිදුවට තියෙන දේවල්වලට කැමතියි.

මෙහෙම කියල මම ඒ අයගෙන් ඒක හරිද කියල ඇහුවා. මොකද නිකම්ම නොකිය හේතුඵල පෙන්වන්න ඕන නිසා. ඒ අය ඉතින් ඒක හරියි කියල පිළිගත්තා. මමත් ඉතින් එහෙනම් බලමු කියල, දැන් දෙවඟනක් නම් දෙවියන්ට කැමති වෙන්න එපැයි, අපි බලමු පොඩි විස්තරයක් කියල, මං දෙවඟනන් ටිකක් ගෙන්වල දෙන්නම් කියල එක්තරා සමාධි කවි වර්ගයක් කිව්වා. **''සුන්දර සිරි බරයි ගත හිත සුසුදු වෙතී - පිරිසිදු කයේ ගුණ හදවත සුවඳ ඇතී - ආදර වදන් සුවයෙන් හැම සුවඳ ගතී - දෙවඟන ළඟ තිබේ එනු මැන සියලු පැතී''** මේ වගේ කවි ක්‍රමයකින් දෙවඟනන්ගෙ තියෙන ලස්සනයි, ගුණයි, ප්‍රිය මනාපයයි කියන කොට අර ආවේස වෙච්ච කෙනා දැවෙන්න අරගෙන කෑ ගහන්න පටන් ගත්තා. දැන් ඉතින් හති දම දමා පිඹිනවා. අත් දෙක දික් කරගෙන දඟලනවා. මං ඇහුව ඇයි මේ පිච්චිලා වගේ දඟලන්නෙ, දෙවඟනක් නම් සංතෝස වෙන්න එපැයි කියල. දෙවඟනක් එනව නම්, ඒ ගැන මතක් කරන කොට ඔය දැවෙන්නෙ මොකද? දැන් ඉතින් පිරිසත් පුදුමයෙන් බලාගෙන ඉන්නවා.

ඊළඟට ප්‍රේතයො මොනවටද



කැමති අපි බලමු කියල, මම තවත් සමාධි කවි කිහිපයක් කිව්වා. **''හොටු කබ පෙරා ගෙන - මළ මූ රීරි බී ගෙන - කුණු ජරා කා ගෙන - වරෙව් නොමිනිස් මෙතන රී ගෙන''** මෙහෙම කියන කොට අර ආවේස වෙච්ච කෙනා තලු ගගහ කන්න පටන් ගත්තා. දැන් ඉතින් මේ ආවේස වෙච්ච කෙනා හරි සන්තෝසෙන් අත්පුඩි ගහනවා, තලු ගහනවා. හැබැයි මම කිව්වෙ නෑ දේවද, පෙරේතද කියල. මම ඇහුවෙ මොනවටද මේ අය කැමති, දැන් ඕගොල්ලන්ට මොනවද තේරෙන්නෙ කියල. දැන් ඉතින් ඔක්කොම එක්ක ඔළුවෙ අත තියා ගන්නවා, පපුවෙ අත තියා ගන්නවා. අනේ බුදු මහත්තයො, මොකක් හරි කරල අපිට මේක අයින් කරල දෙන්නකො කියල අන්තිමට කිව්වා. මම කිව්ව ඕක එහෙම ලේසියෙන් අයින් කරන්න බෑ, මෙයා වෙනුවෙන් බණක් කියවල දානයක් දීල, පුළුවන් නම් පිං අනුමෝදනාවක් කරල බලන්න, මට වෙන කරන්න දෙයක් නෑ කියල.

මොකද සමහර විට ඒ මනුස්සයට එහෙම දෙයක් කර ගන්න තරම් හේතු වාසනාවක් තියෙන්න නැතුව ඇති. ඒ නිසා ඒ ගැන යොමු කරල ඊට එහා විසඳුමක් දෙන්න තරම් අදහසක් මට ආවෙත් නෑ. ඊට පස්සෙ ඒ අය මාව හමුවෙන්න ආවෙත් නෑ. එහෙම විශේෂ ප්‍රතිකර්මයක් නොඑන්නත් හේතු තියෙන්න ඇති. මොකද මේ උපාසක අම්ම දඹදිව වන්දනා ගමන් යන්න පිරිස සූදානම් කරන කොට, තමන්ගෙ වත්තෙ තිබ්බ කරාබු නැටි එකතු කරල ඒ පිරිසගෙ අතට වෙන වෙනම පාර්සල් හදල දීල, එහේ ගියාට පස්සෙ නැවතත් ඉල්ල ගන්න සිරිතක් තිබුණා. මොකද එක්කෙනෙකුට ගොඩක් ගෙනියන්න බෑ බදු අය කරනවා. ඒ නිසා පිරිසට ටික ටික බෙදල දුන්නම ඒ ගැටළුව නෑ. ඉතින් එහේ ගියාට පස්සෙ අර දීපු පාර්සල් ටික ඔක්කොම ඉල්ල ගෙන, මේ උපාසක අම්ම ඒව හොඳ ගානකට එහෙදි විකුණල සල්ලි ටික ගන්නවා. එතකොට ඒ අනිත් පිරිසගෙන් සල්ලි එකතු කරල තමයි මේ උපාසක අම්ම ඒ වන්දනා ගමන් ගියෙත්. ඇය ඒ කණ්ඩායමේ නායිකාව වෙච්ච නිසා තමන්ගෙ අතින් මුදල් වියදම් වුනෙත් නෑ. එතකොට මේ දඹදිව වන්දනා ගමන් ගියේ ඔය වගේ හම්බ කර ගන්න වැඩවලටත් එක්ක, පිනක් දහමක් කර ගන්න විතරක් ගියේ නෑ. **ඉතින් පළවෙනියට උපාදාන කළේ මුදල් හම්බ කිරීම, පින් දහම් දෙවෙනි වුණා.**

දැන් එතකොට මේ ඉන්නෙ පෙරේත බවට පරිවර්තනය වේගෙන එන අර ගන්ධබ්බය. නමුත් තවම පරිවර්තනය වෙලා ඉවර නෑ. ඒ මට්ටමට ළං වෙලා. හැබැයි ගන්ධබ්බ වෙලත් මේ පුද්ගලයා කන්නෙ බොන්නෙත් ඒ වගේ ජරාවමයි. ඒ වගේ මහ ජරා ලෝකයක තමයි මේ ගන්ධබ්බ ප්‍රේතයො ඉන්නෙ. බැරි වෙලාවත් ඔය වගේ පරිවර්තනය වෙන මොහොතක ජරා මානසිකත්වයකට හිත ගිහින් චුත වෙලා උපන්නොත් එහෙම මහා කුණු ජරාවමයි කන්න වෙන්නෙ. ඒවම තමයි ඒ ලෝකෙදි ලැබෙන්නෙත්. සමහරුන්ට කෑමට මළ මුත්‍රවත් නෑ. ඒ තරම් දුක්ඛිතයි.

මේ වගේ යම් යම් ද්‍රව්‍ය වස්තුවලට උපාදාන වෙලා ලෝභකමින් ජීවත් වෙච්ච අය මළාට පස්සෙ, ඒ වගේ දුගතිවල ඉපදීම සම්බන්ධයෙන් තවත් පැහැදිලි සාක්ෂියක් මට අත්දකින්න ලැබුණා. මේ සිද්ධිය මම ඉගෙන ගන්න කාලෙ වෙච්ච දෙයක්. ඒ කාලෙ මම එක්තරා පන්සලකට ගිහින් මහණ වෙන්න බලාපොරොත්තුවෙන් නතර වෙලා ඉන්න කොට දැන ගන්න ලැබිච්ච දෙයක්. එක්තරා හාමුදුරු නමක් පන්සලක වැඩ හිටියා. උන් වහන්සේ බඩු මුට්ටුවලට හරිම ආසයි. බණ

දේසනා කරන්න වෙනත් පළාත්වලට වඩින සිරිතකුත් උන්වහන්සේට තිබුණා. ඉතින් දවසක් බණක් කියන්න කියල තමන්ගෙ ගෝල ළමයෙක් එක්ක ඈත පන්සලකට වැඩියා. එතනදි පිරිකරක් විදියට උන් වහන්සේට ඇඳක් ලැබුණා. සාමාන්‍යයෙන් භික්ෂූන් වහන්සේලා අතර සිරිතක් තියෙනව, ඈත ගමක පන්සලකට වැඩල පිරිකරක් ලැබුනොත් ඒක ඒ ගමේ පන්සලේම තියල එනව මිසක් අරගෙන යන්නෙ නෑ. තමන්ට පූජා කරපු නිසා අරගෙන යන්න අයිතියක් තිබුනත්, සාම්ප්‍රදායිකව එන සිරිතක් වශයෙන් එහෙම අරගෙන යන්නෙ නෑ. නමුත් උන් වහන්සේ මේ ඇඳට බොහොම ඇලුම් කළා. ඒ නිසා ඒක ලැබිච්ච ගමන්ම, මට මේක අපේ පන්සලට ගෙනියන්න ඕන කියල කෑ ගහන්න පටන් ගත්තා. ඉතින් ඒ ගමේ පන්සලේ හාමුදුරුවොත්, අපිට ඕව කරන්න බැනෙ පුළුවන් විදියට ගෙනියන්න කියල කිව්වා. ඒ පාර ඉතින් ගෙනියන්න විදියක් නැති නිසා, අර තමන්ගෙ ගෝල ළමයත් එක්ක ඇඳේ පොලු ටිකයි ලෑලි ටිකයි ඔක්කොම ගලවල මිටි බැඳල කද වගේ හදා ගත්තා. ළමයට එක පැත්තක් අල්ල ගන්න කියල, උන් වහන්සේ අනිත් පැත්ත අල්ල ගෙන, අඳන කඩේ විතරක් ඇඳගෙන මහ රෑ කැළෑ පාරවල්වලින් බොහොම වෙහෙස මහන්සි වෙලා, පාන්දර 3 විතර වෙන කොට තමන්ගෙ පන්සලට ආවා. මොකද ඒ කාලෙ එහෙම ලේසියෙන් යන්න එන්න පුළුවන් ප්‍රසිද්ධ පාරවල් තිබුනෙත් නෑ.

දැන් ඉතිං ගියපු හැටියෙම උන් වහන්සේට මේ ඇඳ අටවගෙන ඒකෙ සැතපෙන්නත් ඕන වුණා. ඒ නිසා කාමරයට ගිහින් කොහොම හරි මහ රෑම මේ ඇඳත් අටව ගෙන ඒකෙ බුදිය ගත්තා. පහුවදා උදේ බලන කොට මේ හාමුදුරුවො අර ඇඳේම අපවත් වෙලා. දැන් ඉතිං මේ මොකක්ද වුනේ කියල මේකෙ අගක් මුලක් හොයා ගන්නත් බෑ, කොහොම හරි ඉතින් ඒ අවසන් කටයුතු ඉවර කළාට පස්සෙ ටික කලක් ගිහින්, මම හිටපු පන්සලේ හාමුදුරුවො නමක් අර අපවත් වෙච්ච හාමුදුරුවො හිටපු පන්සලේ වස් වසන්න ගියා. මේ හාමුදුරුවො එක දවසක් ගිහින් ඊළඟ දවසෙ හිටියෙ නැතිව උදේ පාන්දරම, මට එහේ ඉන්න බෑ කියල ආපහු දුවගෙන ආවා. මම ඇහුව ඇයි හාමුදුරුවනේ ආවෙ කියල. කෑ ගහන්න එපා, ඕව කියන්න බෑ කිව්වා. මම ඇහුව ඇයි මොකද වුනේ කියල. පස්සෙ කියන්නම් කියල, මම තුන් හතර වතාවක් විතර අහන කොට, කාටවත් කියන්න එපා, මේ හාමුදුරුවන්ට නිගරු වෙයි කියල වෙච්ච සිද්ධිය මාත් එක්ක මේ විදියට කිව්වා.

මේ හාමුදුරුවො අර පන්සලේ වස් වසන්න ගියාම නිදා ගන්න දීල තිබුනෙ අර ඇඳ. යන්තම් නින්ද යාගෙන එන කොට මහ හයියෙන් හූල්ලන සද්දයක් ඇහෙනවලු. ඉතින් මේ හාමුදුරුවො ගැස්සිලා එක පාරටම ඇහැරුනාලු. නමුත් බලන කොට හූල්ලන කෙනෙක් නැතිලු. හැබැයි කාමරේන්මලු ඒ හූල්ලන හඬ ඇහෙන්නෙත්. නැවතත් නිදා ගන්න කොට අර විදියටම සද්දෙ එනවලු. ඉතින් හාමුදුරුවන්ට බය හිතුනලු. මොකද ඒ සද්දය අහගෙන ඉන්න බැරි තරම් මහා භයානක හූල්ලන සද්දයක්ලු. ඊළඟ සැරේ කාමරේ මුල්ල ළඟින් ඒ සද්දය ඇහෙන්න ගත්තලු. ඊට පස්සෙ ඇස් පියාගෙන අඩ නින්දෙන් වගේ හිටියලු, මොකද මේ වෙන්නෙ කියල බලන්න. එතකොට මේ හාමුදුරුවන්ට පේන්නම කෙනෙක් හූල්ලනවලු. හාමුදුරුවන්ගෙ ඇඟ හිරි වැටුනලු. බලන කොට වැරහැලි වෙච්ච සිවුරක් ඇට සැකිල්ලකට පොරවල තියෙනවලු. සිවුරු පොටක් තිබුන නිසා හාමුදුරු කෙනෙක් කියල දැන ගත්තලු. ඉතින් මේ හාමුදුරුවො අර හූල්ලන ඇට සැකිල්ල දිහා බලල ඇහුවලු, ඔබ කවුද කියල. අනේ උන්නාන්සේ මං ඇඳ හදා ගෙන රෑ බුදිය ගත්තම ඇඳෙන් වැටුනනෙ කියල කිව්වලු. එහෙම කියල නැවතත් හයියෙන් හූල්ලන්න පටන් ගත්තලු. දැන් මේ හාමුදුරුවො බය වෙලා ගැස්සිලා ඇඳේ ඉන්නෙ නැතිව අහකට ගිහින්, එළිවෙනකල්ම නිදා ගන්නෙ නැතිව ඉඳල පාන්දරම කාටවත් නොකිය එන්න ආවා. ඇවිත් කාටවත් කියන්න එපා කියල, මම තුන් හතර වතාවක් අහන කොට තමයි ඔය විස්තරේ කිව්වෙ. ඊට පස්සෙ නැවතත් උන් වහන්සේ ඒ පන්සලට වස් සමාදන් වෙන්න ගියේ නෑ.

දැන් අර කලින් කියපු හාමුදුරුවො අර ඇඳට ලෝභකමින් මැරිල ශ්‍රමණ පෙරේතයෙක් වෙලා තමයි දැන් ඒ ඇඳම ඇසුරු කරගෙන දුක් විඳින්නෙ. එතකොට **මේ හාමුදුරුවො සත්තු මැරුවෙත් නෑ, හොරකම් කළෙත් නෑ, කාම සේවනයක යෙදුනෙත් නෑ, බොරු කියල, මත් පැන් පානය කරලත් නෙවෙයි. හැබැයි පෙරේත වෙන්න ඒව නොකළට තව පවු ජාති තියෙනවා. මේ ලෝභයෙන් බඳාගන්න ගිහින් නොගැලපෙන දේවල් කළාම ඇති වන තත්ත්වයක හැටි. ඒක තමයි අද හුගක් අය දන්නෙ නැත්තෙ. ඉතින් අපි කාටවත් වරදක් කරන්නෙ නෑ, අපේ ඒව බලාගන්න එකනෙ අපි කරන්නෙ, අපේ ඒවට ආස කළාම මොකක්ද තියෙන ප්‍රශ්නෙ ... ඔය ආදී වශයෙන් මිනිස්සු නිකං භෞතිකවාදී කතා කියනවා. නමුත් ඇත්ත වශයෙන්ම ලෝභකමේ තියෙන ස්වභාවය ප්‍රේත අත්බැවට පත් කරන්න හේතු වෙනවා.** අර ඇඳගෙන හිටපු සිවුරට ලෝභකම් කරල ඉනි කුණෙක් වෙච්ච හාමුදුරු නමක් ගැන කතාවක් මීට පෙරත් සඳහන් කළා. එදා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ වෙච්ච ඒ සිද්ධිය හා සමාන මේ කාලෙ වෙච්ච සිද්ධියක් තමයි මේ කිව්වෙ.

ඉතින් මේ වගේ අවස්ථාවල මේ විදියට ප්‍රේත අත්බැව් ලබල ඉන්න කෙනෙක් එතනින් මුදවනව කියන්නෙ ලේසි පහසු වැඩක් නෙවෙයි. කෙනෙකුට යම් කිසි සමාධියක්, දිව්‍යැසක්, අභිඥා බලයක් ආදී විශේෂ ශක්තියක් තියේ නම්, ඒ පෙරේත අත් බැවේ ඉන්න කෙනා බලාපොරොත්තු වෙන දේ දිව්‍යැසින් බලල, ඊට අනුකූල දෙයක් මවල දෙන්න පුළුවන් කමක් තියෙනව නම්, ඒ වගේ කෙනෙක් මුදව ගන්න පුළුවන්. එතකොට ඔයිට වඩා හොඳ රත්තරං ඇඳක් (එහෙම නැත්නම් ඒ උපාදාන කරගත්තු වස්තුවට වඩා හොඳ වස්තුවක්) මවල දෙන්නම්, ඔය දූෂ්‍ය අදහස අත් හැරල චිත්ත ප්‍රසාදයක් ඇති කර ගෙන අර රන් විමන භාර ගන්න කියල, ඒ වගේ අභිඥා බලයක් තියෙන කෙනෙකුට ඕන නම් එහෙම දෙයක් මවල දෙන්න පුළුවන්.

හැබැයි ඒ වගේම ඒ ප්‍රේතයටත් ඒකට හේතු වාසනා තියෙන්න ඕන. එහෙම අවස්ථාවක් යෙදුනොත් තමයි ඒ වගේ කෙනෙකුගෙ හිත ඒකෙන් වෙනත් දිහාවකට ගෙනිහින් අර දූෂ්‍ය අදහසින් අහක් කර ගෙන, ඒ පුද්ගලය කරපු පිනක් දහමක් මතක් කරල දීල එතනින් මුදව ගන්න පුළුවන් වෙන්නෙ. එතකොට අර දූෂ්‍ය ගතිය අමතක වෙලා, කරපු හොඳ දෙයක් මතක් වෙන කොට පරිසරය වෙනස් වෙනවා. ඒ වගේ දෙයක් ප්‍රයෝග සම්පත්තියක් යොදල අර වගේ ශක්තියක් තියෙන කෙනෙක් කළොත් මිසක් ඒක සාමාන්‍ය කෙනෙකුට කරන්න බෑ. බොහොම දුර්ලභ දෙයක්. ඉතින් මේ වෙන කොට එහෙම ශක්තියක්, හැකියාවක් තියෙන අය බොහෝ කොටම අඩු නිසා, නොයෙක් දුක්ඛිත අත්බැව්වල ඉන්න බොහොමයක් අය කවද හරි ඒ කර්ම විපාකයන් ගෙවල ඉවර වෙන කල්ම ඔය විදියට අනන්තවත් දුක් විඳිනවා. බේර ගන්න ක්‍රමයක් නෑ. **ඒ නිසා දැන් මේ ජීවත් වෙලා ඉන්න අයත් මේ වගේ කාරණා විහිළුවකට ගණන් නොගෙන, ලෝකය ලෝභයෙන් තණ්හාවෙන් බඳාගෙන ඉන්නෙ නැතිව, දැහැමිව ජීවත් වෙලා, මේ වගේ දුගතිවලට වැටෙන්නෙ නැතිව, මේ භයංකර සංසාරයෙන් එතෙර වෙන්න උත්සාහ කරන්න කියන පණිවිඩය තමයි කියන්න තියෙන්නෙ.**

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# මලියදේව මහ රහතන් වහන්සේට සුළුගුළු උපාසකතුමා පිරිනැමූ ඔසු කැඳ...

අදින් වසර 1500 කට පමණ පෙර වැඩ හිටපු සිවුපිළිසිඹියාපත් අභිඥාලාභී වූ මලියදේව මහ රහතන් වහන්සේට එක්තරා උදරාබාධයක් හට ගත්තා. මේ ගැන දිවැසින් බලල, භෞතික ප්‍රතිකාරයක් බලාපොරොත්තුවෙන් උන්වහන්සේ සුළුගුළු කියන උපාසක වෙද මහත්තයෙක් හමුවෙන්න වැඩියා. සංසාරෙ පතාගෙන ආපු පැතුමක් අනුව වෙන්න ඇති, මේ උපාසක මහත්තය බොහොම උනන්දුවෙන් ඒ ආර්ය ඇප උපස්ථානය සිද්ධ කළා. ඉතින් මේ අවස්ථාවෙදි මලියදේව හිමියන්ට හැදිච්ච උදරාබාධයට ප්‍රත්‍ය වෙන බෙහෙත් කැඳක් සකස් කරන්න මේ උපාසක මහත්තය කටයුතු යෙදුවා.

ඒ සඳහා අවශ්‍ය කරන අමුද්‍රව්‍ය ආදිය කොටා සකස් කර ගෙන ඒ බෙහෙත් කැඳ ලිපේ තියල පැහෙන කල්, දිව්‍ය ලෝකෙ දැක බලා ගන්න කැමතිද කියල මලියදේව මහ රහතන් වහන්සේ මේ උපාසක මහත්තයගෙන් ඇහුවලු. ඔහු ඒකට කැමැත්ත පළ කළ නිසා, එහෙනම් මගේ සිවුරු පොට අල්ල ගන්න කියල, අර ලිපේ තියෙන කැඳ ටික පැහෙන කල් දිව්‍ය ලෝකෙට එක්ක ගෙන ගිහින් ඒ ලෝකෙ ස්වභාවය පෙන්වල, ඊළඟට පවු කරපු අයට ලැබෙන විපාකය පෙන්වන්න ඔසුපත් නරකය වගේ අපායකට එක්ක ගෙන ගියාලු. උන් වහන්සේට මහ අභිඥා බල තිබිච්ච නිසා තමන්ට විතරක් නෙවෙයි, තව කෙනෙක් වුනත් දිව්‍ය ලෝකෙට සහ අපායට එක්ක ගෙන යන එක මහ දෙයක් නෙවෙයි. බුදුන් වහන්සේ නන්ද කුමාරයව මස් ලේ කය පිටින්ම දිව්‍ය ලෝකෙට එක්ක ගෙන ගියා වගේ, මහ අභිඥාලාභී රහතන් වහන්සේ නමකටත් එහෙම තව කෙනෙක්ව එක්ක ගෙන යන්න පුළුවන්.

දැන් මේ ඔසුපත් නරකයට යන කොට, පෙර කාලෙක මේ උපාසක මහත්තය තෙල් කළයක් ඉල්ල ගත්තු මනුස්සයෙකුත් මේ අපායෙ නිරි සතෙක් වෙලා දුක් විඳ විඳ, මොනව හරි වෙහෙස වෙවී වැඩ කර කර හිටියලු. ඉතින් මලියදේව මහ රහතන් වහන්සෙත් එක්ක යන කොට, ඒ නිරි සතා මේ සුළුගුළු උපාසක මහත්තය දැකල, අර තමන්ගෙන් ගත්ත තෙල් කළය මතක් වෙලා දීල පලෝ... දීල පලෝ කියල කෑ ගැහුවලු. මගෙන් ගත්තු තෙල් කළය දුන්නෙ නැනෙ, ඒක දීල පලයන් කියන එක තමයි මේ මතක් වෙලා කෑ ගහල කිව්වෙ. ඉතින් මලියදේව මහ රහතන් වහන්සෙත්, මොනවද මේ කෑ ගහල කියන්නෙ කියල දිවැසින් බලන කොට, අර තෙල් කළය තමයි මේ ඉල්ලන්නෙ කියල දැක්කලු. එහෙම දැකල උපාසක මහත්තයට කිව්වලු, දෙන්න වරෝ... දෙන්න වරෝ කියන්න කියල. ඉතින් උපාසක මහත්තයත් එහෙම කියල, නැවතත් මනුස්ස ලෝකෙට ආවට පස්සෙ මලියදේව මහරහතන් වහන්සේ උපදෙස් දුන්නලු, දැන් ඉතින් තෙල් කළ මෙච්චර ගණනක් අරගෙන ඒකෙන් පහන් පත්තු කරල, ඒ පහන් ආලෝක පූජාවෙන් නැගෙන පින අර නිරි සත්වයාට අනුමෝදන් කරන්න කියල. ඉතින් සුළුගුළු උපාසකතුමත් ඒ කියපු විදියට වැඩේ



කළාට පස්සෙ, අර නිරි සත්වය ඒ ඔසුපත් නරකයෙන් මිදිල සුගතිගාමී වුනා කියල කියනවා. ඒ වගේම නැවතත් මනුස්ස ලෝකයට ඇවිත් සුළුගුළු උපාසකතුමා හදපු බෙහෙත් කැඳ පානය කළාට පස්සෙ උන් වහන්සේට තිබිච්ච ඒ උදරාබාධය නැවතත් හට නොගන්න විදියට සම්පූර්ණයෙන්ම සුව වුනයි කියනවා.

දැන් මේ වගේ කැඳ වට්ටෝරුවක් ඖෂධීය වශයෙන් බොහොම වටිනවා. විශේෂයෙන් අද කාලෙ වෙන කොට මනුස්සයින්ට හුගක්ම වස විස යොදපු ආහාර පාන පරිභෝජනය කරන්න සිද්ධ වෙලා තියෙන නිසාත්, ඒවායේ ප්‍රතිඵල වශයෙන් නොයෙක් ආකාරයේ රෝගා-බාධයන්ගෙන් ලොකු පොඩි භේදයකින් තොරව පීඩා විඳින්න සිද්ධ වෙලා තියෙන නිසාත් මනුස්සයො බොහෝ කොටම අසරණ වෙලා ඉන්නෙ. ඉතින් දියේ ගිලෙන්න ඉන්න මිනිහ පිදුරු ගහෙත් එල්ලෙනව වගේ, මේ ලෙඩ රෝගවලට අහවල් දේ හොඳයි කියල කවුරු හරි කිව්වොත්, ඒ හැම දෙයක්ම කීයක් හරි වියදම් කරල කොහොම හරි අරගෙන පාවිච්චි කරන්න තමයි උත්සාහ කරන්නෙ. මේ කාරණය නිසාම, මේ සම්බන්ධයෙන් මුකුත් දන්නෙ නැති උදවිය බොහොම පහසුවෙන් රවට්ටල තමන්ගෙ බඩ වඩා ගන්නත් සමහර උදවියට පුළුවන් වෙලා තියෙනවා.

මේ වගේ කාලයක පොදුවේ කාටත් ප්‍රත්‍ය වෙන, පහසුවෙන් හොයා ගන්න පුළුවන් බෙත් වට්ටෝරුවකින්, ඒ වගේම අඩු වියදමකින් යම් ඖෂධීය වටිනාකමක් තියෙන ආහාර පානයක් හදා ගන්න පුළුවන් නම් ඒක බොහොම වටිනවා. මේ බෙහෙත් කැඳ වට්ටෝරුවත් ඒ කාලෙ පටන් පැවතිලා, කොහොම හරි මේ වෙන කොට බොහෝ කොටම යටපත් වෙලා ගිහින් තියෙනවා. ඉතින් කාලයාගේ ඇවෑමෙන් යටපත් වෙච්ච මේ වගේ වටිනා දේවල් නැවතත් සොයා ගන්න පුළුවන් වෙච්ච වෙලාවක, ඒ වගේ දෙයක් මනුස්සයින්ගෙ යහපතට හඳුන්වා දෙන්න පුළුවන් නම් ඒක බොහොම වැදගත්. ඒ නිසා මේ කාලෙ මනුස්සයො පීඩා විඳින විවිධ රෝගාබාධයන්ට අතුරු ආබාධ රහිත, වියදම් අඩු, කාටත් එක වගේ පාවිච්චි කරන්න පුළුවන් ප්‍රත්‍යක්ෂ බෙහෙත් වර්ග හඳුන්වා දීමේ කාර්යට සමගාමීව, මේ වටිනා බෙහෙත් කැඳ වට්ටෝරුවත් හෙළ බොදු පියුම දහම් සඟරාවෙන් මේ විදියට ඉදිරිපත් කරනවා. ඒ වගේම මේ බෙත් කැඳ හදාගන්න හැටි පැරණි කවියකින් මේ විදියට විග්‍රහ කරල තියෙනවා.

ඉඟුරුරුමිස් දෙදුරු සමග
දෙව්දුරු සහ හිංගු රැගෙන
සොඳුරු වියළි කහ අසමොද
උළුවා තිප්පිලි ගිතෙලින
මියුරු මෙ ඔසු යොදා එ කැඳ
පිස වැළඳුව කුස පවතින
නපුරු වාත රුදා නැසේ
සුළුගුළු යාගුවයි පොරණ

මේ කවියෙන් ඒ බෙහෙත් වට්ටෝරුව සහ කැඳ හදාගන්න හැටි කෙටියෙන් විග්‍රහ කරල තිබුණත්, ඒ කාරණය කෙනෙකුට එක පාරටම තේරුම් ගන්න බැරි වෙන්න පුළුවන්. කොහොම හරි දැනට භාවිතයේ එන විදියට මේ සඳහා යොදා ගන්න බෙහෙත් වට්ටෝරුව තමයි මේ තියෙන්නෙ. **වියළි කහ, සුදුරු, වියළි ඉඟුරු, වියළි ගම්මිරිස්, තිප්පිලි, දේවදාර, අසමෝදගම්, උළුහාල්, සුදුළූණු, පෙරුම්කායම්, එළගි තෙල්, රතු කැකුළු හෝ සුදු කැකුළු හාල්.** ඒ වගේම මේ කැකුළු හාල් වෙනුවට හීනටි හාල් යොදා ගන්න බවත් සමහර අවස්ථාවල සඳහන් වෙනවා. ඒ නිසා මේ හාල් වර්ග තුනෙන් තමන්ට පුළුවන් පහසු හාල් වර්ගයක් යොදා ගන්න පුළුවන්.

ඊළඟට මේ බෙහෙත් අමුද්‍රව්‍යවල අඩංගු ඖෂධීය ශක්තීන් මොනවද කියල දැන ගැනීමත් යම් ආකාරයකට වැදගත්. මීට පෙර විග්‍රහ කරපු ''විවිධ ශාකවල සැඟව ගිය ඖෂධ ශක්තීන්'' නම් ලිපි පෙළින් මේ අමුද්‍රව්‍ය බොහොමයක අඩංගු ශක්ති විශේෂයන් ගැන විග්‍රහ කරල තියෙනවා. ඒ නිසා කලින් නොකියවෙච්ච කිහිපයක අඩංගු ඖෂධීය ශක්ති ගැන තමයි මේ කියන්නෙ. පෙරුම්කායම් ගත්තම, පෙරුම් කියන්නෙ පෙරා ඉවත් කරනවා කියන අදහස. කායම හෙවත් කාරම කියල කියන්නෙ තද කහට. එතකොට යම් කිසි තැනක බැඳිල රැඳිල තියෙන කහට ගතිය පෙරා ඉවත් කිරීමක් තමයි පෙරුම්කා-යම්වලින් කරන්නෙ.

මේ පෙරුම්කායම් කුඩු තුවාලයකට බැන්දත් ඒ තුවාලයේ වස විස ඇදල ගන්නවා. ඒ වගේම පෙරුම්-කායම්වලින් දත් කැක්කුමට ප්‍රත්‍යක්ෂ ඖෂධයක්, වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ බෙහෙත් සමාධියටත් මතුවෙලා තියෙනවා. එතනදි පෙරුම්කායම් කුඩු ටිකක් අරගෙන පොට්ටනියක් වගේ කොළ කැලි තුන හතරකින් වටේට ඔතනවා (ලිපේදි ගිනි ගැනීම වළක්වන්න ඕන නිසයි කොළ කැලිවලින් ඔතන්නෙ) ඊට පස්සෙ ඒක දර ලිපක උණු අළුපල්ලෙ විනාඩි 5 ක් විතර තැම්බෙන්න තියල, ඒ පෙරුම්කායම් කුඩු ටිකට ලිපේ අළු තේ හැඳි 1/2 ක් පමණ එකතු කරල ඒකෙන් පුංචි රෙදි පොට්ටනියක් හදල දත් කැක්කුම තියෙන තැන තියාගෙන ඉන්නවා. විනාඩි 10 - 20 ක් විතර ගියාට පස්සෙ ඒ කැක්කුම සම්පූර්ණයෙන්ම පහ වෙනවා. ඒ කාරණයෙන් පෙරුම්කායම්වල එහෙම විශේෂත්වයක් තියෙන බව පෙනී යනවා.

ඊළඟට ගිතෙල් ගත්තම ''ගී'' කියන වචනයෙන් පෙන්වන්නෙ මෘදු බව. ගී කියනව කියන්නෙත් මිහිරි, මෘදු ස්වභාවයක්. එතකොට මිහිරි තෙල් කියන අදහස තමයි මේ කියන්නෙ. එළගිතෙල් කියන වචනය ගත්තත් එළ කියන්නෙ සුද්ධ භාවය. ඊළඟට දේවදාර ගත්තම කායද්වාර, වචීද්වාර කියන දෙකක් ගැන කියවෙනවා. ඒ කියන්නෙ කය (ආහාර මාර්ග පද්ධතිය...) වචනය (උගුර, කට...) සම්බන්ධයෙන් තිබෙන්නා වූ යම් කිසි ආකාරයක විස ගතිය, රළු ගතිය ඉවත් කර දවා හැරීමක් තමයි දේවදාරවලින් කරන්නෙ.

දැන් මේ වට්ටෝරුවට අදාල අමුද්‍රව්‍ය ගන්න කොට, මේ කැඳ පාවිච්චි







කරන්න බලාපොරොත්තු වෙන පිරිසට ප්‍රමාණවත් වෙන විදියට සම අනුපාතවලින් ගන්න පුළුවන්. සාමාන්‍යයෙන් ගෙදරක උයන පිහන උදවිය, මෙච්චර සංඛ්‍යාවකට අවශ්‍ය අමුද්‍රව්‍ය ප්‍රමාණයන් මෙච්චරයි කියල දන්න නිසා ඒ කාරණය ගැටළුවක් වෙන්නෙ නෑ. ඒවාට යොදන අමුද්‍රව්‍ය මේ මේ ප්‍රමාණයන්ගෙන් දැම්මම ප්‍රමාණවත් කියල ඒ අයට අත්දැකීමක් තියෙනවා. මොකද මෙතනදි අමුද්‍රව්‍ය වට්ටෝරුව වෙනස් වුනාට, සාමාන්‍ය කැඳක් සකස් කර ගන්න ක්‍රමවේදයට වඩා විශේෂ වෙනසක් නෑ. හැබැයි පෙරුම්කායම් සහ තිප්පිලි ගන්න කොට නම් අනික් අමුද්‍රව්‍ය වගේ නෙවෙයි, පොඩි මාත්‍රයක් එකතු කළාම හොඳටම ප්‍රමාණවත්. මොකද වැඩිපුර එකතු කළොත් යම් කිසි තීරසක් එන්න පුළුවන්. ඒ නිසා සාමාන්‍යයෙන් පස් හය දෙනෙකුට වගේ කැඳ හදනව නම්, වෙළඳසැල්වල තියෙන පුංචි පෙරුම්කායම් ගුලියක් හෝ ගැලපෙන කුඩා ප්‍රමාණයක් යොදා ගන්න පුළුවන්. එහෙම නැත්නම් කලං 1/2 ක් හෝ මංචාඩි 10 ක් (වේළිච්ච මදටිය ඇට 10 ක බර) වගේ ප්‍රමාණයක් ගන්න පුළුවන්. තිප්පිලිත් ඒ වගේ ප්‍රමාණයක් ගන්න පුළුවන්. අනික් අමුද්‍රව්‍ය ටිකක් වැඩි වුනාට ගැටළුවක් නෑ. හරියට මෙච්චර ප්‍රමාණයක් දාන්න ඕනයි කියලත් නියමයක් නෑ. ඒ නිසා අනික් අමුද්‍රව්‍යත් ඒ විදියට අවශ්‍ය ප්‍රමාණයට ගන්න පුළුවන්. ඒ වගේම පෙරුම්කායම් ගන්න කොට බැදල කුඩු කරල ගන්න පුළුවන් නම් වඩා හොඳයි. මොකද එතකොට ඒවායේ තියෙන විස ගතිය, සැර ගතිය ඉවත් වෙනවා, විස මැරෙනවා.

ඊළඟට කැඳක් හදා ගන්න අවශ්‍ය ප්‍රමාණයට හාල් හෝදල අරගෙන වතුර දාල ලිපේ තියල පිටි වෙන පදමට එනකල් තැම්බෙන්න හරිනවා. ඒ කියන්නෙ බත් ඇට නැති වෙන්න දිය වෙන මට්ටමට එනකල් තම්බ ගන්නවා. ඒ අතර තුර පොල් කිරි ටිකක් මිරිකල ඒකෙ මිටි කිරි ටික පැත්තකින් තියල, ඉතිරි වෙන පොල් කුඩු ටිකෙන් සකස් කර ගන්න දිය කිරි ටිකට ලුණු පොඩ්ඩක් දාල අර ලිපේ තියෙන හාල් කැඳ ටික යම් කිසි මට්ටමකට තැම්බුනාට පස්සෙ එකතු කරල හැඳි ගානවා. ඊළඟට අර මුලින් ගත්තු වට්ටෝරුවේ තියෙන සියළුම අමුද්‍රව්‍ය ටික කුඩු වෙන්න කොටල හෝ අඹර ගෙන ඒ සියල්ලම එකට මිශ්‍ර කර ගෙන එළගි තෙල්වලින් කල්කයක් වගේ අනා ගන්නවා. ඒ මිශ්‍රණය අර මුලින් හදා ගත්තු මිටි කිරි ටිකට හොඳට දිය කරල, ඒ සම්පූර්ණ මිශ්‍රණය ලිපේ තියෙන භාජනයට එකතු කරල හොඳට හැඳි ගානවා. ඊළඟට කැඳකට අවශ්‍ය පදම එන කොට බා ගන්නවා.

ඉතින් මේ කැඳ හරියට පදමට හදා ගත්තොත් බොහොම ප්‍රිය මනාප පානයක් වගේම, බඩේ අජීර්ණ, වා, පිත්, සෙම් රෝග ආදී රෝගාබාධ රැසකටම ප්‍රත්‍ය වෙන බෙත් කැඳක් වෙනවා. හදා ගන්න කියල විශේෂ අමාරුවකුත් නෑ. අමු ද්‍රව්‍ය වට්ටෝරුවත් පහසුවෙන් හොයා ගන්න පුළුවන්. වැඩි වියදමක් යන්නෙත් නෑ. ඉඳල හිටල හරි මේ වගේ කැඳක් හදාගෙන බොන්න පුළුවන් නම්, විශේෂයෙන් මේ කාලෙ වෙද්දි බොහෝ කොටම තියෙන බඩේ අජීර්ණ ඇතුළු රෝග රැසකටම යම් කිසි ප්‍රත්‍යයක් ලබාගන්න පුළුවන්.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හදිසි අනතුරු නිසා මොළයට සිදුවන බලපෑමෙන් ඇති වෙන මානසික ඌනතාවයන්ට ප්‍රත්‍යක්ෂ සමාධි ඔසුවක්.

මිනිසෙක් මානසික වශයෙන් ඌනතාවයකට පත් වෙන්න පුළුවන් ප්‍රධාන ආකාර 2 ක් තියෙනවා. එකක් තමයි සසරෙදි කරපු යම් කිසි අකුසල කර්ම විපාකයක ප්‍රතිඵලයක් විදියට චුති-පටිසන්ධියේදි කර්මජ කය ස්නායු ආබාධ සහිතව ගොඩ නැගීම. අනෙක් කාරණය තමයි ගන්ධබ්බ කය මවු කුසකට ඇතුළු වුනාට පස්සෙ, එහෙම නැත්නම් මවු කුසේ සිටියදී, මවු කුසින් බිහි වෙනකොට, බිහි වුනාට පස්සෙ ප්‍රවෘත්ති විපාකයක් වශයෙන් යම් කිසි අනතුරක් හෝ ඌනතාවයක් සිද්ධ වීමෙන් මස් ලේ කයේ ස්නායු ආබාධයට ලක්වීම. ඒ කියන්නෙ මව හදිසි අනතුරුවලට ලක්වීම, මවට යම් කිසි රෝගයක් වැළඳීම, මවට සිද්ධ වෙන යම් කිසි කම්පනයක්, ගැබ තුළදි විස බීජයක් ඇතුල්වීම, ගැබ තුළදි පෝෂණය අඩු වීම ආදී හේතු නිසා වැඩෙන මොළයට බාධා පැමිණීම වගේ දෙයක්. එහෙම නැත්නම් මවු කුසින් බිහි වුණාට පස්සෙ ඇතිවන හදිසි අනතුරකින් වෙන්නත් පුළුවන්.

මෙතනින් පළමු අවස්ථාවෙදි වන බලපෑම මස් ලේ කයට ආවම ඒක බෙත් හේත්වලින් සුව කරන්න බෑ. මොකද මස් ලේ කය සුව කර ගන්න පුළුවන් වුනාට, ඒ ඌනතාවය ඇවිත් තියෙන්නෙ කර්මජ කයට. මෙතනදි කර්මජ කය බෙත්වලින් සුව කරන්න බෑ. ඒ වගේ අය උප්පත්තියෙන්ම මන්ද බුද්ධිකයි. ඒ මන්ද බුද්ධික බව බාහිර මස් ලේ කයේ ස්වරූපයෙන් පිටතටත් විද්‍යමාන වෙනවා. ඒක තනිකරම කර්මජ රෝගයක්. ඒ භවය ඉවර වෙනකල්ම ඒ රෝගී තත්ත්වයෙන් පීඩා විඳින්න සිද්ධ වෙනවා. ඒ නිසා ඒ වගේ අවස්ථාවක් බෙත් හේත්වලින් සුව කරගන්න පුළුවන් කමක් නෑ. නමුත් දෙවෙනි අවස්ථාවෙදි මස් ලේ කයට ඒ ඌනතාවය ආවත් ඒකෙන් සූක්ෂම කර්මජ කයට බලපෑමක් නැති නිසා, මස් ලේ කයට යම් කිසි ආකාරයක ප්‍රතිකාරයක් කරල සුව කරන්න පුළුවන් නම් ඒ ඌනතාවය පහ වෙන්න හේතු යෙදෙනවා.

එතකොට මස් ලේ කයට ඒ බාධා පැමිණීම සිද්ධ වෙලා තියෙන්නෙ යම් කිසි ස්නායු හෝ නහර හිරවීමක් නිසා. ඒක මුල් කර ගෙන තමයි මොළේ ඌනතාවය හට ගන්නෙ. නමුත් ජීවිත රූපය හෙවත් රූප ජීවිතේන්ද්‍රිය තියෙන නිසා මනුස්සය මැරෙන්නෙ නෑ, මස් ලේ කය මැරෙන්නෙ නෑ. නාම ජීවිතේන්ද්‍රියට අනුකූලව රූප ජීවිතේන්ද්‍රිය හැදිල තියෙන නිසා මනුස්සයා නොමැරී ජීවත් කරවනවා. (නාම ජීවිතේන්ද්‍රියෙන් ඔප් නංවල දිදී යළි යළිත් හදල දෙනවා. ඒ කියන්නෙ හිත හදල කර්ම විඤ්ඤාණ පවත්වනවා.) ඒ ජීවත් කරවන්න එක්තරා මට්ටමක ශක්තියක් ප්‍රමාණවත්. නමුත් මොළය ප්‍රබෝධ කරල



සාමාන්‍ය තත්ත්වයට පත් කරන්න ඒ ශක්තිය ප්‍රමාණවත් නෑ. එතකොට මෙතනදි මනුස්සයා ජීවත් කරවන්නෙ රූප ජීවිතේන්ද්‍රියෙන්. ඒක නැත්නම් මස් ලේ කය තියෙන්නෙ නෑ, කුණු වෙනවා. ඒ නිසා රූප ජීවිතේන්ද්‍රිය සම්බන්ධ වෙලා තියෙන තාක් කල් මස් ලේ කය නරක් වෙන්නෙ නෑ, විස බීජ ඇතුල් වෙලා මරන්න බෑ. මානසික ඌනතාවයකට ලක් වෙලා තියෙද්දිත් මොළේ කොටස් නරක් නොවෙන්න හේතුව ඒකයි. මොළය සම්පූර්ණයෙන්ම නැතත් එක්තරා මට්ටමකට වැඩ කරනවා. මොළයට සම්බන්ධ අති සියුම් ලේ නහර හිරවීම නිසා ස්නායු ක්‍රියාකාරීත්වය අඩු වීම තමයි මේ වගේ අවස්ථාවකදි බොහෝ කොටම සිද්ධ වෙන්නෙ. එතකොට මොළය වර්ධනය කරන්න අවශ්‍ය පෝෂණය ලේවලින් නිසියාකාරව ගන්නෙත් නෑ, මොළයේ තියෙන අපද්‍රව්‍ය ලේවලට නිසියාකාරව දෙන්නෙත් නෑ.

ඒ නිසා මේ ලේ නහර යථා තත්ත්වයට පත් වුනාට පස්සෙ මොළයේ අපද්‍රව්‍ය ඉවත් කිරීමත්, මොළයට අවශ්‍ය පෝෂණය ඇදගැනීමත් හොඳින් සිද්ධ වෙනවා. මොළය සහ රුධිරය අතර ද්‍රව්‍ය හුවමාරුව සිද්ධ වෙන්නෙ යම් කිසි කිරණ මාධ්‍යයකින්. ශරීරයේ අනෙකුත් ඉන්ද්‍රියන් වගේ මොළයේ තරලය සහ රුධිරය අතර මිශ්‍ර වීමක් සිද්ධ වෙන්නෙ නෑ. ඒ නිසා තමයි මොලය කැපුවත් සුදු පාටට පේන්නෙ. ඒ වගේම මොළයේ සෛල අතර යම් කිසි ඉඩ ප්‍රමාණයක් තියෙනවා. ඒකෙ තියෙන තුනී කාන්දමක් වගේ එක්තරා ශක්ති විශේෂයකින් පිටින් තියෙන ශක්තිය ඇදල ගන්නවා. ඒ සඳහා මොළයේ සෛල ආසන්නයටම රක්තානු, ස්වේතානු ගමන් කරනවා. එතකොට සියුම් ලේ නහර අවහිර වුනොත් ඒ ක්‍රියාවලියට බාධා වෙනවා. මොළය වැඩෙන්න දෙන්නෙත් නෑ, අපද්‍රව්‍ය ගන්නත් බෑ. එතකොට මොළය දුර්වල වෙනවා. නමුත් ජීවිත රූපය නිසා මොළය පවත්වනවා. ඒ වුනත් ක්‍රියාකාරීත්වය දුර්වල නිසා සාමාන්‍ය කටයුතු කරගෙන යන්න බාධා ඇති වෙනවා.

මේ වගේ තත්ත්වයක් බටහිර වෛද්‍ය විද්‍යාවෙදි සෙරිබ්‍රල් පෝල්සි (Cerebral Palsy) කියල හඳුන්වනවා. ඒ වගේ අවස්ථාවකදි ස්නායුවලට සිද්ධ වෙච්ච බලපෑම අනුව විවිධ අයට විවිධාකාරයේ නොහැකියාවන් පැන නගින්න පුළුවන්. ඇවිදින්න බැරි වීම, අධ්‍යාපනය ලබන ළමයෙක් නම් නිසි වයසෙදි යමක් කමක් තේරුම් ගැනීමේ නොහැකියාව, ඒ වගේම කන් නෑසීම, ඇස් පෙනීම දුර්වලවීම, කටේ කෙළ රඳව ගන්න බැරිව කෙළ වැක්කිරීම, තමන්ගෙ සාමාන්‍ය ජීවිතයෙ වැඩ කටයුතු තනියෙන් කර ගන්න බැරිවීම... ආදිය මගින් දැඩි ලෙස පීඩා විඳින්න පුළුවන්. එතනදි ඒ ආබාධිත තත්ත්වයට පත් වෙච්ච කෙනා

විතරක් නෙවෙයි, ඒ පුද්ගලයගෙ පවුලේ උදවියත් ඒ හේතුවෙන් ලොකු මානසික පීඩනයකට පත් වෙනවා.

මේ වගේ රෝගී තත්ත්වයක් සාමාන්‍ය බේතකින් සනීප කරන්න ලේසියෙන් බෑ. සනීප කරන්න පුළුවන් වෙන්නෙ මේ වගේ කිරණ ශක්තියක් අඩංගු බේතකින්. හැබැයි දැන් මේ තියෙන බෙහෙත් ඖෂධ ක්‍රමවලින් ඒ කිරණ ශක්තිය දකින්න බෑ. ඒ නිසා බේත හොයා ගන්න බෑ. බේත් නැතිව නෙවෙයි. ප්‍රබලම කර්මජ රෝගවලට හැර අනිත් ඕනෑම රෝගයකට බේත් තියෙනවා. හොයා ගන්න බැරිකමයි වෙලා තියෙන්නෙ. ඒකට මේ කිරණ ශක්තීන්ගෙන් බේත හඳන්න ඕන. හැබැයි ඒක නිකං හිතල මතල පර්යේෂණ කරල හදන්න බෑ. සමාධියකටම එන්න ඕන. සමාධියෙන් තමයි ඒ බේතට අවශ්‍ය දේවල් තෝරල දෙන්නෙ. එහෙම නැතුව උපකල්පනය කරල හිත හිතා ගන්න බෑ. යම් කිසි අරමුණකට අනුව සමාධි ගත වුනාම ඒ අනුසාරයෙන් තමයි ඒක ඇදිල එන්නෙ. එහෙම ඇදිල ආවම තමයි කිරණ බේත් හදන ක්‍රමය දැනගන්නෙ. ඒ බේත්වලින් තමයි මනෝමය කය සහ මස් ලේ කය අතර සම්බන්ධය ඇති කරල අවශ්‍ය අඩුපාඩු සකස් කරල දෙන්නෙ.

දැන් මේ හඳුන්වා දෙන්නෙත් අන්න ඒ ජාතියේ බේත් වර්ග. ඒ නිසා තමයි මෙච්චර කලක් ලෝකෙ බේත්වලට නොගන්න ඒවත් මේ දෙන සමහර ප්‍රතිකාර ක්‍රමවලට එන්නෙ. ලෝකයේ බේතකට නොගන්න කිසිම දෙයක් නෑ කිව්වෙත් ඒකයි. ඉතාම සුළු බේතකින් ලොකු අසනීපයක් සුව වෙන්න හේතුවත් ඒකයි. එහෙම නැතිව කොච්චර බේත් සිය දහස් ගණන් එකතු කළත්, ඒකට අවශ්‍ය කිරණ ශක්ති ක්‍රියාත්මක වෙන බේත හදන්න බැරි නම් ඒකෙන් වැඩක් නෑ.

ජීවක වෙද මහත්තය ඒ කාලෙ මීමැස්මොරයට පවා වෙදකම් කරල තියෙනවා. ඒ වගේ පැරණි වෙදකම් ගෙවල්වලත් කරල තියෙනවා. නමුත් අද ඒව නෑ. මොකද ඒ ක්‍රමවේදය දන්නෙ නැතිව මොනව හරි කලවම් කරල දුන්නට හරියන්නෙ නෑ. ඒවායින් ප්‍රත්‍ය වෙන්නෙ නෑ. නමුත් එදා තිබුනෙ අර වගේ කිරණ ශක්තිවලින් ප්‍රත්‍ය වෙන බේත් වර්ග. එදා මනුස්සයින්ට ඒ බේත් වර්ග දීපු සෘෂිවරු හිටියෙ අදින් වසර දහස් ගණනකටත් එහා. එතකොට එදා හිටපු මනුස්සයින්ගෙ ශරීරවල ස්වභාවයන් අනුව තමයි සෘෂිවරු ඒ බේත් වර්ග දුන්නෙ. ඒව තමයි අවුරුදු දහස් ගණනක් තිස්සෙ ඇවිත් අදත් පැරණි ඖසු විදියට බොහෝ කොටම අරගෙන එන්නෙ. නමුත් අද ඉන්න මනුස්සයින්ගෙ කායිකත්වය එදාට වඩා වෙනස්. සතර මහා ධාතූන්ගෙ බලපෑමත්, ලෝක පරිසර බලපෑමත්, නොයෙක් විපර්යාස ආදියත් හේතුවෙන් එහෙම පරිවර්තනයන් වෙලා තියෙනවා. ඒ නිසා එදා තත්ත්වය අදට සමාන කරන්න බෑ. එදා හිටපු මිනිස්සුන්ට දීපු බේත් අද ඉන්න මිනිස්සුන්ට දුන්නම ඒ විදියටම නියමාකාරයෙන් ප්‍රත්‍ය වෙන්නෙ නැත්තෙ ඒකයි. එහෙම නැතිව සෘෂිවරුන්ගෙ බේත් වට්ටෝරු වැරදිලා නෙවෙයි. ඒ බේත් වට්ටෝරු තමයි අදත් මුඛ පරම්පරාවෙන්, එහෙම නැත්නම් පුස්කොළ පොත්වල ලියාගෙන ඇවිත් ආයුර්වේද බේත් කියල බොහෝ කොටම දෙන්නෙ. නමුත් මේ කියපු හේතු නිසා ඒව දුන්න පළියට අද ඒ විදියටම ප්‍රත්‍ය වෙන්නෙ නෑ.



උදාහරණ විදියට පසුගිය දසක කීපය තුළ මදුරුවන් මර්ධනයට මුලින්ම යෙදුවෙ ඩීඩීටී කියන රසායනය. ඒකෙන් මදුරුවන් මර්ධනය වුණා. නමුත් කාලයක් යද්දි ඒකෙන් මර්ධනය කරන්න බැරි වුණා. ඊට පස්සෙ මැලතියන් කියල තවත් රසායනයක් යෙදුවා. ඒකෙනුත් ටික කලක් යනකල් මර්ධනය වුණා. නමුත් දැන් මේ දෙකෙන්ම මර්ධනය කරන්න බැරි වෙලා තියෙනවා. මොකද කාලයත් එක්කම මදුරුවන් පරිවර්තනය වෙනවා. උන් ක්‍රමයෙන් ප්‍රතිශක්තිය ලබල ආවා. ඒ නිසා එදා තිබ්බ තත්ත්වයට වඩා අද තත්ත්වය වෙනස්. ඒ වගේ එදා යම් රෝගයක් මර්ධනය කරන්න දුන්න බේත අද ඒ විදියටම ගන්න බෑ. ගත්තට ඒ විදියට ප්‍රතිඵල ලබන්න බෑ. ඒ නිසා අද වෙනස් ක්‍රමයක් තියෙන්න ඕන. අන්න ඒකට තමයි මේ කිරණ බේත් ක්‍රම තියෙන්නෙ. ඒක ඉතින් පොත්පත්වලින් බලල ගන්න බෑ. යම්කිසි සමාධියක් වඩා ගෙන යොමු කරල බලන කොට තමයි ඒ කාලෙට ඒ රෝගයට ගැලපෙන කිරණ බේත් ක්‍රම එන්නෙ.

එතකොට මේ දෙවෙනියට සඳහන් කළ ආකාරයෙන් මානසික ඌනතාවයන්ට පත් වෙච්ච අය යථා තත්ත්වයට පත් කරන්න පුළුවන්, වහරක අභයරතනාලංකාර හිමියන්ගෙ බේත් සමාධියට හසුවෙච්ච ඒ වගේ වටිනා සමාධි ඖසුවක් තමයි මේ හෙළිදරව් කරන්නෙ. මේ බේතට අවශ්‍ය වෙන්නෙ හීන් උඳු පියලිය, වේලිච්ච නාමල් රේණු සහ තල තෙල් විතරයි. ඒ නිසා වැඩි වියදමක් නැතිව බොහොම පහසුවෙන් හදා ගන්නත් පුළුවන්. මුල් ඇතුව හෝ නැතුව ගලව ගත් හීන් උඳුපියලිය ග්‍රෑම් 250 ක් මේකට අවශ්‍යයි. ඒ ටික හොඳට හෝදල කොටල, හැකි තරම් අඩු ප්‍රමාණයක් පිරිසිදු වතුර යොදල ඉස්ම ටික පෙරා ගන්නවා. ඒක ඉස්තරම්ම තල තෙල් කාලක් එක්ක කලවම් කර ගන්නවා. ඊළඟට නා මල් රේණු ග්‍රෑම් 250 ක් අර ගෙන ඒක අර දියරයෙන් අඹර ගන්නවා. මේ නා මල් රේණු බෙහෙත් බඩු වෙළඳ සැලකින් පහසුවෙන් මිලදී ගන්න පුළුවන්. එහෙම නැත්නම් ගහකින් වැටිච්ච නාමල්වල පෙති ඉවත් කරල ඒ රේණු වෙන් කර ගන්නත් පුළුවන්.

දැන් මේ විදියට හදා ගත්ත මිශ්‍රණයෙන් කෝපි ගෙඩි තරමට ගුලි අඹරගෙන අව්වෙ වේල ගන්නවා. උදේ, දවල්, රෑ කෑමට පෙර මේ ගුලිය බැගින් අවුරුදු 3 ක් විතර එක දිගට පාවිච්චි කරන කොට උපතින්ම මානසික ඌනතාවයෙන් පෙළෙන රෝගියෙක් නම් (චුති-පටිසන්ධියෙන් පසුව මවු කුසක සිටියදී ආබාධයට ලක් වූ) මාස 9 ක් පමණ යන කොට තිබ්බ්ච අපහසුතාවයන් අඩු වෙලා යම් කිසි විදියකින් කතා කිරීමේ හැකියාවත්, අවුරුදු 2 ක් පමණ යන කොට තමන්ගෙ වැඩ කටයුතු ටික තනියෙන් කර ගැනීමේ හැකියාවත් ලබන්න පුළුවන්. ඒ විදියට අවුරුදු 3 ක් විතර මේ ප්‍රතිකාරය ගන්න කොට සාමාන්‍ය පුද්ගලයෙකුගෙ තත්ත්වයට පත් කරගන්න පුළුවන්. **හැබැයි කර්ම විපාකයේ බලවත්කම අනුව මේ සුව වීම සහ ඊට ගත වන කාලය වෙනස් වෙන්න පුළුවන්. ඒ නිසා පොදු තත්ත්වය තමයි මේ කිව්වෙ.**

ඒ වගේම මේ බේතට ගන්න අමුද්‍රව්‍ය ප්‍රමාණයන් කිව්වෙ මාස 6 කට පමණ සෑහෙන්න. ඒ නිසා අවශ්‍ය ප්‍රමාණයට කලින් කලට හද හදා ගන්න ඕන. සාමාන්‍යයෙන් මේ බේත අවුරුද්දක් විතර කල් තියා ගන්න පුළුවන් වුනත්, සැරින් සැරේ අවශ්‍ය වෙන කොට අලුතින්ම හදා ගැනීම තමයි වඩාත් ☞

සුදුසු.

ඊළඟට මේ බේතට යොදා ගන්න අමුද්‍රව්‍යවල අඩංගු ශක්ති විශේෂයන් ගැන බැලුවොත්, නා කියන්නෙ යම් කිසි විදියක නායකත්වය මුල් කර ගෙන නුවණ වැඩීමට සම්බන්ධ දෙයක්. නාමල් රේණුවලින් කරන්නෙ ඒ වගේ දෙයක්. ඒ වගේම හීන් උඳුපියලියවලින්, යම් කිසි තැනක තැල්මක් මුල් වෙලා මොළයට සම්බන්ධ හීන් නහරවල බැඳිල තියෙන්නා වූ යම් කිසි අපද්‍රව්‍ය, පියළි විදියට ගලවල දානවා. වෙනත් විදියකින් කියනව නම් හීන් තැන ඉඳුවා තියෙන දේ (අපද්‍රව්‍ය) පියළි කරල දානවා, ගලවල දානවා. ඊළඟට තල තෙල්වලින් කරන්නෙ ශරීරය ඇතුලෙ බැඳිල හිරවෙලා තියෙන අපද්‍රව්‍ය තලල පොඩි කරල ඉවත් කරල යම් කිසි ස්ථාවරත්වයකට ගේන එක. ඉතින් මේ අමුද්‍රව්‍ය තුනේ තියෙන ශක්තිය එකට එකතු වුනාම මේ රෝගයට ප්‍රත්‍ය වෙන ප්‍රබල ශක්තියක් ගොඩ නැගෙනවා.

සියුම් ලේ නහරවල තියෙන යම් කිසි අවහිරතාවයක්, ඌනතාවයක් නිසා ඇති වන තත්ත්වයකදි මොළයට තමයි ඒක ප්‍රධාන වශයෙන්ම බලපාන්නෙ. මොළය ක්‍රියාත්මක කරන්නා වූ ස්නායු පද්ධතියට ලේ ගෙනියන නහර පද්ධතියෙ යම් අවහිරතාවයක් අර කලින් සඳහන් කරපු කාරණා නිසා ඇති වෙන්න පුළුවන්. ඒ වගේ බලපෑමක් වුනොත් මොළයේ වැඩීමට බාධා එනවා. නමුත් චුති-පටිසන්ධියෙන් ගෙනාපු කර්මජ කය නියම විදියට සකස් වෙලා තියෙන නිසා ඒකෙ අඩුපාඩුවක් නෑ. එතකොට ඒ කර්මජ කය උත්සාහ කරන්නෙ කොහොම හරි ශරීරය යථා තත්ත්වයට පත් කර ගන්න. නමුත් අර මස් ලේ කයේ අඩුපාඩුව නිසා ඒක කරන්න බෑ. එතකොට මේ බේත්වල අඩංගු කිරණ ශක්ති ඒ සියුම් නහරවලට ගිහින් සුද්ධ පවිත්‍ර කරල ඒ හිරවීම, ඌනතාවය අහක් කරන කොට මස් ලේ කය යථා තත්වයට පත් වෙනවා.

දැනට මේ බේත හදල ප්‍රත්‍යවීමේ ශක්තිය පරීක්ෂා කරන්න රෝගීන් කිහිප දෙනෙකුටම ලබා දීල තියෙනවා. ඒ වගේම මාස කිහිපයක් ඇතුලත ඒ සමහර අයගෙ යම් කිසි ප්‍රගතියක් පෙන්නුම් කරලත් තියෙනවා. ඒ නිසා මේ බේතෙ හොඳ ප්‍රත්‍යක්ෂ බවක් තියෙන බව කියන්න පුළුවන්. එතකොට මේ බේත සම්පූර්ණයෙන්ම ප්‍රත්‍ය වීම බලා ගන්න අවුරුදු 3 ක් යන කල් හිටියොත්, තවත් විශාල රෝගීන් පිරිසකටත්, ඒ අයගෙ පවුල්වල උදවියටත් පීඩා විඳින්න සිද්ධ වෙන නිසාත්, ඒ වගේම දැනටත් යම් කිසි ප්‍රත්‍යක්ෂ බවක් පෙන්නුම් කරල තියෙන නිසාත්, තව දුරටත් කල් පමා නොකර මේ බේත මුල් කාලෙදිම මේ විදියට හෙළි දරවු කරන්න තීරණය කළා.

අනෙක මේ බේත ගත්තයි කියල කිසිම අතුරු ආබාධයක් හෝ වසක් විසක් වෙන්නෙ නෑ. මොකද ඔක්කොම තියෙන්නෙ ස්වභාවික ඖෂධීය ශාක සාර. ඒ නිසා මොන පැත්තකින් හරි යහපතක් මිසක් නරකක් වෙන්නෙ නෑ. ඒ වගේම වෙනත් ඕනම බේතක් පාවිච්චි කරන ගමන් වුනත් මේ බේත ලබා ගන්න පුළුවන්. කිසිම අපත්‍ය වීමක් වෙන්නෙ නෑ. ඒ නිසා මේ වගේ මානසික ඌනතාවයන් හේතුවෙන් තමන්ගෙ වැඩ කටයුතු කර ගන්න බැරිව පීඩා විඳින අය ඉන්නව නම්, දැන්මම මේ බේත හදා ගෙන ප්‍රතිකාරයක් විදියට පාවිච්චි කරන්න පටන් ගත්තොත්, යම් කිසි කාලයක් යද්දි සාර්ථක ප්‍රතිඵල අත් කර ගන්න පුළුවන් වේවි. අඩු තරමින් දැන් ඉන්න රෝගී තත්ත්වයෙන් යම් පමණකට හරි මිදෙන්න පුළුවන් වුනොත් ඒකත් ලොකු සහනයක්.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අඳුරෙන් එළියට



**හරි මග නොදැන අනත වු සසරක ආවේ**
**අවිදුව නිසයි නොම ලැබ දහමක රාවේ**
**අසුරු සැණක වැනි මේ මනුසත් භාවේ**
**අරුතය ගෙනෙයි වැඩුවොත් මග සම්මාවේ**

**රිසි සේ නොපවතින ලෝකය ලැබ ගන්න**
**සැපයක් යැයි සිතා පසු පස හඹමින්න**
**පොරකන ලෝ සතගෙ උරුමය දුක් ගොන්න**
**ඇවිලෙන සසර කතරයි නොනිමෙන ගින්න**

**ඇස කන නහය දිව කය හා මනස ගෙන**
**රුව නද සුවඳ රස පහසද දහම යන**
**හය හා බැඳුන විට ලෝකය ගොඩනැගෙන**
**ගෙන යයි ලෝ සතුන් දුක් සසරක ගමන**

**හේතුවෙ ඵලය ලෙස හට ගන්නා දහම**
**අනුවම සිදුව යයි පින් පවුවල කරුම**
**හටගත් සියල්ලෙහි ජර මර දුක් උරුම**
**සැපයක් කොහිද මේ සසරෙහි සැරි සැරුම**

**බුදුවරු දෙසූ දම් නැසූ කනින් සලා**
**සිත් අඳ බවින් ඉඳ කම් නුණුවනින් කළා**
**ගොඩනැගි සසර සයුරේ මග වෙමින් මුලා**
**ඇති පාවුනා යමු උඩු ගං දෙසින් බලා**

පබැඳුම:

**ශිරෝමි අත්තනායක - කිරින්ද**

# මගඵල ලාභීන්ගේ මරණාසන්න මොහොත...

*(පසුගිය කලාපයෙන්: මරණාසන්න මොහොතේ සහ ඉන් පසු ඇති වන මහා දාහය....)*

සාමාන්‍ය ලෝකයාගේ හෙවත් පෘතජ්ජනයාගේ (විශේෂයෙන් අසෘතවත් පෘතජ්ජනයාගේ) මරණාසන්න මොහොතේ ඇති වන චිත්ත ස්වභාවයේ භයානකත්වය ගැනත්, ඒත් එක්කම විඳවන්න සිද්ධ වෙන මානසික දුක් වේදනා ගැනත්, ඉන් පසු ඊට අනුකූලව බහුතරයකගේ සතර අපාගත උප්පත්තිය සිද්ධ වන හැටිත් පසුගිය කලාප කිහිපයකින් ඉදිරිපත් කළා. දැන් මේ විස්තර කරන්න යන්නෙ මගඵල ලාභීන්ට මරණාසන්න මොහොතේ ඇති වන කායික මානසික ස්වභාවය ගැන.

විශේෂයෙන් සෝතාපන්න පුද්ගලයෙක්ගෙ මාරාන්තික කායික වේදනාව ගැන සඳහන් වෙන තැනක් තමයි අනේපිඬු සිටුතුමාගෙ මරණාසන්න මොහොත. ඒ වෙලාවෙදි සැරියුත් හාමුදුරුවොයි, ආනන්ද හාමුදුරුවොයි එතනට වැඩම කරල බඩේ කැක්කුම, හිසේ කැක්කුම ආදිය ගැන අහල සුව දුක් විමසන කොට, **මේ වේදනාව හරි බලවත්, හරියට ගෙරි කපන පිහියකින් බඩ කපනව වගේ අමාරුවක් දැනෙනවා, හිස වටේ තිරිංගයක් දාල තද කරනව වගෙයි ඔළුව පැලෙන්න කැක්කුමයි, මට මෙහෙම දරන්න බැරි වේදනාවක් දැනෙනව කියල අනේපිඬු සිටුතුමා බොහොම අමාරුවෙන් උත්තර දෙනවා.** මරණාසන්න මොහොත කිට්ටු වෙන්න පෙර මේ වගේ මාරාන්තික කායික වේදනා මගඵල ලාභීන්ටත් එන්න පුළුවන්. හැබැයි ඒ කායික වේදනාව දැනෙන්නෙ කය හිරි වැටෙනකල් විතරයි.

උදාහරණ විදියට යමෙක්ගෙ ශරීරයේ අතපයක් හෝ මොනව හරි අවයවයක් හිරි වට්ටන්නෙ නැතිව, එහෙම නැත්නම් සිහි නැති නොකර සැත්කමකට භාජනය කළොත් උහුලන්න බැරි වේදනාවක් එනවා. නමුත් යම් කිසි එන්නතක් විදල සිහි නැති කරල ඒ සැත්කම කළොත්, ඊට පස්සෙ මොනව කැපුව කෙටුවත් දැනෙන්නෙ නෑ, කිසි ගානක් නෑ. එතකොට මේ කායික වේදනාව දැනෙන්නෙ පුද්ගලයෙක්ගෙ ස්නායු පද්ධතිය ප්‍රාණවත්ව තියෙනකල් විතරයි. නමුත් කය මැරිල නෑ. එන්නතක් විද්දම ස්නායු අඩපණ වෙනවා. නමුත් කයේ තවම ලේ ගමන් කරනවා, ශක්තිය තියෙනවා. එතකොට මැරිල නැතිව ඉඳෙද්දි ස්නායු අඩපණ වෙන කොට කය පිළිබඳ දැනීමක් නැතිව යනවා. හැබැයි මනස වැඩ කරනවා. ඒත් කායික වේදනා එකක්වත් ඒ අවස්ථාවෙදි මනසට දැනෙන්නෙ නෑ. එතකොට මනසට තියෙන්නෙ යම් කිසි ස්වභාවයක්ද, ඒ ස්වභාවය නිදහස්ව නැගිල එනවා.

දැන් මේ වගේ අවස්ථාවකදි පෘතජ්ජන පුද්ගලයෙකුට එන කර්ම, කර්ම නිමිති, ගති නිමිති එහෙම නැත්නම්



ආසන්න කර්ම මොන වගේද කියල පසුගිය කලාපවලින් විග්‍රහ කළා. එතකොට සෝවාන් කෙනෙක්ගෙ මානසිකත්වය තියෙන්නෙ තෙරුවන් ගුණ අග්‍ර කරගෙන සුගති පැත්තට. ඒ කියන්නෙ සතර අපාය අතහැරෙන පැත්තට. සකෘදගාමී කෙනෙක්ගෙ, වස්තු කාමය දුරු කරල සුගතිය පැත්තට මානසිකත්වය තියෙන්නෙ. අනාගාමී කෙනෙක්ගෙ මානසිකත්වය තියෙන්නෙ ධර්මය අග්‍ර කරල. කොයි විදියට මරණාසන්න මොහොත ආවත් මගඵල ලාභියෙක් නම් සුගති පැත්ත තමයි අග්‍ර වෙන්නෙ. ඒ අවස්ථාවෙදි ඒ අය දකින්නෙ බුද්ධ, ධම්ම, සංඝ කියන තෙරුවන් ගුණ කෙරෙහි චිත්ත ප්‍රසාදය. ඒ කියන්නෙ බුදුන් සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියල ඒ ඒ අයගෙ මට්ටමින් විස්වාසයෙන් දකිනවා, ඒ කෙරෙහි පිහිටනවා. විශේෂයෙන් අරියකාන්ත සීලය කියල හඳුන්වන්නෙ ඒක තමයි. ඒක දස අකුසලයෙන් තොරයි. ඒ නිසා තමයි ඒ චිත්ත ප්‍රසාදය නැගිල එන්නෙ. සුගතිගාමී වෙන්නෙත් ඒ නිසාමයි.

සෝවාන් කෙනෙක් නම් පාප සංඛාර දෙවෙනි වෙලා බලවත්ව උපාදාන කරගත් තෙරුවන් ගුණ ඇසුරු කරමින් පවතින සුගති සංඛාර තමයි නැගිල එන්නෙ. සියලු සංඛාරයන්ගෙන් දැඩි ලෝභ සංඛාර හෙවත් සතර අපාගත වෙන මට්ටම උපාදාන වෙන්නෙ නෑ. නමුත් තණ්හාව තවමත් තියෙනවා. ඒ අය ජීවත් වෙන කොට වුනත් ලෞකික දේවල් පරිහරණය කළාට දැඩි උපාදානයක් නෑ. දැඩි බලාපොරොත්තුවක්, දැඩි ඡන්ද රාගයක් තිබුනොත් තමයි ඒව උපාදාන වෙන්නෙ. නමුත් ඒ මට්ටමේ උපාදානයක් සෝවාන් අයට නෑ. වෙනත් විදියකින් කියනව නම් කාමච්ඡන්දය නෑ. කාමච්ඡන්දය තියෙනව නම් තමයි දැඩි ලෝභය එන්නෙ. ඒ ජාතියෙ උපාදානයක් නැත්නම් ඊට අනුකූල භවයක් නෑ. ඒ කියන්නෙ දුගති භවයක් නෑ.

සෝතාපන්න කෙනෙක්ගෙ මරණාසන්න මොහොත ගැන බුදුන් වහන්සේ මේ විදියෙ උපමාවකින් විග්‍රහ කරනවා. ගංගාවක ඉවුරෙ තියෙන ගහක මුල් හේදිලා ගැලවිලා, කඳ අතු ආදිය ගංගාව පැත්තට නැවිල තියේ නම්, ඒක කවද හරි ගැලවිලා ගඟටම වැටෙනව මිසක් වෙනත් පැත්තකට වැටෙන්නෙ නෑ. ඒ වගේ සෝතාපන්න පුද්ගලයෙක්ගෙ මරණා-සන්න මොහොතෙ මානසිකත්වය ආර්ය අෂ්ටාංගික මාර්ගය නමැති සෝතයට නැඹුරු වෙනවා. ඒ නිසා කවදාවත් සුගතියකට මිසක් දුගතියකට යන්නෙ නෑ. නමුත් ලෝකය පිළිබඳ ආසාව තවමත් සම්පූර්ණයෙන්ම අතහැරල නැති නිසා තමන්ගෙ අඹු දරුවො, ඥාති හිතමිත්‍රාදීන්, වස්තු සම්පත් ආදිය සම්බන්ධයෙන් ඒ අල්ලගත්තු ප්‍රමාණයට අනුරූපව ඒවා ඇසුරු කරන්න අසහන සහගත බලාපොරොත්තුවක් එනවා. ඒ නිසා සෝවාන් වෙච්ච අයට මානසික දුක් වේදනාව මුලින් දැනුනත්, මරණාසන්න මොහොත වෙනකොට කරපු පින් කුසල් ඇදිල ඇවිත් පිහිටට හිටිනවා. කළ පින් පරලොවට නෑයා වෙනවයි කියන්නෙ ඒකයි. එතකොට මුලින් බයක්, දුක් වේදනාවක් දැනුනත් ඒ පුණ්‍ය කුසල ගංගා උදව්වට ඇවිත් රැකවරණයට හිටිනවා. ඒ නිසා මරණාසන්න මොහොතෙදි මානසික දුක් වේදනාව නැති වෙනවා. හැබැයි

බොහෝ පෘතජ්ජන අයට මානසික දුක් වේදනාව අසීමිතව එනවා.

එතකොට සෝවාන් කෙනෙක් මරණාසන්න මොහොතෙදි අන්තිමට උපාදාන කරන්නෙ තෙරුවන් කෙරෙහි චිත්ත ප්‍රසාදය. ඒක සුගතිය හා සම්බන්ධයි. ආර්ය වූ තැන් පටන් ඒක තමයි උපාදාන වෙන්නෙ. ඉතින් චිත්ත ප්‍රසාදය මුල් කර ගන්න කොටම, ඊට අනුකූලව කරපු කියපු දෙයක් තමයි මතක් වෙලා උපාදාන වෙන්නෙ. ඒ කියන්නෙ දන් දීපු අවස්ථාවක්, සිල් රැකපු අවස්ථාවක්, බණ අහපු අවස්ථාවක් හෝ මොනව හරි වතාවත් කරපු අවස්ථාවක් තමයි ඇදිල එන්නෙ. ඒක මගඵල ලාභීන්ට ඒකාන්තයෙන්ම වෙන දෙයක්, නියමයක්. මොකද බලවත් එක තමයි ඇදෙන්නෙ.

සෝවාන් වෙච්ච කෙනෙකුට තියෙන්නා වූ ඒ ස්වභාවය තුළ පුණ්‍ය ගංගා, කුසල ගංගා නැගෙනව කියල ධර්මයේ පෙන්වනවා. එතකොට පුණ්‍ය කුසල ගංගාවක් නම් ඒක තමයි උපාදාන වෙන්නෙ. ඒ අවස්ථාවෙදි ඒ පුද්ගලයගෙන් කෙරිච්ච පවු ගැන පෙන්වන්නෙ, යම් ළිඳකට හෝ ගඟකට ලුණු මිටක් දිය කළා වගේ කියල. ඒ කියන්නෙ ඒ ලුණු මිටෙන් ළිඳේ හෝ ගඟේ වතුර ලුණු රස කරන්න බෑ. මහ වතුරක් තියෙන නිසා ඒ ලුණු රසට නැගී හිටින්න බෑ. ඒ වගේ ඒ පින / කුසලය ඉක්මවා පවකට නැගී හිටින්න බෑ. ඉතින් කරපු පවු තිබුනත්, සසරෙ පෙර කරපු පවක් ඇදිල ආවත්, ඒක අර පුණ්‍ය කුසල ගංගාවට දෙවෙනි වෙනවා. එතකොට ඒකෙන් කියන්නෙ නෑ, සෝවාන් වෙච්ච කෙනෙකුට මරණාසන්න මොහොතෙදි කරපු පවු මතක් වෙන්නෙ නෑ කියල. එහෙම මතක් වුනත්, ඒ මතකය පුණ්‍ය, කුසල ගංගාවලට දෙවෙනි වෙනව මිසක් පළවෙනි වෙන්නෙ නෑ. ඒ නිසා දෙවෙනි වෙච්ච එක උපාදාන වෙන්නෙත් නෑ. උපාදාන වෙන්නෙ අර බලවත් චිත්ත ප්‍රසාදය නැගෙන පුණ්‍ය කුසල කටයුතු. ඒක තමයි පළවෙනි වෙන්නෙ.

උදාහරණ විදියට යම් කිසි කෙනෙක් විසාල සන්තෝසයකින් ඉන්න කොට යම් කිසි තරහකාරයෙක් ඇවිත් ඔන්න ඔක ගණන් ගන්න එපා, අද සන්තෝසෙන් ඉන්න දවසනෙ කියල කිව්වොත් එහෙම, ඇත්ත වශයෙන්ම ඒ පුද්ගලයට තිබිච්ච තරහ මරහ ඒ වෙලාවෙදි යටපත් වෙනවා. හැබැයි ඒ පුද්ගලය කේන්තියෙන් ඉන්න වෙලාවට ගියොත් එහෙම, කෙස් ගහක හරි වැරදි කියල ගහ මරා ගන්න තරමට දොස් කියන්න පුළුවන්. එතකොට කිසිම බයක් නැතිව ඒ පැත්තට ගැටෙන්නමයි පෙළඹෙන්නෙ. එහෙනම් හොඳ චිත්ත ප්‍රසාදයකින්, සන්තෝසයකින් ඉන්න වෙලාවට තරහ කාරයෙක් ආවත් ඒ වගේ ද්වේශයක් නැගිල එන්නෙ නෑ.

මෙන්න මෙහෙම දෙයක් තමයි සෝවාන් මගඵල ලාභියෙකුටත් මරණාසන්න මොහොතෙදි ඇති වෙන්නෙ. තුණුරුවන් කෙරෙහි චිත්ත ප්‍රසාදය තමයි හැම තිස්සෙම ප්‍රධාන වෙන්නෙ. ඒ ප්‍රසාදය තියෙන කෙනාට මොන තරහක්, පාපයක් ආවත් ඒක දෙවෙනි වෙනව මිසක් උපාදාන වෙන්නෙ නෑ. පළවෙනි පංතිය තෙරුවන් ගුණයෙහි පැහැදුනු කුසලය. පළවෙනි පංතිය තියෙද්දි දෙවන පංතියක් ඇදල එන්නෙ නෑ. සෝවාන් කෙනාට සතර අපාගත වන දෙයක් උපාදාන කරන්න බැරි හේතුව ඒකයි. මොකද අසාරත්වය යම් පමණකින් දැකල ඉන්නෙ. හැබැයි තණ්හාව ඉවර නැති නිසා ඒ මට්ටමට මානසික දුක මුලින් දැනෙනවා. මරණාසන්න මොහොතෙදි පින් කුසල්වලින් ඒක යටපත් වෙනවා. ඒ නිසා උපාදාන වෙන්න තරම් බලවත් නෑ. එතකොට භවයක් හැදෙන්නෙ දෙවෙනි වෙච්ච දෙයකින් නෙවෙයි, පළවෙනි වෙච්ච දේකින්. ඒ නිසා සෝමනස්ස සහගත ඤාන සම්ප්‍රයුක්ත සිතක් තමයි මූලික විදියට ඇදිල එන්නෙ. ඊට පල්ලෙහා තියෙන උපේක්ෂා සහගත ඤාන විප්‍රයුක්ත හිත් කුසල් වශයෙන් තිබුනත් ඒවා ප්‍රවෘත්ති විපාකයන් ඇති කරන්න මිසක් ජනක කර්මයක් ඇති කරන්න හේතු වෙන්නෙ නෑ, උපාදාන කරන්න බෑ. ඒ නිසා ඒ වගේ එකක් කර්ම භවයට යන්නෙ. ඒ කර්ම භවය උපාදාන කිරීමක් මරණාසන්න මොහොතෙදි වෙන්නෙ නෑ. උපාදාන කරන්න තරම් බලයක් කර්ම භවයෙ පිහිටන්නෙ නෑ. සෝවාන් වෙච්ච තැන් පටන් එහෙම දෙයක් ඇදිල ආවොත් මරණාසන්න මොහොතෙදි ඒක උප්පත්ති භවයට උපාදාන වෙන්න බැරි නිසා ඇත් වෙනවා.

උදාහරණ විදියට අපි යම් කිසි වැඩසටහනක් අල්ල ගන්න ගුවන් විදුලි යන්ත්‍රයක මීටරය කරකවල තියනවා. රාත්‍රී කාලයට ඒ අදාල වැඩසටහන ඇහෙනව මිසක් ඒ සංඛ්‍යාත පරාසය ඔස්සේ වෙනත් දෙයක් ඇහෙන්නෙ නෑ. නමුත් අන්තිමට වැඩසටහන නතර කරල විකාශනාගාරය වැහුවට පස්සෙ, ඒ ප්‍රධාන තරංග පංතියට ආසන්න තරංග පන්ති ඒකට ඇදල ඇවිත් විවිධ ඝෝෂාකාරී ශබ්ද එන්න පටන් ගන්නවා. නමුත් අර මුලින් වැඩසටහන විකාශනය කරන කොට ඒ අමතර ඒව ඔක්කොම ඈත් කරල අර බලවත් එක තමයි ඇදල එන්නෙ. මෙන්න මෙහෙම ක්‍රමයක් තමයි මරණාසන්න මොහොතෙදි සෝවාන් වෙච්ච කෙනාටත් එන්නෙ. කරපු දස අකුසල් විසි කරනවා, ළං වෙන්න දෙන්නෙ නෑ. බලවත් කුසල් විතරක් ඇදිල එනවා. ඒක ධර්මතාවයෙන්ම සිද්ධ වෙන දෙයක්. ඒ නිසා සතර අපාගත සංඛාර එන්නෙ නෑ. සුගතිගාමී සංඛාර විතරයි ඇදිල එන්නෙ.

හැබැයි සෝවාන් කෙනෙකුට තවදුරටත් ඉතිරි වෙලා තියෙන කෙලෙස් ප්‍රමාණයට අනුව, ලෝකය අල්ලගත්තු ප්‍රමාණයට අනුව මානසික අසහනකාරී බලාපොරොත්තුවක් එන්න පුළුවන්. ජීවිත ආසාව තියෙන නිසා මරණ බයක් දැනෙනවා. නමුත් මරණාසන්න අන්තිම මොහොතෙදි ඒ වේදනාව, අසහනය, බය පුණ්‍ය කුසල ගංගාවලින් යටපත් වෙලා තෙරුවන් ගුණය රැකවරණයට එනවා. ඒ වගේම විපාක ස්කන්ධය අනුව, කර්ම වේගයට අනුව කායික වේදනා එන්න තියේ නම් ඒවත් ඇදිල එනවා. ඒ කායික වේදනා එන්නෙත් අර කලින් සඳහන් කළා වගේ මැරෙන මොහොත කිට්ටු වෙන කල්. කය හිරි වැටුනට පස්සෙ ඒ කායික වේදනා ඉවත් වෙලා මානසික සිතිවිලි තමයි බලවත් වෙන්නෙ. පෘතජ්ජනයෙකුට නම් මරණාසන්න මොහොතෙදි කන්න නොදී හිටියොත්, වෛර බැඳ ගන්න පුළුවන්. ඔක මට කන්න දුන්නෙ නෑ, මං කවද හරි පළිගන්නව කියන මානසිකත්වයට බහින්න පුළුවන්. එතකොට බඩගින්න නිසා එන කායික වේදනාවයි, තරහ නිසා එන මානසික වේදනාවයි දෙකම තියෙනවා. ඒ බඩගින්න තියෙන්නෙ ඒක කයට දැනෙන කල් විතරයි. කයත් එක්ක සම්බන්ධය නැතිව ගියාම කයට ඒ වේදනාව නෑ. නමුත් මානසික වේදනාව තියෙනවා.

හැබැයි සෝවාන් වෙච්ච කෙනෙකුට ඒ වගේ අවස්ථාවකදි කායික වේදනාව දැනුනත්, අර වගේ පළිගන්න චේතනාවක් මූලිකව නැගිල එන්නෙ නෑ. මනස යන්නෙ හැම වෙලේම යහපත් පැත්තට. බිම්බිසාර රජතුමා අවසාන මොහොත වෙනකල්ම දැඩි විදියට පළිගන්න එද්දිත්, දැඩි කායික වේදනා මැද තෙරුවන් ගුණ සිහි කළා මිසක් තරහක් වෛරයක් ආවෙ නෑ. මොන ජාතියේ පළිගැනීම් කළත් ඒවාට වෛර ක්‍රෝධ බැන්දෙ නෑ. නමුත් කයට එන දුක් වේදනා අප්‍රමාණව විඳින්න වුණා. හැබැයි තෙරුවන් කෙරෙහි ඇති වෙලා තිබුන නොකැඩෙන චිත්ත ප්‍රසාදය අග්‍ර වුනා. මොන බාධක ආවත්, අනේ මේ තෙරුවන් ගුණයට එන්න පුළුවන් නම් කොච්චර හොඳද, මේ සියලු දුක් කරදර මේ ලෝකය නිසානෙ කියන අදහසමයි එන්නෙ. ඒ වගේ බාධක කරදර එන්න එන්න, ලෝකයම එපා වෙනව මිසක් පෘතජ්ජනයෙකුට වගේ ඒකම අල්ල ගෙන උපාදාන වෙලා ඉන්න මානසිකත්වයක් සෝවාන් කෙනෙකුට නෑ. ගැටෙන්න ගැටෙන්න, ''අනේ මේ ලෝකෙ හැටි! මොන තරම් අසත් පුරුෂයොද ඉන්නෙ? මෙහෙම ලෝකයක් මට වැඩක් නෑ, බුදුන් වහන්සේ පෙන්වපු මග ඉක්මනට යන්න තියේ නම් කොච්චර හොඳද?'' මේ වගේ සිතිවිලි තමයි කොච්චරවත් පළවෙනි වෙන්නෙ. පෘතජ්ජනයො වගේ ගිනි ගොඩේ එල්ලිලා ඉඳගෙන ඒකෙන්ම ☞

සුවයක් හොයන්න යන්නෙ නෑ.

එතකොට අසෘතවත් පෘතජ්ජන අයට නම් කරපු පිනක් දහමක් තියේ නම් ඒකත් අමතක වෙලා, කවුරු හරි මරල හරි මම මේක ගන්නව කියන දස අකුසල් අදහස්මයි එන්නෙ. සෘතවා අරිය සාවකෝ අසෘතවා පෘතජ්ජනෝ කිව්වෙ ඒකයි. නමුත් සෝවාන් කෙනා ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ විදියට මූලික වැටහීම ලබල තියෙන නිසා, ලෝකයේ හැටි දකින්න දකින්න ලෝකය එපා වෙනවා. ලෝකයත් එක්ක ගැටිල කාගෙන්වත් පළිගන්න පස්සෙන් හඹා යන මානසිකත්වයක් එන්නෙ නෑ. ඒ නිසා කර්ම, කර්ම නිමිති, ගති නිමිති හෝ ආසන්න කර්ම ඇදිල එන්නෙත් තෙරුවන් ගුණයට අනුකූලවමයි. නරක දෙයක් ඇදිල ආවත් ඒව උපාදාන වෙන්නෙ නෑ. ප්‍රඥාව නැගිල, අනේ මේ අසාර ලෝකෙක හැටිනෙ කියන අදහස ඒත් එක්කම එනවා. එතකොට කරපු විපාක අරමුණක් තමයි එන්නෙ. විපාක අරමුණක් ආවට ප්‍රඥාවෙන් දෙන තීරණයට ඒක යටත් වෙනවා. චිත්තක්ෂණ 17 න් වොත්තපන අවස්ථාවෙදි ප්‍රඥාව පළවෙනි තැනට එනවා, චේතනාවට දෙවෙනි තැන එනවා. ඒක වෙන්නෙ මගඵල ලබපු තැන් පටන්. ප්‍රඥාව 100%ක්ම පහළ වෙන්නෙ රහතන් වහන්සේලාට නමුත් සෝවාන් තැන් පටන් තමයි ඒක පටන් ගන්නෙ. ප්‍රඥා මාත්‍රයක් වැඩුන නම්, ඒ මාත්‍රය තමයි එතැන් පටන් ඒ ඒ මට්ටමින් තීරණ දෙන්නෙ. එතකොට ප්‍රඥාවෙන් කවදාවත් සතර අපාගත වෙන ජනක කර්මයක් එන විදියට තීරණ දෙන්නෙ නෑ, ඒ වගේ ජවන සිත් පහළ කරන්නෙ නෑ. වොත්තපන අවස්ථාවෙදි ප්‍රඥාවෙන් දීපු තීරණයට අනුව තමයි ජවන පහළ වෙන්නෙ. ජවන 5 ක් ගියාම බලවත් වෙච්ච එකින් තමයි පටිසන්ධිය අල්ලන්නෙ.

සෝවාන් වෙච්ච කෙනෙක් තෙරුවන් ගුණ මුල් කරගත්තු දෙයක් උපාදාන කරන නිසා ඒ අනුව තමයි ඊළඟ අත්බවය සුගතියක ඉපදෙන්නෙ. මනුස්ස වුනොත් කවදාවත් ද්විහේතුක, අහේතුක පටිසන්ධියකින් උපත ලබන්නෙ නෑ. ත්‍රිහේතුක පටිසන්ධියක්මයි එන්නෙ. මොකද ඒ වගේ කෙනෙක් සාමාන්‍ය කුසලයකින් නෙවෙයි උපදින්නෙ. තෙරුවන් කෙරෙහි අසීමිත ගෞරවයක් ඇති වන චිත්ත ප්‍රසාදයකින් තමයි ත්‍රිහේතුක වෙලා උපදින්නෙ. අලෝභ, අදෝස, අමෝහ මුල් කරගත්තු හිතක්මයි එතකොට එන්නෙ. කවදාවත් ලෝභ, ද්වේශ, මෝහ මුල් කරගත්තු හිතක් උපාදාන වෙන්නෙ නෑ. පෘතජ්ජනයින්ට ලෝභ, දෝස, මෝහ සිත් උපාදාන වෙන නිසා තමයි සතර අපාගත වෙන්නෙ.

ඒ වගේම සෝවාන් කෙනෙකුට මරණාසන්න මොහොතෙ සතර අපාගත වීමට හේතු වන දූෂ්‍ය අරමුණක් ආවොත් ඒක දෙවෙනි වෙනවා. දෙවෙනි වෙලා සුගතිගාමී පැත්ත ඊට වඩා කොච්චර වටිනවද කියන අදහස එනවා. ලැව් ගින්නක් හටගත්තු තැන නැවතත් ගින්නක් හට ගන්නෙ නෑ වගේ තමයි සෝවාන් පුද්ගලයෙකුගෙ කෙලෙස් දැවීමත්. කෙලෙස් අනුසයත් එක්ක එකින් එක බිඳගෙන යනවා. හැබැයි මේ කය සකස් කරපු ගති ලක්ෂණය නිසා ඇති වෙච්ච විපාකයක් තියේ නම් ඒක මේ මස් ලේ කය තියෙනකල්ම එනවා. මේ කය බිඳෙනවත් එක්කම තෙරුවන් කෙරෙහි මානසිකත්වය පළවෙනි වෙනවා. මනුස්ස ගන්ධබ්බයො විදියට කයින් පිට වුනත්, උපාදාන කළේ මනුස්ස සංඛාර ඉක්ම වූ කුසලයක් නම් මනුස්ස ගන්ධබ්බ විදියට තවදුරටත් ඉන්නෙ නෑ. ඊට වඩා බලවත් දේව, බ්‍රහ්ම සංඛාර වැඩුවොත් එතනින් ඒකාන්ත-යෙන්ම චුත වෙනවා. එතකොට දේව, බ්‍රහ්ම වගේ තවත් ඉහළ අත් බැවකට යනව මිසක් නැවත මනුස්ස වෙන්න උපාදාන කරන්නෙ නෑ. නමුත් මනුස්ස සංඛාර නොඉක්මවා හිටියොත් නැවතත් මනුස්ස ලෝකෙටම එන්න පුළුවන්. එහෙම ආපු අයට තමයි ජාත සෝතාපන්න කියන්නෙ. මනුස්ස සංඛාරවලට සමාන ගති ලක්ෂණ තියෙන චාතුර්මහා රාජිකයේ ඉන්න මගඵල ලාභී අයත් නැවත මේ මනුස්ස ලෝකයේ උප්පත්තියට එන්න පුළුවන්. ජන වසභ කියන්නෙත් ඒ වගේ කෙනෙක්.

එතකොට සෝවාන් වෙච්ච කෙනෙක්ගෙ මරණාසන්න මොහොතෙ මානසිකත්වය මේ වගේ නම් සකෘදාගාමී, අනාගාමී අය ගැන කොහොමත් කතා කරන්න දෙයක් නෑ. හැබැයි ඒ අයගෙත් කෙලෙස් සම්පූර්ණයෙන්ම ප්‍රහීණ වෙලා නැති නිසා ලෝකය අල්ල ගත්තු ප්‍රමාණයට අනුව මානසික වේදනාව කල් තියා ආවත් අවසන් මොහොතෙදි අර වගේ වෙනස් වෙලා පුණ්‍ය කුසල ගංගා ඊකවරණයට හිටිනවා. ඒ කල් තියා එන මානසික වේදනාවත් සෝවාන් අයට වඩා අඩුයි. හැබැයි විපාක විදියට කායික වේදනා එන්න තියේ නම් ඒව අඩුවක් නැතිව අර විදියටම එනවා. ඒ කායික වේදනා බුදුන් වහන්සේ ඇතුළු රහතන් වහන්සේලාටත් පොදුයි. බුදුන් වහන්සේට සහ රහතන් වහන්සේලාට මානසික වේදනාවක් කොහෙත්ම එන්නෙ නෑ. අනෙක් හැම කෙනාටම ඒ ඒ අයගෙ මට්ටම්වලින් මරණාසන්න මොහොතට පෙර මානසික වේදනාව එන්න පුළුවන්. එහෙම ආවත් මරණාසන්න මොහොතෙදි ඒක නැති වෙනවා. ඒ මානසික වේදනාව අසෘතවත් පෘතජ්ජනයින්ට මරණාසන්න මොහොතෙ පවා මහා භයානක විදියට එන්න පුළුවන් බව පසුගිය කලාපවලින් විස්තර කළා.

ඒ වගේම රහතන් වහන්සේලාටත් කායික වේදනා එන බව බොජ්ඣංග පිරිත්වල පෙන්වා තියෙනවා. මහා කස්සප ථේර බොජ්ඣංගයේ සහ මහා මොග්ගල්ලාන ථේර බොජ්ඣංගයේ ඒ කාරණා සඳහන් වෙනවා. බාල්හා මේ දුක්ඛා වේදනා අභික්ඛ මන්තී නො පටික්ඛ මන්තී... ආදී වශයෙන් කියන්නෙ ඒ එන කායික වේදනාවන් ගැන. වතාවක් දැඩි විදියට කායික වේදනාවට පත්වෙච්ච මහා කස්සප රහතන් වහන්සේ පිප්පලී ගුහාවෙ වැඩ වාසය කරන කොට, උන්වහන්සේ බලන්න බුදුන් වහන්සේ වැඩම කරල සුව දුක් විමසනවා. එතකොට මහා කස්සප හාමුදුරුවො මෙහෙම කියනවා. ''මේ අසනීපය උහුලාගෙන ඉන්න බෑ, දරාගෙන ඉන්න බෑ, ටිකෙන් ටික වැඩි වෙනව මිසක් අඩුවෙන හැඩක් පේන්න නෑ, වැඩි වෙලාම අවසන් වෙන්න හදනවා මිසක් අඩු වෙලා අවසන් වෙන හැඩක් පේන්න නෑ.'' එතකොට බුදුන් වහන්සේ උන්වහන්සේට බොජ්ඣංග ධර්ම හත දේශනා කරනකොට, ඒක අහල ඒ අසනීපය සුවපත් වෙලා උන්වහන්සේ නැගී සිටියා. ඒ වගේම මුගලන් මහ රහතන් වහන්සේත් ඒ වගේම සිද්ධියකට මුහුණ පෑ වෙලාවෙ, බුදුන් වහන්සේ වැඩම කරල බොජ්ඣංග පිරිත දේශනා කළාම තමයි ඒක අහල ඒ කායික අසනීපය සුවපත් වුණයි කියන්නෙ. ඒක තමයි මහා මොග්ගල්ලාන ථේර බොජ්ඣංගයේ තියෙන්නෙ. ඒ වගේ කායික වේදනා බුදුන් වහන්සේටත් ඇවිත් තියෙනවා. ඒ තමයි මස් ලේ කයක හැටි.

දැන් එතකොට පැහැදිලි වෙනව, පෘතජ්ජන අයගෙ සහ මගඵල ලාභීන්ගෙ මරණාසන්න මොහොතෙදි ඇතිවන මානසික ස්වභාවයේ වෙනස. **පෘතජ්ජනයා ලෝකයේ දේවල් දැඩි විදියට උපාදාන කරගෙන තියෙන නිසා, ඒ හේතුවෙන්ම ඒව දාල යන්න වෙනකොට මහ විසාල මානසික වේදනාවක් එනවා. ඒ නිසා තමයි මැරෙන බහුතරය සතර අපාගත වෙනව කියන්නෙ.** නමුත් සෝවාන්, සකෘදාගාමී, අනාගාමී මගඵල ලාභීන්ට ඒ ඒ අය ලෝකෙට බැඳිල ඉන්න මට්ටමින් විවිධ මානසික වේදනා මුලින් ආවත්, මරණාසන්න මොහොතෙදි තෙරුවන් ගුණයට සම්බන්ධ අරමුණක්ම සිහි වෙනවා. අන්තිමට උපාදාන වෙන්නෙ ඒ වගේ තෙරුවන් ගුණයක්. එහෙනම් මේ කායික මානසික වේදනාවන්ගෙන් සදහටම මිදෙන්න තියෙන එකම මාර්ගය තමයි මේ චතුරාර්ය සත්‍යය අවබෝධ කර ගෙන අවසානයේ ලෝකය සම්පූර්ණ-යෙන්ම අත හැරීම.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෙහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෘථග්ජනයින්ට සහ මග ඵල ලාභීන්ට ඇති වන මානයේ වෙනස

*(පසුගිය කලාපයෙන්: සත්කාය දෘෂ්ටිය යැයි අස්මි මානයට රැවටීම....)*

උච්ච මානය, සදිස මානය සහ හීන මානය කියල මානය ප්‍රධාන අවස්ථා 3 කින් විද්‍යමාන වන බව පසුගිය කලාපයෙන් විග්‍රහ කළා. දැන් මේ විස්තර කරන්න යන්නෙ මේ අවස්ථා තුන පෘථග්ජනයින්ට සහ මගඵල ලාභීන්ට පිහිටන්නෙ කොහොමද කියන කාරණය. හැබැයි මේ විස්තර කරන කරුණුවලින් බොහොමයක් මේ විදියට පොත්පත්වල සඳහන් වෙන්නෙ නෑ. ඒ නිසා නැණ නුවණට ගෝචර වෙන විදියට කෙරෙන විග්‍රහයක් තමයි මේ සඳහන් කරන්නෙ. ඒ කියන්නෙ දහම පිළිබඳ යම් කිසි යථාවබෝධයක් ලැබෙන කොට මේ කාරණා මේ විදියයි කියල නැණ නුවණට ගෝචර වෙනවා. ඒ නිසා මේ විග්‍රහය දහම් මග වඩමින් යන අයට තමන්ගෙ තියෙන අඩුපාඩුකම්, දුර්වලතා මග හරව ගෙන ඉදිරියට යන්නත් යම් කිසි රුකුලක් වේවි.

පෘථග්ජන පුද්ගලයෙකුට මේ ලෝකයේ තියෙන වටිනාකම අසීමිතයි. ඒ නිසා ඒ පුද්ගලය ලෝකයේ තියෙන වස්තු සම්පත්වලට අසීමිත වටිනාකමක් දෙනවා. එතකොට ඊට විරුද්ධව යමෙක් නැගෙනව නම්, කටයුතු කරනව නම්, ඒ විරුද්ධත්වය නැගිච්ච තරමට ඒ පුද්ගලය ඒකට අධික වටිනාකමක් ලබා දෙනවා. මේ හේතුව නිසා ඒ වගේ සමහර අය ඉතාම සුළු දේකටත් මිනී මරා ගන්න පෙළඹෙනවා. මොකද වෙනත් කෙනෙක් ඒවට මගෙ කියල අයිතිවාසිකම් කියයි කියන බයට. ඒ නිසා පොඩි වැටක ඉන්නක් එහා මෙහා කළත් ගහ මරා ගන්න පෙළඹෙන්න පුළුවන්. සමහර වෙලාවට ඒ වස්තුව තමන්ගෙ කියන වචනයට විරුද්ධව යමක් ඇහෙන කොට, දැනෙන කොට ඉවස ගෙන ඉන්න බැරිව යනවා. එතකොට ඒක සාමාන්‍ය දෙයක් හැටියට නෙවෙයි මහා ලොකු දෙයක් හැටියට සලකනවා. වැට මායිමේ තියෙන පුංචි ගහක් කොළක් හරි, අපේ වත්තට අයිතියි කියල කවුරු හරි කිව්ව නම්, සමහර විට ඒකම ඇති ගහ මරා ගන්න. පෘථග්ජනයින්ගෙ මමත්වය ඒ තරම් බලවත්. තමන්ගෙ ගෙදර ඉන්න කෙනෙක් හරි ඒක තමන්ගෙයි කියල කියනවට සමහරු කැමති නෑ. එතනදි බලන්නෙත් මේ ගෙදර ඇතුළු දේපල මගේ කියන හැඟීමෙන්. අනෙක් අයගෙ සම්බන්ධයක් කියනවටවත් කැමති නෑ. කවුරු හරි කිව්වොත්, මේක උඹේ විතරක් නෙවෙයි අපිත් ඉන්නෙ මේ ගෙදර කියල, ඒ අයත් එක්ක වෛර බැඳ ගන්නවා.

මෙහෙම ස්වභාවයක් තමයි පෘථග්ජන අයට බොහෝකොටම තියෙන්නෙ. එතකොට පුද්ගලයට තමන්ගෙ කියල දෙයක් ලැබුනම ඒකෙන් උඩඟු වෙනවා. ඒක තමයි උච්ච මානය කියන්නෙ. ඒ උච්ච මානය නිසාම ඒ අය ඒ වස්තු සම්පත්, තාන්න මාන්න තමන්ගෙ කියල රැක ගන්න ගිහින්, අර වගේ ගැටුම් ස්වභාවයක් ඇති කරගෙන දස අකුසල් වලට වැටිල, දුක් කරදර විඳින්න සිද්ධ වෙන සතර අපාගත වන



මට්ටමේ ගින්නක් බවට පත් කර ගන්නවා. තමන්ගෙ දේට විරුද්ධත්වය එන වාරයක් පාසා ඒ ගින්න පත්තු වෙනවා. මොකද කෙනෙකුට මානයක් ආවොත් ඒ මානයට කවුරුවත් ගරු කරන්නෙ නෑ, කැමති නෑ. අනෙක් පිරිසත් හැම වෙලේම ඒ මානයට පහර ගහන්න තමයි බලන්නෙ. ඒ කියන්නෙ මානය අනෙක් අයට වදයක්. මොකද මේ මාන්නක්කාරකම හැම වෙලේම බලන්නෙ අන්‍යයන් හීන කරල, නීච කරල, පහත් කරල තමන් ලොකු වෙන්න. ඒක තමයි අත්තුක්කංසන - පරවම්භන කියන්නෙ. ඒ කියන්නෙ තමන් උසස් කරල අනෙකා පහත් කරල සලකනවා. ඒ සඳහා මොන විදියට හරි විවිධ ක්‍රම යොදනවා. ඒ තමයි සාමාන්‍යයෙන් පෘථග්ජන අයට තියෙන උච්චමානයේ ස්වභාවය.

ඒ වගේම පෘථග්ජන පුද්ගලය බොහොම කැමතියි, තමන්ට වඩා ඉහළින් ඉන්න ලොකු ලොක්කන් එක්ක සමාන වෙන්න. ඒ තමයි සදිස මානය. ඒ නිසා හැම වෙලේම ලෝකයාට පෙන්වන්න හදන්නෙ, සමාජයේ ඉහළින් ඉන්න අහවල් අය මගේ නෑදෑයො, මම අහවලාගෙ අහවලා... ආදී වශයෙන්. ඉතින් නැති නෑදෑකම්, නැති හැඳුනුම්කම් හද හදා කියන්න දඟලනවා. ඒ වගේම ඒ සඳහා ජීවිතය වුනත් පරදුවට තියල ක්‍රියා කරන්න දඟලනවා. නොයෙක් අසාධාරණකම් කරනවා. උසස් අය මං වගේ, මමත් ඒ වගේ, ඒ අයට තියෙන ජාතියෙ වස්තු සම්පත් මටත් තියෙනවා කියන මේ වගේ අදහස් තමයි ඒ පුද්ගලයට එන්නෙ. කයිවාරු ගහන්න ගියාමත් ඒ වගෙයි. නමුත් අහන් ඉන්න අනික් අය ඒවට හරි අකමැතියි. මොකද අනික් අයත් ලෑස්ති වෙලා ඉන්නෙ ඒ ජාතියේම අදහස් ගන්න. ඒ නිසා, ඔය උන්ගෙ ලොකුකම් අපිට පෙන්වන්න ඕන නෑ කියනවා. නමුත් ඒ පුද්ගලයගෙ ලොකුකමක් කිව්ව නම්, එහෙම කතා කරන්නෙ නෑ. ඒකට ප්‍රසංසා කරනවා. හරි කැමතියි. ''අන්න උන් තමයි මගේ හැටි දන්නෙ.'' මෙහෙම කියනවා.

ඉතින් මේ විදියට තත්ත්ව, තානාන්තරවලින් හා දේපල මිල මුදල් ආදියෙන් අනෙක් අයට සම වෙන්න හදනවා. උත්සාහය අසාර්ථක වෙන කොට ඒකට ගැටෙනවා. ඒ ගැටීම සමහර විට පුද්ගලයා සතර අපාගත මට්ටමට යවන්න තරම් බලවත් වෙනවා. ඒ කියන්නෙ තමන්ට නොලැබිච්ච සම තැනක් ගන්න, අනුන්ට ගිනි දෙන්න බලාපොරොත්තු වෙනවා. තමන්ට දිනන්න බැරි වුනොත් අනුන්ට ගිනි පත්තු වෙන දෙයක් කරනවා. අනේ අපොයි අපිට මේ මොන අපරාධයක්ද කළේ කියල, පසුව පලාගෙන යන්න තරම් කෑ ගහන ජාතියේ වැඩ කරන්න තරම් නොපැකිලව ඉදිරිපත් වෙනවා. සමහර විට දේපල ගිනි තියන්න, ජීවිත හානි කරන්න පුළුවන්. ඒ වගේ දේවල් ගිනි අපායට යන්න තරම් හේතු වෙනවා. පෘථග්ජන පුද්ගලයට මේ වගේ මානසිකත්වයෙන් සංඛාර ගොඩ-නැගෙන්න පුළුවන්.

මෙතනදි සමානකමට සමානයි කියනව නම් ඒක සාමාන්‍ය දෙයක්, ලෝක තත්ත්වයක්. උදාහරණ විදියට ගුරුවරයෙක් තවත් ගුරුවරයෙකුට ආසන්න වශයෙන් සමානයි, උපාධිධරයෙක් තවත් ඒ ජාතියේ උපාධිධරයෙකුට ආසන්න වශයෙන් ☞

සමානයි, වෛද්‍යවරයෙක් වෛද්‍යවරයෙකුට ආසන්න වශයෙන් සමානයි. ඒ තමයි ලෞකිකත්වයේ තියෙන සමානකම. හැබැයි ඒවා 100% ක්ම සමානයි කියන්නත් බෑ. ආසන්න වශයෙන් තමයි සමාන වෙන්නෙ. මොකද ඒ එකම මට්ටමේ දෙන්නෙක්ගෙ වුණත් ඒ ක්ෂේත්‍රයේ හැකියාවන්ගෙන් විවිධ වෙනස්කම් තියෙන්න පුළුවන්. ඒ නිසා දළ වශයෙන් තමයි මේ සමානයි කියන්නෙ. ඒ වගේ එක්තරා මට්ටමක සමානත්වයක් සමාජ සම්මතයේ ලෞකිකත්වය තුළ තියෙනවා. හැබැයි ඒ 100% ක්ම සුද්ධව නෙවෙයි. නමුත් රහතන් වහන්සේට රහතන් වහන්සේ සමානයි, අනාගාමී කෙනෙක් අනාගාමී කෙනෙකුට සමානයි, සකෘදාගාමී කෙනෙක් සකෘදාගාමී කෙනෙකුට සමානයි, සෝවාන් කෙනෙක් සෝවාන් කෙනෙකුට සමානයි කිව්වම, ඒක තමයි සුද්ධ ඇතිව කියන නියම සමානත්වය. බුදුන් වහන්සේ පෙන්වල තියෙන්නෙ එහෙමයි. ඒ කියන්නෙ ඵලවලින් සමානයි. (නමුත් හැකියාව-න්ගෙන් විවිධ වෙනස්කම් තියෙන්න පුළුවන්.) ඒක තමයි යථාර්ථයෙන් කියන නියම සමානත්වය. එතකොට සදිස මානයයි, සමානත්වයයි කියන්නෙ කාරණා දෙකක්. සදිස මානය කියන්නෙ විසම අදහසක්. සමානත්වය කියන්නෙ යථාර්ථය.

එතකොට මේ සමාජ සම්මතයේ තියෙන සමානත්වයවත්, ආර්ය විනයේ පෙන්වන සමානත්වයවත් නෙවෙයි මේ කියන්නෙ. සමහර විට කම්කරුවෙක් විදියට රැකියාව කරන කෙනෙක්, තමන් ඉංජිනේරුවෙක් කියල මිනිස්සුන්ට බොරුවට අඟවන්න පුළුවන්. ඒ කියන්නෙ නැති සමානත්වයක් පෙන්වන්න හදනවා, සම වෙන්න බලනවා. ඉතිං කොහොම හරි බලන්නෙ ඒ වගේ අයත් එක්ක දැන හැඳුනුම්කම් ඇති කරගන්න, රවට්ටල හරි අනික් අයට මාත් අහවල් ජාතියෙ කෙනෙක් කියල පෙන්වන්න. සමාජයේ තමන්ට තැනක් ගන්න තත්ත්ව තානාන්තර, කුලය, ජාතිය, දේපල, මිල මුදල්, විවිධ ලෞකික හැකියාවන් සම්බන්ධයෙන් මේ අදහස් එන්න පුළුවන්. ඒ සදිස මානය නිසා පෘතජ්ජනයා හැම තිස්සෙම උත්සාහ කරන්නෙ, විවිධ පැතිවලින් තමනුත් අහවල් කෙනා වගේ කියන්න, තමන්ටත් අහවල් කෙනාට වගේ තියෙනවයි කියන්න. එහෙම නැත්නම් තමන්ගෙ කෙනෙක් අහවල් කෙනා වගේ කියන්න. නමුත් ඇත්ත වශයෙන්ම ඒ තත්ත්වය අහලකවත් නැතිවෙන්න පුළුවන්. හැබැයි පෙන්වන්න උත්සාහ කරන්නෙ එහෙමයි. ඒ උත්සාහය අසාර්ථක වුණොත් අර දස අකුසල්ම දරුණු විදියට කරන්න පෙළඹෙන්න පුළුවන්.

පෘතජ්ජනයින්ට එන හීන මානයත් ඒ වගේමයි. හැම වෙලේම හිතන්නෙ අනෙක් අය තමන් කොන් කරනව, තමන්ට තැනක් දෙන්නෙ නෑ කියල. ඒ හීන මානයත් අර වගේ විවිධ දේවල් සම්බන්ධයෙන් එන්න පුළුවන්. අනෙක් අය තමන් පහත් කියල හිතාගෙන ඉන්නව කියල තමයි අදහස් ගන්නෙ. ඊට පස්සෙ අර නොකෙරෙන දීගෙට හෙවණැල්ලත් ඇදයි කියනව වගේ, ගිය ගිය තැන ඒ පුද්ගලයට පේන්නෙ තමන් හීන කරනව වගේ. ඒ නිසා ඊළඟට ඒකට විරුද්ධව නැඟී සිටිනවා. බොහෝ පිරිස් එක්ක වෛර බැඳ ගන්නවා. සමහරවිට සතර අපාගත වෙන මට්ටමේ දස අකුසල්





කරන්න පෙළඹෙනවා. ඉතිං හැම වෙලේම දැවෙනවා, තැවෙනවා.

යම් කිසි කෙනෙක් සෝතාපන්න වුණා නම්, ඒ අවස්ථාවෙදි ඔය කියන මාන තුනේ ඉහළම කොටස හෙවත් සතර අපාගත වෙන මට්ටමේ කොටස පූර්ණ වශයෙන් බිඳිල යනවා. සත්කාය දිට්ඨි, විචිකිච්චා, සීලබ්බත පරාමාස කියන සංයෝජන ධර්ම තුන සම්පූර්ණයෙන්ම බිඳිල යනවත් එක්කම, අර මාන තුන ඇතුළු අනෙක් සංයෝජන ධර්ම හතේම තියෙන සතර අපාගත මට්ටමේ කොටස බිඳිල ඉවත් වෙනවා. 100% ක්ම බිඳෙනව නෙවෙයි. ඒ නිසා මේ මාන තුන සෝවාන් කෙනාටත් සතර අපාගත නොවන මට්ටමින් තියෙනවා. උදාහරණ විදියට උච්ච මානය හෙවත් මම උසස්ය කියන මානය එක්තරා මට්ටමකට තියෙනවා. ඒ කියන්නෙ යම් කිසි විදියකින් උතුමන් එක්ක උසස් වෙලා ඉන්න, ඒ බව අනික් අයට පෙන්වන්න කැමතියි. අනෙක් අයට වඩා මං බණ ටිකක් හරි ඉගෙන ගන්න ඕන කියන එහෙම අදහසක් සමහරුන්ට එන්න පුළුවන්. දැන් ඒ හා සමාන අවස්ථාවක් ගැන ධර්මයේ මෙහෙම සඳහන් වෙනවා.

එක්තරා උපාසක මහත්තයෙක් තමන්ගෙ පිරිසත් එක්ක ප්‍රතිපත්ති පුරන්න පටන් ගත්තා. මුලින්ම ප්‍රතිපත්ති පුරන්න පටන් ගත්තෙ පංච දුෂ්චරිතයෙන් වෙන්වෙලා ඉන්නව කියල. ඔක්කොම ඒ විදියට ඉන්නකොට මේ උපාසක මහත්තය කල්පනා කරනව, මං මොකටද අනෙක් අයට සම වෙන්නෙ, දැන් මම විශේෂයක් කරන්න ඕන කියල. ඒ නිසා අබ්‍රහ්ම චරියාවෙන් වෙන් වෙනව කියල ඊළඟට බ්‍රහ්ම චරියාවෙ හැසිරෙන්න පටන් ගත්තා. එතකොට අනික් පිරිසත් එහෙම කරන්න පටන් ගත්තා. ඊළඟට මේ උපාසක මහත්තය නැවතත් අනෙක් අයට වඩා විශේෂ වෙන්න ඕන කියල අෂ්ටාංග සීලය සමාදන් වෙන්න පටන් ගත්තා. ඊට පස්සෙ අනික් පිරිසත්, අපිත් මොකද මෙහෙම ඉන්නෙ කියල ඒකම කළා. ඊළඟට උපාසක මහත්තය, දැන් මේ අය මට සමාන වුණානෙ කියල ගෘහස්ථ දස සීලය සමාදන් වුණා. අර පිරිසත් ඊළඟට ඒකම කරන්න පටන් ගත්තා. දැන් මේ උපාසක මහත්තය, මෙහෙම ඉඳල බෑ මං අනික් අයට සමාන වුනා කියල තවත් විශේෂත්වයක් ගන්න පැවිදි වුණා. ඊළඟට අර පිරිසත් පැවිදි වුණා. දැන් මොකද කරන්නෙ, අන්තිමට මේ හාමුදුරුවො උත්සාහ වීර්ය කරල කොහොමහරි අරිහත්වයට පත්වුණා. ඊළඟට අනික් පිරිසත් මාර්ගය පූර්ණ කරල අරිහත් වුණා. එතකොට මාන අනුශයවත් නැතිව සම්පූර්ණයෙන්ම බිඳිල ඉවරයි. ඊට පස්සෙ බුදුන් වහන්සේගෙන් අහනව, දැන් මේ අයගෙ වෙනස මොකක්ද කියල. දැන් කවුරුත් සමානයි කියල උන්වහන්සේ උත්තර දෙනවා.

දැන් එතකොට එතැන සතර අපාගත වෙන මට්ටමේ උච්ච මානයක් නෙවෙයි පෙන්නුවෙ. නමුත් ඒ පුද්ගලය ගුණයෙන් අනික් අයට වඩා උසස් කියල පෙන්වන්න උත්සාහ කළා. ගුණයෙන් පහත් කරල කතා කළොත්, පුද්ගලය පීඩනයකට පත්වෙනවා. හැබැයි හිතේ වික්ෂිප්තභාවය සතර අපාගත වන මට්ටමට යන්නෙ නෑ. නමුත් හිත් වේදනා විඳවනවා. අනික් අයට වචනවලින් දොස් කියන්නත් පුළුවන්. නමුත් පෘතජ්ජන අය වගේ ඒකට ගහ මරා ගන්න යන්නෙ නෑ. ඒක තමයි තියෙන වෙනස.

සදිස මානයත් ඔය වගේම ☞

තමයි. ගුණවතුන් එක්ක මාත් එහෙමයි කියල සම වෙන්න කැමැත්තක් තියෙනවා. ඒකට විරුද්ධව යමක් ආවොත්, සතර අපාගත නොවන මට්ටමට අර වගේ වික්ෂිප්තභාවයක් ඇතිවෙන්න පුළුවන්, යම් යම් වචන ප්‍රකාශ කරන්න පුළුවන්.

හීන මානය ආවම ඒ පුද්ගලය කල්පනා කරනව, අනික් අය මං පහත් කරනව, මට දොස් කියනව කියල. හැබැයි පෘතජ්ජනයො වගේ ඒකට ගහමරා ගන්න යන්නෙ නෑ. ඒ නිසා ඒ පුද්ගලය කල්පනා කරනවා, මං යන්නෙ නෑ අනික් අය එක්ක, මං මොකටද නිකං කොන් වෙන්න යන්නෙ, කොහොමත් මං කොන් වෙලානෙ ඉන්නෙ, නිකං බොරුවට අනික් අයගෙන් අපහාස ලබන්න ඕන නෑ, මං මගේ පාඩුවෙ මගේ තැන රැකගෙන ඉන්නවා... ආදී වශයෙන් එතකොට වික්ෂිප්ත භාවයක් හටගන්නවා.

උදාහරණ විදිහට සුන්දර පරිබ්‍රාජිකාව මරල, වැල්ලෙ වළලල, බුදුන් වහන්සේ ඇතුළු සංඝරත්නයට නින්දා කරන කොට ආනන්ද හාමුදුරුවො කියනව, ස්වාමීනි අපි මේ ගම අතහැරල දාල වෙනත් ප්‍රදේශයකට යමු කියල. එතකොට බුදුන් වහන්සේ කියනව, මේ කර්ම වේගය අතහැරල කොහෙ යන්නද, තව දින 7 කින් මේක සංසිඳෙයි, එතකල් ඉවසගෙන ඉන්න කියල. එතකොට ආනන්ද හාමුදුරුවො එහෙම කිව්වෙ, ඒ වගේ අපවාදයක්, නින්දාවක් දරන්න අකමැති නිසා. නමුත් සෝවාන් වෙලා හිටියෙ. බැගෑපත් වෙන ආකාරයක් නෙවෙයි මේ කියන්නෙ. අනික් අය හීන විදියට තමන්ට සළකනව කියල ඇතිවන දූෂ්‍යතාවයක්. හැබැයි පෘතජ්ජනයො වගේ ගහමරා ගන්න තරම් දූෂ්‍ය හිතක් නොවන එකයි වෙනස. මොකද මේ ලෝකය වටිනවා, හරවත් කියන දෘෂ්ටිය අහක් වෙලා තියෙන්නෙ. ඒ නිසා සතර අපාගත වෙන මට්ටමේ හීන මානයක් එන්නෙ නෑ, ඒ මට්ටමට හිත දූෂ්‍ය වෙන්නෙ නෑ.

ඊළඟට සකෘදාගාමී අය ගත්තොත්, මේ කාම ලෝකයේ තියෙන වස්තු කාම, ක්ලේශ කාමවලින් කාම ලෝකයට අයිති වස්තු කාමවලට තියෙන උපාදානය තුනී කරල තියෙන නිසා, වස්තු කාම සම්බන්ධයෙන් මාන තුනේ බලවත් කොටස ඒ අයට නෑ. ඒ කියන්නෙ මාන්නක්කාරකමින් මට මෙච්චර තියෙනවා, මං මෙහෙම කෙනෙක්, මටත් අහවලා වගේ දේපල තියෙනවා, අනේ මට ඒ අයට වගේ මිල මුදල්, දේපළ නැනෙ, ඒ අය මාව පහත් කරල සළකනවා... ආදී වශයෙන් බලවත් මාන ස්වභාවයක් ඒ අයට එන්නෙ නෑ. ඒ විදියට වස්තු කාමයන් පිළිබඳ තියෙන බලාපොරොත්තු අඩු නිසා, ඒ සම්බන්ධයෙන් බලවත් උච්ච මානයක්, සදිස මානයක්, හීන මානයක් ඒ අයට නෑ. නමුත් තමන්ගෙ කය පිළිබඳව තවමත් අර මාන තුන තියෙනවා. අනික් අයට වඩා විශේෂත්වයක් මට තියෙනවා කියන කාරණයෙන් මාත්‍රයක් හරි අඟවන්න උත්සාහ කරන්න පුළුවන්. ඒ කියන්නෙ අස්මි මානයත් එක්ක එන මමත්වය තියෙනවා.

හැබැයි මෙතනදි මානය කියල කිව්වෙ පෘතජ්ජනයින්ට තියෙන අති මානය කියන ගැඹුරු හරිය නෙවෙයි. ඊට වඩා ක්‍රමයෙන් ලිහිල් වෙච්ච ප්‍රමාණයක් තමයි මේ කියන්නෙ. සතර අපාගත මට්ටම කොහෙත්ම නෑ. කාම ලෝකයේ ගැටෙන මට්ටම, දැවෙන මට්ටම අඩු වෙනවා. මොකද වස්තු කාම නිසා සාමාන්‍ය ලෝකයා මේ මාන තුනෙන් දැවෙනවා. නමුත් සකෘදාගාමී කෙනාට මට මෙච්චර වස්තු තියෙනවා, අහවලාට වගේ මටත් තියෙනවා... ආදී වශයෙන් අහංකාරකමක් නෑ. හැබැයි තමන්ට යමෙක් උසස් කරල සළකනව නම්, කතා කරනව නම් කැමතියි.



ඒ වගේ තත්ත්වයක් ලබන්න කැමතියි. නමුත් නොලැබුණයි කියල ගැටෙන්න යන්නෙ නෑ. ඒ වගේම උසස් අයට වගේ තමන්ටත් සමාන කරල කතා කරනව නම් ඒකටත් කැමතියි. ඒ මට්ටමේ සදිස මානයක් තියෙනවා. කයට කය සම්බන්ධ කරල කතා කරනවට කැමතියි. ඔබේ ශරීරයේ ගුණවන්ත ලකුණු තියෙනව කියල කිව්වොත් ඒකට කැමතියි. ඒ කියන්නෙ රූප ලක්ෂණ කියනවට කැමතියි. නමුත් ඒකත් එක්තරා මාන්නයක්. ඔබත් හරියට අහවල් හාමුදුරුවො වගේ කියල, හොඳ සිල්වත් හාමුදුරුවො නමකට සමාන කරල කතා කළොත් ඒකට කැමතියි. නරක කෙනෙක් සම්බන්ධ කරල කතා කළොත් එහෙම ටිකක් හිත දූෂ්‍ය වෙනවා. නමුත් ඒ සම්බන්ධයෙන් වන ඇලීම්, ගැටීම් දෙක හුඟක් අඩුයි.

ඊළඟට අනාගාමී වෙනකොට ඔය මාන තුන තවත් ප්‍රහීණ වෙනවා. එතකොට මේ කාම ලෝකයට අදාළව ක්ලේශ කාම කියන දෘඪි කාම කොටසට අදාළ මානය නෑ. මොකද මේ දේව, මනුස්ස කියන කාම ලෝක ගැන උපාදානයන් ඇත්තෙම නෑ. නමුත් රූපාවචර ලෝකය පිළිබඳ රාගය තියෙන නිසා ඒ සම්බන්ධයෙන් මාන අනුසය තියෙනවා. ඒ නිසා මට ධ්‍යාන, අභිඥා තියෙනවා... ආදී වශයෙන් එන හැඟීමට ප්‍රිය කරනවා. රූපාවචර ආස්වාදයන් පිළිබඳව යම්කිසි මානයක් ඇතිවෙනවා. තව කෙනෙකුට තමන්ට වඩා දහන් තියෙනව කියල පුරසාරමට කිව්වොත් එහෙම, ඒ වගේ දෙයක් අහන්න එච්චර ප්‍රිය කරන්නෙ නෑ. ඒ වගේම යම් කිසි විදියකින් රොස් පරොස්වන යමක් කිව්වොත්, එහෙම නැත්නම් ඒ පුද්ගලය කරන හොඳ වැඩක අගුණයක් කිව්වොත් එක්තරා වික්ෂිප්තතාවයක් එන්න පුළුවන්. ඒ වෙලාවෙදි ඒකට විරුද්ධව උත්තරයක් හරි දෙන්න හිතෙනවා. ඒ කතාව ඇත්ත වුණත් ඒකට වචනයක් හරි කියන්න හිතෙනවා. මොකද ඒ සම්බන්ධයෙන් මාන මාත්‍රයක් හරි තියෙන නිසා. නමුත් ද්වේශයෙන් යමක් කියන්නෙ නෑ. ඒක එහෙම නෙවෙයි කියල කරුණු පෙන්වන්න, මොනවහරි කියන්න පුළුවන්. දැන් මේකට උදාහරණයක් දහමෙ තියෙනවා.

අනාගාමී වෙලා හිටපු චිත්ත ගහපති ළඟට එක් අවස්ථාවක භික්ෂුන් වහන්සේ නමක් වැඩියා. හැබැයි උන්වහන්සේ සාමාන්‍ය භික්ෂුවක්. චිත්ත ගහපති ඒ භික්ෂුන් වහන්සේට අංග සම්පූර්ණ දානයක් හදල පිරිනැමුවා. මේ භික්ෂුන් වහන්සේ හැම තැනම ඒකෙ අඩුපාඩුවක් හොයල බැලුවා. මේකට තව පැණියි තලයි අඩුයි කියල අන්තිමට කිව්වා. එතකොට චිත්ත ගහපතිට එක්තරා වික්ෂිප්තභාවයක් ඇතිවුනා. මෙච්චර මේ කතා කරන්න දේවල් තියෙද්දිත් මේ හාමුදුරුවො කතා කරන ඒවායේ හැටි කියල එක්තරා උපහාස කතාවක් කිව්වා. ඒ කියන්නෙ මේ භික්ෂුන් වහන්සේ ළඟ තියෙන ගති ලක්ෂණය මෙහෙමයි කියල හුවා දක්වන්න ඕන කියන අදහසින් කියපු කතාවක්. ඒ නිසා ඒකට ඇනුම් පදයක් ගොතල කිව්වා.

එක මනුස්සයෙක් කිකිළි පැටියෙක් ගෙනත් හැදුවා. ඒ කිකිළි පැටිය ලොකු වුණාට පස්සෙ කපුටෙක් ඇවිත් සංවාසයේ යෙදිල ගියා. ඒකි බිත්තරයක් දාල රැකල ඒකෙන් කුකුල් පැටියෙක් උපන්නා. ඌ ටික ටික ලොකු වුණා. ඌ කුකුළෙක් ළඟට ගියාම කුක්කු කුක් කාක් කියනවලු. කපුටො දක්කම කාක් කුක්කු කුක් කියනවලු. ඔබ වහන්සේත් හරියට ඒ වගේ. අන්‍ය පරිබ්‍රාජකයො ඇසුරට ගියාම උන්ගෙ දහම ගැන ඉස්සෙල්ල කතා කරල, බුදු දහම ගැන අනික් සැරේ කතා කරනවා. මෙතනට ආවට පස්සෙත් ඔබ ☞

වහන්සේට එහෙම අදහසක් ඔලුවට එනවා. ඉස්සෙල්ලම සංසයා විදියට පෙනී ඉඳල, ඊළඟට අන්‍ය පරිබ්‍රාජකයන්ගෙ ආබාසයෙන් කතා කරනවා. ඔබ වහන්සෙත් හරියට අර කුකුළ වගේ කියල මෙහෙම ඇනුම් පදයක් ගොතල කිව්වා. එතකොට මේ හාමුදුරුවන්ට කේන්ති ගිහින්, මේ උපාසකයා මට මෙහෙම දෙයක් කිව්වා, නින්දා කළා, මට උඹේ දානෙත් ඕන නෑ කියල යන්න ගියා.

එතකොට මෙතනදි පෙන්වන්නෙ අනාගාමී වෙච්ච කෙනෙක්ගෙ ඒ වචන හුවමාරුවක හැටි. ඉතිං අර භික්ෂූන් වහන්සේ බුදුන් වහන්සේ ළඟට ගිහින්, චිත්ත ගහපති මට මෙහෙම කිව්ව කියල අර විස්තරය කිව්වා. හැබැයි බුදුන් වහන්සේ චිත්ත ගහපතිට දොස් කිව්වෙ නෑ. උඹ මහ වැරදි වැඩක් තමයි කළේ, මෙච්චර කතා කරන්න දේවල් තියෙද්දිත් උඹ මොනවද මේ කතා කළේ කියල, බුදුන් වහන්සේ ඒ භික්ෂූන් වහන්සේගෙ මානසිකත්වයට නිග්‍රහ කළා. චිත්ත ගහපති එහෙම කෙනෙක් නෙවෙයි කියල, ගිහින් කමා කරගන්න කියලත් කිව්වා.

ඒ වගේම අනාගාමී අයට තියෙන සදිස මානය ගත්තොත්, මම අහවල් කෙනා වගේ කියල රූපාවචර බ්‍රහ්ම ලෝකයේ තියෙන ගති ගුණවලට සමාන කරල කතා කරනවට සමහරු කැමතියි. මමත් චිත්ත ගහපති වගේ තමයි, අහවල් කෙනාට විතරක් නෙවෙයි මටත් දැහැන් තියෙනවා, මටත් චතුර්ථ ධ්‍යානයට සම වදින්න පුළුවන්... ආදී වශයෙන් රූපාවචර ලක්ෂණවලට සමාන කරල කතා කරන්න පුළුවන්. දෙවෙනි වෙන්න කැමති නෑ. එහෙම හැඟීමක් එන්න පුළුවන්. මොකද මාන, උද්ධච්ච, අවිද්‍යා තවමත් සම්පූර්ණයෙන් ප්‍රහීණ වෙලා නැති නිසා. නමුත් මේ කාරණා අනාගාමී වෙච්ච සියල්ලන්ටම එක වගේ නෑ.

හැබැයි මෙතනදි මේ මගඵල ලාභීන්, තමන් ළඟ තියෙන ගුණයක් මිසක් නැති ගුණයක් කවදාවත් ප්‍රකාශ කරන්නෙ නෑ. ඒ වගේ ගුණ ප්‍රකාශ කරපු අවස්ථා පෙරත් තිබිල තියෙනවා. චිත්ත ගහපති තමන්ගෙ හිතවත් නිගණ්ඨ පරිබ්‍රාජක-යෙකුට තමන් ළඟ තියෙන ගුණ කියල පසුව පැවිදි වෙන්නත් සම්බන්ධ කරල තියෙනවා. මම තිස් අවුරුද්දක් තිස්සෙ බුද්ධ සාසනයට ඇතුල් වෙලා කටයුතු කරල තියෙනවා, මට ඕන නම් චතුර්ථ ධ්‍යානයට යනකල්ම සම වදින්න පුළුවන් කියල තමන් ළඟ තිබ්බ්ච ගුණ ප්‍රකාශ කරල තියෙනවා. ඒ වගේම බක්කුල හාමුදුරුවො තමන් වහන්සේ මහණ වෙලා දින 7 න් අරිහත්වයට පත් වුන බව පරිබ්‍රාජකයෙකුට ප්‍රකාශ කරල තියෙනවා. ඒ වගේ තමන්ට තියෙන ගුණ සුදුසු තැනදි සුදුසු විදියට ප්‍රකාශ කරන්න පුළුවන්. ඒකෙ තහනමක් නෑ. හැබැයි පෘතජ්ජනයො වගේ ලාභ, කීර්ති, ප්‍රසංසා තකා තමන්ගෙ ගුණ ප්‍රකාශ කරන්නෙ නෑ. නමුත් මගඵල ලාභියෙක් යම් කිසි යහපත් බලාපොරොත්තුවක් මුල් කර ගෙන තමන්ට තියෙන ගුණයක් කියන්න පුළුවන්. සමහර විට අපේ ඉන්න මේ අහවල් හාමුදුරුවො මෙහෙම කෙනෙක් කියල යම් යහපත් බලාපොරොත්තුවක් මුල් කර ගෙන වෙනත් කෙනෙකුට තියෙන ගුණයක් ගැන කියන්න පුළුවන්. ඒ වගේම සමහර විට සෝවාන්, සකෘදගාමී කෙනෙක් තමන්ගෙ ගුණ කෙළින්ම හඟ වන්නෙ නැතිව, අපි ළඟ මෙහෙම ගුණ වඩපු අය ඉන්නව, ඉතින් ඔබලට හුඟක් පින් කරගන්න පුළුවන්... ආදී වශයෙන් යම් කෙනෙකුගේ යහපත පිණිස තවත් කෙනෙක් මුල් කරල කියන්න පුළුවන්.

එතකොට එහෙම තියෙන ගුණයක් ප්‍රකාශ කළේ කෙනෙක්ගෙ යහපතට නම් ඒක අභිමානයෙන් කිව්ව දෙයක් වෙනවා. ඒකට ඇවැත් නෑ. අභිමානය කියන්නෙ සාසන ගරුත්වය. මේ සාසනය මෙහෙම වටින දෙයක්, හිස් දෙයක් නෙවෙයි, මේ සාසනයේ හරය වඳ නෑ, සසර දුකින් මිදෙන්න ශක්තියක් තියෙන දෙයක්, ඇත්ත වශයෙන්ම ඵලයක් ලබන්න පුළුවන්, මම මෙහෙම ලබල තියෙනවා, මටත් අත්දැකීම් තියෙනවා.... ආදී වශයෙන් කිසිම ලාභ, කීර්ති, ප්‍රසංසාවක් බලාපොරොත්තු නොවී කියන්න පුළුවන්. නමුත් මේ කාරණය දන්නෙ නැතිව පෙළක් අය කියනවා, මගඵල තියෙන අය ඒවා ප්‍රකාශ කරන්නෙ නෑ කියල. නමුත් ඒ යථාර්ථය දන්නෙ නැතිව. ඇත්ත වශයෙන්ම මගඵල ප්‍රකාශ කරන්න පුළුවන් අවස්ථා වගේම බැරි අවස්ථාත් තියෙනවා. ඉතින් ඒ බැරි අවස්ථාව විතරක් අල්ල ගෙන සමහරු කෑ ගහනවා, මගඵල ප්‍රකාශ කළොත් පාරාජිකයි, කවදාවත් ගුණ තියෙන කෙනෙක් එහෙම කියන්නෙ නෑ කියල. මේ කනින් කොනින් අහගත්තු දෙයක් මිසක් ත්‍රිපිටකය බලලවත් නෙවෙයි මේ වගේ කතා කියන්නෙ. නමුත් මගඵල ඇතිව හෝ නැතිව ප්‍රකාශ කරන ආකාර 4 ක් තියෙනවා. පිස්සා පිස්සුවට කියනවා. මුලාවට පත් වෙච්ච පුද්ගලයා මුලාව නිසා කියනවා. කපටියා ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තුවෙන් කියනවා. සුදුස්සා සුදුසු නම් සුදුසු තැන, සුදුසු ආකාරයට ප්‍රකාශ කරනවා.

ඒ වගේම සෝවාන් සකෘදගාමී වෙලා ඉන්න ගිහි කෙනෙක් වුනත් පෘතජ්ජනයො වගේ ලාභ, කීර්ති, ප්‍රසංසා බලාපොරොත්තුවකින් ගුණ ප්‍රකාශ කරන්නෙ නෑ. එහෙම ප්‍රකාශ කළත් ඒකෙන් බලාපොරොත්තු වෙන්නෙ යම් කෙනෙකුට යහපතක්, චිත්ත ප්‍රසාදයක් ඇති කරන්න. කෙලෙස් සම්පූර්ණයෙන්ම ප්‍රහීණ කරල නැති නිසා, තමන්ට විශේෂ වචනයකින් අමතනවට ඒ අයත් කැමතියි. ''ඔහොම කියන්න එපා අපි වගේ අයට'' සමහරු මෙහෙම වක්‍රව හඟවන්න පුළුවන්. හැබැයි මගඵල ලබපු සියල්ලමත් නෙවෙයි, සමහර විට සසර පුරුදු අනුව සමහරෙක් එහෙම කියන්න පුළුවන්.

ඒ වගේම අනාගාමී කෙනෙකුට ඇතිවන හීන මානයේ ස්වභාවය ගත්තොත්, තමන්ට වඩා තවත් කෙනෙක් ලොකු කරල කතා කළොත්, තමන් හීනයි කියල හැඟෙව්වොත් එහෙම, හිතට වික්ෂිප්තභාවය ටිකක් හරි එන්න පුළුවන්. තමන්ට තැනක් දුන්නෙ නැතිව අනික් අයට තැනක් දීල කතා කළොත්, තමන්ට ඔහොම තත්ත්වයක් නෑ කියල කවුරුහරි කිව්වොත්, හිතට විසිරුණු බවක්, හිත ඇවිස්සෙන බවක් යම් පමණකට එන්න පුළුවන්. ඒක මුල් කරගෙන වික්ෂිප්ත-භාවයක් එන්න පුළුවන්. නමුත් ඒක වචනවලින් ප්‍රකාශ නොකර හිතේ හැඟීමෙන් විතරක් තියෙන්න පුළුවන්, ඒ වගේ අය ආශ්‍රය නොකර ඉන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ වික්ෂිප්තභාවය ව්‍යංගයෙන් අඟවන්න පුළුවන්. නමුත් ඇලෙන ගැටෙන මට්ටමට කොහොමත් යන්නෙ නෑ. එතකොට ඒ අවස්ථාව ඉක්මවන්න නම්, ආර්ය මාර්ගය තවදුරටත් වැඩෙන්න ඕන. ඒ වැඩෙන මට්ටමට තමයි ඒවා ඉවත් වෙලා යන්නෙ.

අනාගාමී වෙච්ච කෙනෙක්ගෙ ආර්ය මාර්ගය වැඩෙන කොට, ඒ කියන්නෙ රහත් මාර්ගයේ ගමන් කරනකොට මාන, උද්ධච්ච, අවිද්‍යා මාත්‍රයයි අවසානයට හිටින්නෙ. රූප රාග, අරූප රාග දෙකත් අන්තිමට නැතිවෙලා යනකොට, ඒ පුද්ගලය ඒ තත්ත්වයන් ගැන කතා කරන්න කැමතිත් නෑ. ඒ ගැන ප්‍රශ්නයකුත් නෑ. කාගෙන්වත් අහන්න යන්නෙත් නෑ. කවුරුහරි ඒ පුද්ගලයට දැහැන් තියෙනවයි කිව්වත් එකයි, නැතත් එකයි. එහෙම කතාවලට තියෙන කැමැත්ත ඉවත් වෙනවා. මග වැඩිල පූර්ණ වෙනකොට ක්‍රමයෙන් රහතන් වහන්සේගෙ ස්වභාවයට ආසන්න වෙනවා. කලින් වගේ හිතේ වික්ෂිප්තතාවයක් තියාගෙන ඉන්නෙ නෑ. හැබැයි තවමත් තමන්ට ජීවිත ආසාව තියෙන නිසා රහත් වෙලා නෑ කියල දන්නවා. ඉතිං මේ විදියට මේ මාන එකින් එකට අඩු වෙවී ගිහින් මාන අනුසයත් එක්ක බිඳෙන්නෙ අරිහත් ඵලයෙදි. එදාට සියළු මාන ඉවරයි. අර තිබ්බ්ච ඇලීම් ගැටීම් මුකුත් නෑ.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වෑහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ජාත සෝතාපන්න පුද්ගලයෙකුගේ ස්වභාවය

මාර්ග ඵල අතරින් පළවෙනි මාර්ග ඵලය වන සෝවාන් ඵලය පිළිබඳවත්, සෝවාන් වීමත් සමගම ඇති වන වෙනස්කම් පිළිබඳවත්, සෝවාන් වෙන්නෙ ධර්ම ශ්‍රවණයෙන්ද භාවනාවෙන්ද කියන කාරණා පිළිබඳවත් හෙළ බොදු පියුම 3, 5 සහ 7 කලාපවලින් විග්‍රහ කරල තිබුණා. කෙනෙක් පෙර අත්භවයක සෝවාන් පුද්ගලයෙක් (ජාත සෝතාපන්නයෙක් හෙවත් උපතින්ම සෝතාපන්න) වෙලා හිටියද කියන කාරණය දැන ගන්නෙ කොහොමද, පෙර අත්භවයක සෝවාන් වෙච්ච කෙනෙක් නැවත මිනිස් ලොවේ ඉපදුනාම, පෙර අත්භවයේ සෝවාන් කෙනෙක් බව දැන ගන්න ක්‍රමයක් තියෙනවද කියන කාරණා පිළිබඳව තමයි මේ ලිපියෙන් කරුණු ඉදිරිපත් කරන්නෙ.



කිසියම් කෙනෙක් සෝතාපන්න තත්වයට පත් වුනාම, සාමාන්‍ය පෘතජ්ජන පුද්ගලයෙකුට වඩා විශේෂ වෙනස් වීමක් සිද්ධ වෙනවා. අනුශය කියන්නා වූ කෙලෙස් කොටසක් සම්පූර්ණයෙන්ම බිඳිල යන්නෙ මාර්ග ඵල ලැබීමෙන්. අනුශය බිඳෙනවා කියන්නෙ, අරමුණක් ආවම නැවත වාරයක් කෙලෙස් මතු වෙන්න හේතු නැති තත්වයට පත්වීම. ඒ කියන්නෙ මනස සුද්ධ වෙනවා. සත්කාය දෘෂ්ටි, විචිකිච්චා, සීලබ්බත පරාමාස කියන සංයෝජන ධර්ම 3 අනුශයවත් නැතිව සෝවාන් පුද්ගලයා තුළින් සහමුලින්ම ඉවත් වෙලා යනවා. ඊට පස්සෙ කවදාවත් මිථ්‍යා  දෘෂ්ටියකට පත් වෙන්නෙ නෑ. මේ සංයෝජන ධර්ම තුන පහ වෙච්ච සෝවාන් පුද්ගලයට ලැබෙන නුවණට යථාර්ථය අවබෝධ වෙනවා. මිථ්‍යා දෘෂ්ටියක් ඇති වෙන්න හේතු තියෙන්නෙ ලෝක සත්වයා යථාර්ථය දකින කල් විතරයි. මිථ්‍යා දෘෂ්ටිය බිඳෙන කොට ඒක අනුශයත් එක්කම පහ වෙලා ගිහින් එවැනි මානසිකත්වයක් තුළ එතැන් පටන් අරිහත්වයට පත් වෙන කල්ම ඒ පහ වෙච්ච කොටස නැවත ඇති වෙන්නෙ නෑ. එහෙනම් සෝවාන් පුද්ගලයා තුළ මේ සංයෝජන ධර්ම තුන අනුශයත් එක්කම බිඳිල යනවා. අපායගාමී වෙන්න හේතු වෙන ලෝභය, ද්වේශය, මෝහය කියන තුනත් බිඳිල යනවා. හැබැයි මේ බිඳිල යන්නෙ සියළු ලෝභ, සියළු ද්වේශ, සියළු මෝහ නෙවෙයි, අපායගාමී වෙන්න හේතු වෙන කොටස විතරයි.

මේ විදියට මේ සංයෝජන ධර්ම තුන අනුශයත් එක්කම ප්‍රහීණ වෙලා තියෙත්දි යම් පුද්ගලයෙක් මියගිහින් නැවතත් මිනිස් ලොවේ උපන්නොත්, වචන වශයෙන් ඒ පුද්ගලය ''මම සෝවාන් කෙනෙක්" කියන කාරණය නොදන ඉන්න පුළුවන්. නමුත් අර සංයෝජන ධර්ම තුන පෙර අත්භවයේ අනුශයත් එක්කම පහ වුන නිසා ඇහැට රූප, කනට ශබ්ද, නහයට සුවඳ, දිවට රස, ශරීරයට ස්පර්ශ, මනසට ධර්ම ආදී වශයෙන් එනකොට ඒ පිළිබඳව අසාරත්වය මූලික වශයෙන් වැටහිලා තිබුණ නිසා, ඒ අසාරත්වය පෙර ආකාරයෙන්ම දනුත් වැටහෙනවා. පොඩි කාලෙ පටන්ම ඒ අසාරත්වය අවබෝධ වෙනවා. දකින යමක් වේ නම් ඒවා වටිනවද, වටිනාකමක් කියල ගන්න දෙයක් තියෙනවද කියල අවබෝධ වෙනවා. දේපළ, ඉඩ කඩම් එහෙම වටිනවද කියල හිතල බැලුවම, ජීවිතය පවත්වාගෙන යන්න නම් වටිනවා, ඒත් ඒවා අල්ල ගෙන මොනව කරන්නද, නිෂ්ඵලයිනෙ, වටිනව වුනාට තාවකාලික දේවල්නෙ, මොනවට වටිනවද... ආදී වශයෙන් අවබෝධ වෙනවා. පරිහරණය කළාට දැඩිව ගොඩ ගහ ගැනීම සඳහා අදහසක් තමන්ගෙ අභ්‍යන්තරයේ නැති නිසා, ලෝභකමින් ගොඩ ගහ ගන්න ඕනකමක් නැතුව යනවා. වස්තු සම්පත්වලට දැඩි බලවත් බැඳීමක් තිබුණ නම් ඒ බලවත් කොටස සහමුලින්ම ප්‍රහානය වෙලා සම්පූර්ණ අනුශයත් එක්ක බිඳිල ගිහින් තියෙන නිසා, දේපල ඉඩ කඩම්, යාන වාහන, වතු පිටි, අඹු දරු .... ආදී විවිධාකාර වස්තූන් (වස්තු කාම) කෙරෙහි දැඩිව බැඳිල රැඳිල අල්ල ගන්න යන්නෙ නෑ.

පෘතජ්ජනයින්ට නම්, මට මේ මේ වගේ දේවල් තියෙන්න ඕන, මේක මගේ වෙලා තියෙන්න ඕන කියන අදහසක් තියෙනවා. නමුත් ජාත සෝතාපන්න-යෙකුට කුඩා කාලයේ පටන්ම ඒ වගේ අදහසක් අරමුණු වෙන්නෙ නෑ. ජාත සෝතාපන්නයෙකුට, දෘෂ්ඨි වශයෙන් මේක මගෙ කර ගන්නෙ මොකටද කියන හැඟීම දැනිල ඒකෙන් ඉවත් වෙලා කටයුතු කරනවා. ඒ කියන්නෙ ඇලීම, ගැටීම, මුලාව කියන කාරණා පෘතජ්ජන පුද්ගලයට දැනෙන ස්වභාවයට වඩා වෙනස් ස්වභාවයක් ගන්නවා. පෘතජ්ජන පුද්ගලයා තරම් වස්තු සම්පත්වලට ඇලෙන්නෙ, ගැටෙන්නෙ, මුලා වෙන්නෙ නැතුව යනවා. ස්වභාවයෙන්ම අල්පේච්ඡ ගති ලක්ෂණ පහළ වෙනවා. එහෙම වෙන්න

හේතු වෙන්නෙ, ආත්ම දෘෂ්ටියෙන් ගත්ත අනුශයක්වත් නැතුව බිඳිල තියෙන නිසා. ජාත සෝතාපන්නයෙකුගෙ ආත්ම දෘෂ්ටිය බිඳිල තියෙන නිසා, ආත්ම වශයෙන් ගන්න හැඟීමක් එන්නෙ නෑ. හැබැයි එහෙම හැඟීමක් නැත්තෙ ඇයි කියල කෙනෙක් ඇහුවොත්, ඒකට හේතු කියන්න ඒ පුද්ගලයා දන්නෙ නැති වෙන්න පුළුවන්. මොකද, තමන් පෙර අත්භවයක සෝවාන් කියල දන්නෙ නැති නිසා, ප්‍රත්‍යවේක්ෂා ඥානය නැති නිසා. නමුත් මේ වගේ බලාපොරොත්තුවක්, මේ වගේ ආශ්‍රය කරන්න තරම් වටින දෙයක් තමන්ට දැනෙන්නෙ නෑ කියන කාරණය ඒ පුද්ගලය දකිනවා.

උදාහරණයක් විදියට, ජාත සෝතාපන්නයෙක් ගෙදරක ඉන්න කොට අම්ම තාත්ත මෙහෙම කියන්න පුළුවන්. ''පුතේ මේ අල්මාරිය, මේ පුටු සෙටිය ඔයාගෙ, මේක ඔයාට තමයි අයිති". එතකොට ඒ පුද්ගලය මෙහෙම කල්පනා කරනවා ''මේක මොකටද මට? මේකෙ අයිතිකාරය වෙලා මම මොනව කරන්නද? මේකෙ බඩුවක් මුට්ටුවක් තියා ගන්න පුළුවන්, ඒත් මොකටද මේක මටම කියල තියෙන්නෙ?'' මේ වගේ අදහස් ඇවිත් ඒවා කෙරෙහි දැඩි ඇලීමක්, දැඩි බැඳීමක් ඇති වෙන්නෙ නැතුව යනවා. අම්ම තාත්ත නැවතත් කියනවා, මේ ගෙදර පුතාගෙ නමට ලියල දෙනවා, අහවල් ඉඩම අයියගෙ නමට ලියල දෙනවා කියල. ඒත් ඒ ජාත සෝතාපන්න පුතාට ඒ කෙරෙහි දැඩි ඇලීමක් ඇති වෙන්නෙ නෑ. අනේ මට මෙච්චර ලොකු ගෙයක් ලැබෙනවනෙ කියල, විශේෂ සතුටක් ඔහුගෙ හිතේ නූපදින්න පුළුවන්. කොහේ හරි ඉන්නනෙ ඕන, මොකටද ලිය ලියා දෙන්නෙ කියල ඒ වගේ අදහස් තමයි ඔහුට නැගෙන්නෙ. මොකද ඡන්ද රාගයෙන් මත් වෙලා වෙන් කරගන්න, බදා ගන්න, ගොඩ ගහ ගන්න කිසිම කැමැත්තක් ඔහුට නෑ. ඒවායේ තියෙන අසාරත්වය ඔහුට වැටහිලා තියෙන්නෙ. හැබැයි එහෙම අදහස් පහළ වුනාට, ඒ තත්ත්වය සෝවාන්ද කියන්න ඔහු දන්නෙ නැති වෙන්න පුළුවන්. නමුත් දහම පිළිබඳව ප්‍රත්‍යවේක්ෂා කරන චේතෝපරිය ඥානයක් හෝ ඉන් එහාට දිවෙන ඥානයක් තියෙන එබඳු කෙනෙක් හෝ රහතන් වහන්සේ නමක් ඒ පුද්ගලයාව දැක්කොත්, ඒ මානසිකත්වය දැකල චුතූපපාත ඥානයෙන් ඒ පුද්ගලයගෙ පෙර අත්භවයන් බලල, ඔහු සෝවාන් ඵලයට පත් වුනේ මෙන්න මේ විදියට බණක් අහල කියල දැන ගන්න ඉඩ ප්‍රස්ථාව තියෙනවා. එතකොට තමයි ඒ පුද්ගලයා මගඵල ලාභී කෙනෙක්, ජාත සෝතාපන්න කෙනෙක් කියල දැන ගන්න පුළුවන් වෙන්නෙ. එහෙම නැතුව වෙන කෙනෙකුට ඒ පුද්ගලය සෝතාපන්න කෙනෙක්ද කියල තේරුම් ගන්න හැකියාවක් නෑ.

සමහරු අහනවා, සෝවාන් කියල දැන ගත්තට පස්සෙ පවු කෙරෙන්නෙ නැත්ද කියල. සෝවාන් කෙනෙක් සියලු පවු බැහැර කරල නෑ. ආ. .මම දැන් සෝවාන්නෙ.. මම දැන් පවු කරන්නෙ නෑ කියල වචන පස්සෙ ගිහින් පවු නොකර ඉන්නව නෙවෙයි. ඒක සම්පූර්ණයෙන්ම වැරදි මතයක්. මොකද සියලු පවු බැහැර වෙන්නෙ රහතන් වහන්සේගෙන් විතරයි. කෙනෙක්ගෙ අභ්‍යන්තරය තුළ සෝවාන් ඵලයට අවශ්‍ය කෙරෙන මානසිකත්වයක් ගොඩ නැගුණ නම්, නැවත ඊළග අත්බවයත් ඒ මට්ටමේ මානසිකත්වයකින් ගොඩ නැගෙනව මිසක්, අනුශයත් බිඳුණු තත්ත්වයකින් නැවත අනුශය සහිත දෙයක් ගොඩ නැගෙන්න හේතුවක් නෑ. යම් අනුශයක් සහමුලින්ම සමුච්ඡේද ප්‍රහාණය වෙලා ගියා නම්, නැවත වාරයක් ඒ කොටස ගොඩ නැගෙන්න හේතු නැත්නම්, නැවතත් පෘතජ්ජන උප්පත්තියක් ඇති වෙන්න හේතු හට ගන්නෙ නෑ. ඒ නිසා ආත්ම දෘෂ්ටි සහගත උප්පත්තියක් ජාත සෝතාපන්නයෙකුට ලැබෙන්නෙ නෑ. හැබැයි එහෙම කෙනෙක් සාමාන්‍ය කෙනෙකුට වෙන් කරල හොයා ගන්න පුළුවන්කමක් නෑ.

ඒ වගේම, මේ ලෝකෙ මේව අල්ල ගෙන මොනව කරන්නද? අල්ල ගත්ත කියල මොනවද ලැබෙන හරය? ''මම'' කියල කිව්වට ඇත්තටම ''මම'' කියල අල්ල ගන්න දෙයක් තියෙනවද? හිස් දෙයක් නේද?.... මේ ආදී වශයෙන් ඒ වගේ පුද්ගලයෙකුට නිතරම සිහියට එනවා. අහස දිහා බලන කොටම ඉර හඳ පේනව වගේ, ධර්මයන් වෙත හිත යොමු කරන කොටම යථාර්ථවත් වූ ධර්මයන්ම ජාත සෝතාපන්නයාට පේන්න ගන්නවා. හරවත් දෙයක් කියල ලෝකෙ අල්ල ගන්න කිසිම දෙයක් නෑ කියල වැටහෙනවා. හැබැයි සෝවාන් වෙච්ච පුද්ගලයෙකුට මාර්ගය පූර්ණ කර ගන්න තවත් කළ යුතු දේවල් ඉතුරු වෙලා තියෙනවා.

දැන් එතකොට ගිහි වතක ඉන්න සෝවාන් පුද්ගලයෙක් ගෙවල් දොරවල් හදල, යාන වාහන එහෙම පාවිච්චි කරනවද කියල කෙනෙකුට ප්‍රශ්නයක් එන්න පුළුවන්. සෝවාන් වෙච්ච පුද්ගලයෙකුට ගෙයක් දොරක් හදා ගන්න ඕනකමක් තියෙනවා. මොකද මනුස්සයො වෙලා ඉපදුනාම ඕනෑම කෙනෙකුට කරදරයක් නැතුව ජීවත් වෙලා ඉන්න තැනක් තියෙන්න ඕන. නමුත් සෝවාන් පුද්ගලයට එහෙම ඕනෑකමක් තිබුණට, ඒකට දැඩිව ඇලිල ගැලිල තමන්ගෙම කර ගන්න ඕනකමක් නෑ. මොකද මේ සියල්ල කැඩිල බිඳිල වැනසිලා යන දේවල්, අල්ල ගන්න තරම් හරයක් තියෙන දේවල් නෙවෙයි කියල අවබෝධයෙන් දන්න නිසා. ඒ ආකාරයට ඒ අදහසම නිතර වැඩෙනවා. සෝවාන් පුද්ගලයට මාර්ගය වඩා ගන්න අනුන්ගෙ ආධාරයක් අවශ්‍ය වෙන්නෙ නැති නිසා (පර ප්‍රත්‍ය රහිත නිසා) පෘතජ්ජනයා වටිනවා කියල ගන්න දේවල්වල හරයක් නෑ, කැමති සේ පවතින දේවල් නෙවෙයි කියල ඒ මොහොතෙදිම නැවත නැවතත් අත්දකිනවා. එහෙම අත්දකින හැම මොහොතකම මෙහෙම හිතෙනවා. ''අනේ, මේ මොකටද රැස් කරගෙන බදා ගෙන ඉන්නෙ? මේක මහ වදයක්නෙ! මහා කරදරයක්නෙ! මෙහෙම රැස් කරන්නෙ නැතුව මේකෙන් නිදහස් වෙලා ඉන්න තියෙනව නම් කොච්චර හොඳද?'' මේ සිතිවිල්ල බුර බුරා නැගෙනවා.

එහෙම නිදහසේ ඉන්න ලැබීම කොච්චර නම් සුවයක්ද කියල නැගිල එනව නම්, ඒ සිතිවිල්ල එන්නෙ නිවන් සුවය දෙසට. එතැන් පටන් ඒ පුද්ගලය බලාපොරොත්තු වෙන්නෙ, පුළුවන් තරම් වෙන් වෙලා නිදහස් වෙලා හුදෙකලා වෙලා ඉන්න. එහෙම ඉන්න තියෙනව නම් කොච්චර ශාන්තද ප්‍රණීතද කියල ඒ නිදහසේ ශාන්තිය අවස්ථානුකූලව දකිනවා. එතැන් පටන් ලෝක සත්වයා ඇලෙන හැටි, ගැටෙන හැටි, කම්පා වෙන හැටි, වෛර කරන හැටි, ක්‍රෝධ කරන හැටි, එක එක්කෙනාට ඇනුම් පද කියා ගන්න හැටි, දුෂ්ට බවට පත් වෙන හැටි, ඊර්ෂ්‍යා කරන හැටි... යනාදී දේවල් දකින්න පටන් ගන්නවා. කෙනෙක්ගෙ හිතක් රිදවනව තියා කෙනෙක් හිත පාරවගෙන ඉන්නව දකින්නත් අකමැති වෙනවා. කෙනෙක් නොසතුටෙන් ඉන්නව දකින්නත් අකමැති වෙනවා. මෙහෙම අකමැති වෙන්නෙ, අන්‍යයන්ගෙ දුක පිළිබඳව දයානුකම්පාවක් ඇති වෙන නිසා. අන් අය දුක් වෙන කොට තමන්ටත් කම්පාවක් දැනෙන නිසා, දුක් වෙන අන් අයගෙ ආශ්‍රයෙන් ඉවත් වෙලා ඉන්න තියෙනව නම්, ඒ මොහොතක හරි සැනසීමක් තියෙනව කියල දැනෙන්න පටන් ගන්නවා.

මේ ආකාරයට ඇලීම, ගැටීම මගින් ක්‍රමයෙන් ඉවත් වෙන හැටි දකින්න ගන්නවා. මෙහෙම ක්‍රමයෙන් දැනිල යම් දවසක ස්ථිරවම අවබෝධ වුනොත්, මේක

මහා දුක් ගොඩක්, ඇලෙන දේත් ගැටෙන දේත් මහා දුකක්, ඇලෙන ගැටෙන පිරිස එක්ක ඉන්න ලැබීමත් දුක් ගොඩක් කියල, ඊට පස්සෙ වෙන් වෙලාම ඉන්න කැමති තත්වයට ක්‍රමයෙන් පත් වෙනවා. එහෙම වෙන් වෙලා ඉන්න කැමති හිත ක්‍රමයෙන් වැඩිල සමාධිය මුල් කරගෙන අනාගාමී තත්ත්වයට පත් වුනාට පස්සෙ, නිතරම ධර්මානුකූලව කටයුතු කරන තත්ත්වයට පත් වෙලා දහම් මග යන උදවිය ඇසුරු කරන්න, ඒ මාර්ගය පූර්ණ කර ගන්න කටයුතු කරනවා.

ඊට පස්සෙ පිරිසක් එක්ක සම්බන්ධ වෙලා ඇලෙන ගැටෙන කතා කියන්න කැමැත්තක් නැති තත්ත්වයට පත් වෙනවා. ඒ වගේ දේවල්වලින් නිදහස් වෙලා ඉන්න එක කොච්චර ශාන්තද, ප්‍රණීතද කියල දකිනවා. ඒ තමයි අනාගාමී ඵල හිතේ ස්වභාවය. කාමය යම් තැනක බැඳෙනවද රැඳෙනවද, ඇලීමයි ගැටීමයි සම්බන්ධ තැනක තමයි රැඳෙන්නෙ බැඳෙන්නෙ කියල දකිනවා. එතකොට කාමය කෙරෙහි කල කිරෙන්න පටන් ගන්නවා. කාමයන් මහා දුක් ගිනිවලට මුල් වෙනව කියල දකිනවා. මෙහෙම දකින්න පටන් ගන්න කොට, කාමයන් හෝ කාමයන් ඇසුරු කරන පුද්ගලයින්ගෙන් ඈත් වෙන්න හිතෙනවා. ඒ නිසාම ගැටෙන පුද්ගලයන්ගෙන් ඈත් වෙන්න හිතෙනවා. දුරස් වෙලා ඉන්න තරමටම ශාන්තයි ප්‍රණීතයි කියල දකිනවා. කාගෙවත් හිත රිදවන්නෙ නැතුව, දැහැමින් සාමයෙන්ම ඉන්න ක්‍රමයක් හොයනවා. හුදෙකලාව, විවේකීව මොහොතක් හරි ගත කරන්න උත්සාහ කරනවා. ඊළඟට ලෝක ධර්මතාවය ක්‍රියාත්මක වෙලා ඊට සුදුසු අවස්ථාවක් ඒ පුද්ගලයට ලබා දෙනවා. ඒ ආකාරයට විවේකී සුවයේ ඉඳන් සමාධි සුවයට පත් වෙනවා. එතැන් පටන් මෙහෙම හිතනවා. ''මේ ජීවත් වෙලා මොකටද? මේකෙ බැඳිල රැඳිල කරන කටයුතුත් මහා වදයක්නෙ! වටින දෙයක් කියල හිතාගෙන ලෝක සත්වයා ඒකට මග හොයනවා. ඒත් මේක ඉවර වුනා නම් නේද ශාන්ත වෙන්නෙ'' මේ විදියට දැක්ක දවසට අරිහත්වයට මග පෑදෙනවා. අරිහත්වයට පත් වෙන කොට ජීවිත ආසාවත් නැති වෙනවා.

දැන් නැවතත් ජාත සෝතාපන්න පුද්ගලයෙක්ගෙ ස්වභාවය ගැන කතා කළොත්, ගිහි වතේ ඉන්න පෘතජ්ජන අය හැම කටයුත්තක්ම කරන්නෙ ලෝකෙ වටිනවයි කියන අදහසින් ජීවත් වෙලා ඉන්න ඕන නිසා. මේ වගේ සෝවාන් පුද්ගලයින්ට පෘතජ්ජන ජීවිතය අසහනයක් වෙනවා. පෘතජ්ජන අයට ප්‍රශ්න නැගෙන්නෙ, ප්‍රශ්නවලට පිළිතුරු හොයන්නෙ, ලෝකෙට ඇලිල බැඳිල ජීවත් වෙන්න. නමුත් ජීවත් වෙනව කියන එක අසහනයක්, ඒකෙන් මිදීම සහනය කියල දැක්ක කෙනාට, මේ පෘතජ්ජන ජීවිතය මහා වදයක් වෙනවා. ජීවත් වීමේ ආසාව පළවෙනි කර ගත් ලෝක සත්වයාට, ජීවත් වෙන්න රුකුල් දෙන ප්‍රශ්නයක්මයි නැගෙන්නෙ. නිතරම උත්තර හොයන්නෙත් ජීවත් වෙන්න රුකුල් දෙන ප්‍රශ්නයක් සඳහාමයි. ඒ වුනාට ජීවත් වෙනව කියන්නෙ මහ අසහනයක්, අමතරව නැගෙන මහා දුක් ගොඩක්, ඒ නිසා අසාරයි කියල දැක්ක කෙනා, පෘතජ්ජන පුද්ගලයගෙ ස්වභාවයෙන් සම්පූර්ණයෙන්ම ඉවත් වෙච්ච කෙනෙක්. ඒත් තවම ජීවත් වීමේ ආසාව තියෙනවා. සෝවාන්, සකෘදාගාමී, අනාගාමී පුද්ගලයන් තව දුරටත් ජීවත් වෙන්න ආසයි. නමුත් අරිහතුන් වහන්සේ නමක් කොහොමටවත් කිසිවෙකුටත් සම කරන්න බැරි වෙන්නෙ උන් වහන්සේ තුළ ජීවත් වීමේ ආසාව නැති නිසා. ඒ නිසා අරිහතුන් වහන්සේ ලොවුතුරා බුදුවරුන්, පසේ බුදුවරුන් හැරුණු කොට ලොව කිසිම කෙනෙකුට සම කරන්න බෑ. හැබැයි අරිහතුන් වහන්සේ අරිහත් ඵල සිතෙන් බුදුන් වහන්සේට හා පසේ බුදුවරුන්ට සමානයි.

යමෙකුට ජීවත් වීමේ බලාපොරොත්තුව තියේනම්, කොච්චර නම් දුක් කරදර ගොඩ නැගෙනවද? ඒ ප්‍රමාණය මෙච්චරයි කියල කියන්න පුළුවන්ද? ජීවත් වෙලා ඉන්න කල්ම දුක් කරදරවලට මුහුණ දෙන්න වෙනවා. ඇත්තටම ජීවත් වෙනව කියන්නෙ මොකක්ද කියල බැලුවොත්, ඇහෙන් රූප බලන්න, කනෙන් ශබ්ද අහන්න, නාසයෙන් ගඳ සුවඳ ආග්‍රහණය කරන්න, දිවෙන් රස ගන්න, කයෙන් පහස ගන්න, හිතෙන් කැමති දේවල් හිතන්න තියෙන ආසාව නිසා තමයි ලෝක සත්වයා ජීවත් වෙන්න කැමති. ඒත් මේ ටික විඳින්න, හරයක් නැති ''මම, මගේ'' කියල දේවල් ගොඩ ගහ ගන්න ලෝක සත්වයා කොච්චර නම් මහන්සි වෙනවද? පෘතජ්ජන පුද්ගලය අහන්න කන තිබුණු පලියටම, අහන්න අවශ්‍ය කරන දේවල් බාහිර ලෝකෙන් අල්ල ගෙන තමන්ගෙ කරගෙන මහා දුක් ගොඩක් ළං කර ගන්න හැටි සෝතාපන්න පුද්ගලයා දකිනවා.

ඒ වගේම හරයක් නැති ගන්ධය ආග්‍රහණය කරන බලාපොරොත්තුව නිසා කුණු කඳකින් නාසයක් හැදුණ හැටි, ඒකට හරියන විදියට බාහිර ලෝකයෙන් ඇලෙන ගැටෙන ලෝකයක් එක්ක ඇසුරට බැඳුණ හැටි, රස බලන බලාපොරොත්තුවට බැඳිල ඉන්න සත්වයා ඒ හේතුවෙන් දිව කියන කුණු ගොඩක් ගොඩ ගහ ගන්න හැටි, ඒකෙන් රස බලන්න හිත හිතා බාහිර ලෝකයෙන් ඊට අවශ්‍ය කරන තරඟකාරී බඩු භාණ්ඩ ගොඩ ගහගෙන තමන්ගෙ කර ගන්න හැටි ජාත සෝතාපන්න පුද්ගලය දකිනවා. එහෙම අල්ල ගෙන හැපෙන හැටි, දඟලන හැටි, දුක් වෙන හැටි දකිනවා. හරයක් නැති ආස්වාදයක් පස්සෙ ගිහින්, කුණු ගොඩක් බදා ගෙන ඒක රැක ගන්න අපමණ දුකක් විඳින හැටි දකිනවා. මේ ආකාරයට ජාත සෝතාපන්න පුද්ගලයා දුක් විඳින අන්‍යයන්ව දකිනවා. ඒ වගේම හරයක් නැති පහසක් හොයන්න ඒකට බැඳිල, පහස විඳින්න කයක් හදාගෙන ඒකට අවශ්‍ය කරන දේවල් බාහිරින් හොයා ගෙන පොර කකා තරඟ කර කර, මේ කයට දුක් කම් කටොලු එන කොට විවිධාකාර ප්‍රතිකාර කරමින් වෙහෙස වෙවී තවත් හොය හොයා යන හැටි දකිනවා. මේවා සිහියට නැගෙන කොට, මොකක්ද මේකෙ තේරුම කියල අවබෝධ වෙනවා.

මේ ආකාරයට ජාත සෝතාප-න්නයෙක් ලබපු අවබෝධය අඩු නොවී අත්භවෙන් අත්භවයට වර්ධනය වෙමින් පවත්වා ගෙන ගිහින්, අවසානයේදී සසර කෙළවර අරිහත් ඵලයෙන් පූර්ණ කර ගන්නවා. එහෙම අරිහත් ඵලයට පත් වුනාට පස්සෙ සෝවාන්, සකෘදාගාමී, අනාගාමී මාර්ග ඵල ලාභීන්ට නැති ගති ලක්ෂණයක් අරිහතුන් වහන්සේට පහළ වෙනවා. ඒ තමයි ජීවත් වෙන්න ආසාවක් නැතිකම. මේ ආකාරයට ජීවිත අවබෝධයක් තමන්ට දැනෙනව නම්, තමන්ටත් ඒ වගේ ගති ලක්ෂණ තියෙනව නම්, තමන් පෙර අත්භවයක ජාත සෝතාපන්නයෙක් බව අවබෝධ කර ගන්න හැකියාව ලැබෙනවා. මේ විදියට යථාර්ථවත්ව ජීවිතය අවබෝධ කරගෙන, ලෝකයේ තියෙන අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවය අවබෝධ කරගෙන, අත් හැරී නොඇලී මිදී නිවන වෙතම හිත පිහිටුවා ගෙන කටයුතු කරල සම්පූර්ණ දුකින් නිදහස් වෙන්න අවසානෙදී හැකියාව ලැබෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ප්‍රසාද් ද සිල්වා**

**පරිපාලන නිලධාරී**

**ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය**

# මතකය සහ අමතක වීම සිදුවන හැටි...

සාමාන්‍ය ව්‍යවහාර භාෂාවේ මතකය කියන වචනය නිතරම වගේ අහන්න ලැබෙනවා. හැබැයි මේ මතකය කියන්නෙ සිහිය (සතිය) නෙවෙයි. සිහිය කියන්නෙ කුසල චෛතසිකයක්. අතීතය සිහි කරනවයි කියන්නෙ එකක්. අතීතය මතක් කරනවයි කියන්නෙ තව එකක්. චතුරාර්ය සත්‍යය දකින්න නම් අතීතය සිහි කරන්න ඕන. **දිවැසක් තියෙන කෙනෙකුට ඕන නම්, ඒ දිවැසින් අතීතය මතක් කරන්න පුළුවන්. ඕන නම් දිවැසින් මතක් කරගත්තු අතීතය ධර්මානුකූලව සිහි කරන්නත් පුළුවන්. අතීතයේදි මම මෙබඳු ආසාවකින් මෙබඳු දෙයක් බදා ගත්තා, ඒ බදා ගත්තු නිසා තමයි අද මට මෙබඳු සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන්වලට ගොදුරු වෙන්න සිද්ධ වෙලා තියෙන්නෙ කියල, මතකයෙන් දැකපු දේ ඒ විදිහට සිහි කරන්න පුළුවන්.** එතකොට ඒක ධර්මානුකූලව සිහි කළොත් සම්මා සතියක් වෙනවා. ඒක බුද්ධ සාසනයෙන් පිට නෑ. ඒකෙන් දුකට හේතුව ආස්වාදය කියල සිහි නුවණින් දකිනවා. මේ සිහිය ආකාර දෙකයි. එකක් ලෞකිකයි, කෙලෙස් සහිතයි, සසර ගමනට හේත වෙනවා. අනෙක ලෝකෝත්තරයි, නිවනට හේතු වෙනවා. ඒ තමයි ආර්ය විනයේ එන සම්මා සතිය. මම පෙර මෙහෙම අත් බැවක් ලබල හිටියා, මෙහෙම නමකින් පෙනී හිටියා, මෙහෙම තානාන්තරයක් දැරුවා... ආදී වශයෙන් මතකයෙන් දකිනවා.

දැන් මේ මතකය කොහෙද තියෙන්නෙ කියල ඇහුවම විවිධාකාර දේවල් කියනවා. නවීන විද්‍යාවට අනුව පරීක්ෂණ කරන උදවිය කියන්නෙ, මතකය තියෙන්නෙ මොළයෙ කියල. නමුත් ධර්මානුකූලව විග්‍රහ කරන කොට පෙන්වන්නෙ, අපි කරන කියන හිතන සියලු කටයුතුවල යම් කිසි සටහනක් පිහිටන තැනක් තියෙනව කියල. ඒකට කියනව කර්ම භවය කියල.

''අත්ථි කම්ම භවෝ අත්ථි උප්පත්ති භවෝ'' - කර්ම භවයක් තියෙනවා, උප්පත්ති භවයක් තියෙනවා. **අපි යමක් කෙරුව නම්, කිව්ව නම්, හිතුව නම් ඒවායේ සටහනක් යම් කිසි තැනක පිහිටනවා.** ඒකට ''භ'' වෙනව කියලත් කියනවා. ඒ කියන්නෙ යම් කිසි තැනක බිහි වුණා කියන එක. බිහි වෙලා පිහිටනවට කියනව ''භව'' කියල. ඉතින් කර්මයක් කළාම ඒ කර්මය පිහිටල තියෙන තැනක් තියෙනවා. ඒක තමයි කර්ම භවය කියන්නෙ. කරපු කර්ම ගෙවුනම ඒවායේ ශක්තිය ගෙවිල මතකය පමණක් ඉතිරි වෙනවා. .

යම් කිසි මොහොතක සත්වයෙක් තුළ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ මාත්‍රයක් විද්‍යමාන වෙනවා. ඒ මාත්‍රය ඉක්ම ගියාම ඒක මතක සටහන් බවට පත් වෙනවා, ඒ අවස්ථාව බිඳිල අවස්ථා මරණයක් සිද්ධ වෙනවා. අන්න ඒ අවස්ථාවන්ගෙන් සිද්ධ වුනා වූ මතකය විතරක් ඉතිරි වෙද්දි, ඒ ඒ අවස්ථා බිඳිල වැනසිලා යනවා. ක්ෂණයකින් අතීතය කරා ගිය විඤ්ඤාණ මාත්‍ර ඉක්ම ගිහින් අතීත විඤ්ඤාණ ස්කන්ධ බවට පත් වෙනවා. ඒව තමයි මතකය විදියට කර්ම භවයේ පිහිටන්නෙ. මේ කර්ම භවයේ පිහිටන හැම නාම ධර්ම සටහනකටම නාම ගෝත්‍ර කියල කියනවා. ඒ නාම ගෝත්‍ර පිහිටන්නෙ මේ කිව්ව කර්ම භවයෙ. ඒ නාම ගෝත්‍ර දිරන්නෙ නෑ. නාම ගොත්තං නජීරතී කිව්වෙ ඒකයි.

මෙතනදි නාම ගෝත්‍ර දිරන්නෙ නෑ කිව්වම, ලෝක සම්මතයේ තියෙන පිළිගැනීම තමයි, හට ගත්ත සියල්ලම සංඛතයි නම් උපතක්, සිටියවුන්ගේ විපරිනාමයක්, වැනසීමක් ඒකාන්තයෙන්ම තිබිය යුතුයි කියල. නමුත් මේ නාම ගෝත්‍ර දිරන්නෙ නෑ කියල බුදුන් වහන්සේ පෙන්නුවෙ සාමාන්‍ය ලෝකයාට වැටහෙන ආකාරයට. ඉතින් යථාර්ථය දකින්න, නිවන් දකින්න අත්‍යවශ්‍ය නොවන, ඒ වගේම බුදුන් වහන්සේ දැනගෙන හිටපු සහ දේශනා නොකරපු කරුණු මහ ඇට්ටේරිය වනයක තියෙන කොළ වගෙයි කියල පෙන්නුව නම්, නාම ගෝත්‍රයන්ගේ අවසානය බුදුන් වහන්සේ දන්නෙ නැතිව දේශනා නොකළා නෙවෙයි. ඒකෙ අවසානයක් යම් තැනක තියෙනව නම්, ඒ අවසානය උන් වහන්සේ අනිවාර්යෙන්ම දකිනවා. මොකද අනාවරණ ඥානයට ඒ සියල්ලම අහු වෙනවා. නමුත් ඒකෙ අවසානය කවද කොහොම වෙයිද කියල උන් වහන්සේට හැර අනික් අයට ගෝචර වෙන්නෙ නෑ. එතකොට අනික් අයට ගෝචර නොවන දෙයක් දේශනා කරල වැඩක් නැති නිසා, ඒ ගැන බුදුන් වහන්සේ දේශනා නොකළා කියන එක තමයි මෙතනදි හිතා ගන්න තියෙන්නෙ.

එතකොට යමක් පසුව ආවර්ජනය කරන කොට ඒ කර්ම භවය අරමුණු කරන්න මනසට හැකියාවක් තියෙනවා. එහෙම අරමුණු කරන කොට, ඒ අරමුණු කරපු පැත්ත මනසට ඇදිල එනවා. මනසට ඇදිල එන අරමුණු මනේන්ද්‍රිය කියන කොටසට ඇදිල එන ක්‍රමයකුත් තියෙනවා. මේ ශරීරය හැදිල තියෙන්නෙ ඒ වගේ ක්‍රම වේදයකට අනුව. ඒක ඉතා සියුම් ස්වභාවයක්. අන්න ඒ ස්වභාවයෙන් ඒ ඒ කොටස්වලට අවශ්‍ය විදියට අපි ගන්න සටහන් තැන්පත් වෙනවා. එහෙම තැන්පත් වෙලා තිබිල, අපි යමක් හිතන කොටම මනස ඒ අරමුණට එල්ල වෙනවා. අරමුණු කරපු තැන අනුව, එතැන තැන්පත් වෙලා තියෙන සටහන ඒ අනුව ඇදිල එනවා. මෙතනදි මනසෙ යම් කිරණ ශක්තියක් ඒ අරමුණේ වැදිල නැවත පරාවර්තනයක් වෙනවා. එතකොට තමයි ඒ සටහන ඇදිල එන්නෙ. හැබැයි අර තැන්පත් වුන මුල් අරමුණ කවදාවත් ඇදිල එන්නෙ නෑ. ඒක ආවොත් එහෙම එතැන ලොකු ප්‍රශ්නයක් ඇති වෙනවා. එතකොට ඒ අරමුණ දෙපාරක් හෝ වැඩි ගණනක් ගන්න බැරිව යනවා. ඒ නිසා ඒ මතක සටහන කියන නාම ගෝත්‍රයේ ඒ අරමුණු තැන්පත් වුනාට පස්සෙ ඒක නැවත ඇදෙන්නෙ නෑ. මනසේ අරමුණු විහිදුවල යන ශක්තියකින් චිත්ත කිරණයක් විදියට ඇදිල ඇවිත්, චිත්ත කිරණයක් විදියටම පරාවර්තනයක් වෙනවා. ඒත් ඒ අරමුණේ පිටපතක් මිසක් පළමු අරමුණම නෙවෙයි. පළමු අරමුණ ඒ ආකාරයෙන්ම කර්ම භවයේ පිහිටල තියෙනවා. ඒක තමයි අපි මතක සටහන කියල ගන්නෙ.

මේ කියන්නා වූ මතකයට යම් බාධාවක් ආවොත් එහෙම, අර කිරණ ශක්තිය යවල නැවතත් අරමුණේ පිටපතක් අරගෙන එන්න බැරි වෙනවා. බැරි වෙලාවත් අපේ මොළයට යම් ආබාධයක් ආවොත්, ඒ කිරණ යවන්න හැදුවට ඒකට බාධා පැමිණෙනවා. ඒ අරමුණු නැවත සිහි කරන්න අපහසු වෙනවා, මතකයට නගන්න බැරිව යනවා. මේ විදියට **මතකයට බාධා පැමිණෙන තවත් කාරණා 5 ක් ධර්මයේ සඳහන් වෙනවා. මනසේම නිපදවෙන ආවරණ 5 කින් අර කිරණ ශක්තිය ගිහින් මනසේ මතකය තියෙන තැන්වල වද්දල, ආපසු එන්න බැරි විදියට මනස වහනවා. ඒවාට පංච නීවරණ කියල කියනවා.** එහෙම නැත්නම් පංච ආවරණ කියලත් කියනවා. මේ කියන්නා වූ ආවරණ පහෙන් වැහුනොත් මතකය නගන්න බැරිව යනවා.

මේ ආවරණ පහෙන් එකක් තමයි කාමච්ඡන්දය කියන්නෙ. කාම වස්තුවලට දැඩිව ඇලීම, බැඳීම නිසා එතනින් එහාට හිතා ගන්න බැරි ගතියක් ඇති වෙනවා. වෙන දෙයක් අරමුණු කරන්න හිතෙන්නෙ නැතිව යනවා. මොනව හරි වැදගත් දෙයක් හිතා ගන්න ඉන්න කොට, අර කාම අරමුණ ඇදිල එනවා, කාම අරමුණේම හිත පිහිටනවා. අනික තමයි ව්‍යාපාදය. මේ ව්‍යාපාදය නිසා ඇති වන දූෂ්‍ය තත්ත්වය තමයි වෛර ගතිය. ඒ වගේම දැවෙනවා, තැවෙනවා. අනික් අයට සාප කරනවා. මේ වගේ දේවල් නිසා ☞

මනස වැදගත් දේකට මෙහෙයවන්න බැරි වෙනවා. මේ කාමච්ඡන්දයත්, ව්‍යාපාදයත් එක්ක සිදුවන දෙයක් තමයි ඇකිළුණු සිතක් පැවතීම. ඒ කියන්නෙ ථීනමිද්ධය. ඒ වෙලාවටත් හිත මෙහෙයවන්න පුළුවන් කමක් නෑ. කම්මැලි වෙලා එහෙම්ම නතර වෙනවා. අනික් කාරණය තමයි උද්ධච්ච කුක්කුච්ච. ඒ කියන්නෙ උඩඟු දේවල් හෝ පහත් දේවල් කෙරෙහි බැඳීමෙන් යථාර්ථය ඉක්ම ගිය තත්ත්වය. ඒකෙනුත් සිත වික්ෂිප්ත වෙනවා. මෙන්න මේ තත්ත්වයේදි යථාවබෝධය ලබා ගන්න විදියක් නැතිව යනවා, මතකය හීන වෙනවා.

තව දෙයක් තමයි විකෘති කරගත් මානසිකත්වයෙන් කරන කටයුතු, විකෘති දේවල්වලට ඇති කැමැත්ත. ඒ තමයි විචිකිච්ඡාව. ඒකත් ඒ ආකාරයි. එයිනුත් බාධා ඇති වෙනවා. මේ පහම තිබුණොත් කවර කතාද කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒ නිසා මේ කියන්නා වූ නීවරණ දුරු කර ගෙන, සිත ප්‍රබෝධයට පත් කර ගෙන යහපත් මානසිකත්වයක් ඇති කර ගන්න උත්සාහ කරන්න ඕන. පංච නීවරණ ධර්මයන්ගෙන් වෙන් වෙලා සිත සමතයකට පත් වුනාම, යහපත් සමාධි සිතක් ඇති වෙනවා, හොඳ මතකයක් එනවා. නිවන් දකින දහම තියෙන කාලෙක හේතු වාසනා තියෙන අයට ඒ වගේ සිත් ලබන්න හේතු යෙදෙනවා.

*වෑරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ප්‍රියන්ති හේමමාලා**
**උඩුමුල්ල - පාදුක්ක.**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 36 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය -**

♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ සමන් සිල්වා මහතා - කළුතර ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ ඩබ්ලිව්.ඒ. තිළිණවතී මහත්මිය - කඩවත ♦ එස්.එම්. ජයසේකර මහතා - මාලබේ ♦ ප්‍රසාද් ද සිල්වා මහතා - දෙල්ගොඩ ♦ ප්‍රියන්ති හේමමාලා මහත්මිය - පාදුක්ක ♦ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - මාලබේ ♦ පර්ෆෙක්ට් කම්පියුටර් ආයතනයේ කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ♦ නන් අයුරින් දායකවූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය -**

♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 16,000/- ♦ ප්‍රියනාත් ආරියරත්න මහතා ඇතුළු පවුලේ සැම - කුරුණෑගල - රු. 10,000/- ♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දූව - ගල්කිස්ස - රු. 10,000/- ♦ බිනග සමාධිත් පුතා, අජිතා චාමලී මහත්මිය, කපිල සිල්වත්ගේ මහතා - බත්තරමුල්ල - රු. 9,000/- ♦ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු.5,000/- ♦ කැළුම් ලංකේශ්වර මහතා ඇතුළු පවුලේ සැම - නෙළුව- රු. 5,000/- ♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, ඉරෝෂා ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 5,000/- ♦ සුභාෂ් රණසිංහ මහතා - වේයන්ගොඩ - රු. 5,000/- ♦ ප්‍රදීප් අමරවීර මහතා ඇතුළු පවුලේ සැම - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ අමිල සල්ගාදු මහතා - බෝම්රිය - රු. 2,500/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ♦ ගංගා කෝදාගොඩ මහත්මිය - බොරැල්ල- රු.2,000/- ♦ ෂවීන් ශ්‍රී ජයවර්ධන පුතා ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 2,000/- ♦ කෝෂලා සිරිවර්ධන මෙනවිය - ගාල්ල - රු. 2,000/- ♦ දුෂ්මන්ති සපරමාදු මෙනවිය - කොච්චිකඩේ - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦ සිරියාවතී රත්දෙනි මැණිකේ මහත්මිය - කුඩාවැව - රු.2,000/- ♦ කමලා ගමගේ මහත්මිය සහ එස්. සිරිසේන මහතා - ඇඹලෙගෙදර - රු.2,000/- ♦ තුසිත ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - රාජගිරිය - රු.2,000/- ♦ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු.2,000/- ♦ කපිල වික්‍රමසිංහ මහතා ඇතුළු පවුලේ සැම - මීරිගම - රු.2,000/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ රුවන් රණසිංහ මහතා - පන්නිපිටිය - රු.1,000/- ♦ නදීශා හර්ෂනී ලියනගේ මෙනවිය - කළුබෝවිල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ♦ ඉන්ද්‍රානි විශාකා ජයසිංහ මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ♦ ගයාන් ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු.1,000/- ♦ නුවන් යාපා අමරසේකර මහතා - රදාවාන - රු.1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සේම්නි බුදාරා මහත්මිය - දොඩංගොඩ, කළුතර - රු.1,000/- ♦ කසුන් ජයකොඩි මහතා - දොඩංගොඩ, කළුතර - රු.1,000/- ♦ ඉසුරු උදාන වික්‍රමසූරිය මහතා - පානදුර - රු.1,000/- ♦ චන්ද්‍රා පෙරේරා මහත්මිය - පානදුර - රු.1,000/- ♦ ජයනාත් සුභසිංහ මහතා - මාකුඹුර - රු.1,000/- ♦ පී.ඩී. නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ - රු.1,000/- ♦ තිළිණ දර්ශනාත් අත්තනායක මහතා - මාලබේ - රු.1,000/- ♦ චතුර ධනංගල මහතා - පාදුක්ක - රු.1,000/- ♦ එස්. පද්මලතා මහත්මිය - ඌරාපොළ - රු.1,000/- ♦ පද්මිනී අසෝකා ද සිල්වා මහත්මිය සහ සිඩ්නි සිල්වා මහතා රත්මලාන - රු.1,000/- ♦ ඩිලානි ඩයස් මහත්මිය - නාවින්න - රු.1,000/- ♦ මැණිකේ දිසානායක මහත්මිය - රන්පොකුණගම - රු.1,000/- ♦ රේණුකා කුමාරි ප්‍රියදර්ශනී මහත්මිය සහ තිලකරත්න බණ්ඩාර මහතා - පඬුවස්නුවර - රු.1,000/- ♦ ලයනල් හේවගේ මහතා - දාම්පේ - රු.1,000/- ♦ ශමික සෙනෙවිරත්න මහතා - කැළණිය - රු.1,000/- ♦ ඒ.ඩබ්. වසන්ති දම්පිකා මහත්මිය - නෙළුව - රු.1,000/- ♦ නයනා සිල්වත්ගේ මහත්මිය - නෙළුව - රු.1,000/- ♦ වයලට් වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු.1,000/- ♦ ශ්‍රද්ධාවතී මහත්මිය සහ නන්දසිරි මහතා - වැලිමඩ - රු.1,000/- ♦ ශමීන් බණ්ඩාර මහතා උඩුබැද්දාව - රු.1,000/- ♦ වින්ටන් ලොකුරණවක මහතා - මාකාවිට - රු.1,000/- ♦ ඩී. මාලනී මහත්මිය සහ නදුන් ලංකේෂ්වර පුතා - බෙන්තොට - රු.1,000/- ♦ ඩබ්. විලියම් මහතා - දෙහිඅත්තකණ්ඩිය - රු.1,000/- ♦ අසංග සෙනරත් මහතා - අඹගල - රු.1,000/- ♦ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මෙනවිය, අනුර රංජිත් කුමාර මහතා, පී.එම්. ගමගේ මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, චතුර මල්වාන මහතා - කෑගල්ල, චන්දිම ගුණදාස මහතා - මොරටුව, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට ☞

මහත්මිය - කුරුණෑගල, ශ්‍රී රංජිත් සිංහ මහතා - කැළණිය, යමුනා උඩුමලගල මහත්මිය - පිළියන්දල, රසික තුශාන්ත මහතා - හෝමාගම, අයිවල අමිතානන්ද හිමි - වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය, ශාන්ති බණ්ඩාර මහත්මිය - නාවල, වාසනා වීරසිංහ මහත්මිය - බියගම, දමයන්ති පෙරේරා මහත්මිය - අත්තිඩිය, සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය, ශ්‍රියා සේනානායක මහත්මිය - ගම්පහ, කේ. එම්. ලහිරු චන්දික කුරුප්පු මහතා - එළිවිල, නයෝමි තරංගා මෙනවිය - කළුබෝවිල, එච්. ආර්. මුතුකුමාරණ මහතා - හොරත්න - රු.11,605/- ♦ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 154,105/- ♦ පළමු පිටපත් 10,000 සඳහා මුද්‍රණ වියදම රු. 232,500/- ♦අනෙකුත් වියදම් - 17,100/- ♦ සම්පූර්ණ වියදම - රු. 249,600/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්, හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

1. ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ
2. නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ.
3. නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023
4. තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම.
5. පිනැකල් නෙට් - ශානි ඉන්ස්ටිටියුට් - හයිලෙවල් පාර, ගොඩගම
6. තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක.
7. සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව.
8. ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල.
9. සමනල පොත්හල - නෙළුව.
10. නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර
11. මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල.
12. කේ. පී. ස්ටෝර්ස් - ගන්තුන, කෑගල්ල.
13. නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (077 7577592)
14. දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල)

තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න -
**ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# ණය පියවන හැටි ලෝ සත

























ලොව සත පෙර කළ කම් තැන
සුව ලෙස හිතුවද ඉන් වන
භවයක යළි ඉපදුම් ගෙන
ගෙවනට සැරසෙයි යම් දින

රිරි මසින් පියවෙන කල
ගෝරි දමන්නද ගෙන බල
මීරි ලෙසින් පෙර දුටු එල
කීරි ගැසෙන් අද හද තුළ

කිරි වෙඬරුද පස් ගෝ රස
සරිලන තරමට දී යස
සිරි සරු කර ලන දෑ පස
මැරී මැරී ඉපදෙයි ලෝ කුස

හමටත් තැලුමෙන් එන නද
සවනත් පිනවයි සත අද
දෙවනත් කළ අම්හිරි පද
සිඳලත් තුටු කර මන හද

ලොම් කෙඳි අං කුර නිය ඇට
යම් ලෙස පියවෙත ණයකට
දම් නිය අනුවම වට කොට
කම් එල දෙත ලොව තුළ සිට

ලොවෙන් කාල පැනල යන්න
හොරෙන් බැරිය මග හරින්න
භවෙන් චුතව උපත ගන්න
තැනින් වෙනව ණය ගෙවන්න

වුවත් මෙලෙස කෑ ණය පෙර
නොවෙත් සුගති එකටෙක කර
කළොත් එලෙස තමනට පර
ලොවෙත් ගෙනෙත නෙක ජර මර

පරවුන්ගේ ගනුදෙනු දැක
නරයින් කර ගෙන එක දෙක
කරමින් පවු තම සුව රැක
දරමින් යයි ලෙස රිය සක

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන















# බැඳීමෙන් තොර පරිහරණය...

ඇඳුනොත් සිතට දැඩි ලොබ අගතියක් වෙතී
අඳුරින් පිරි අපායක ඉපදුමක් ඇතී
සිඳුනොත් දැඩි වූ ලොබ නිවනට මගක් දෙතී
බැඳුමෙන් තොර වූ පරිහරණය දොසක් නැතී

රන් මිණි මුතු මැණික් අලවා පිදු අරම
සුන් කළ කෙලෙස් මුනිඳු ද පිළිගති වරම
දුන් දෙය පරිහරණ කර ලොබ අත හැරම
ඉන් කිසි බාධ නොම විය නිවනට පරම

තිබුනත් ලොවේ නෙක සැප සම්පත එමට
නොම වෙත් එයම බාධා ලොව අතැරුමට
ලැබුනොත් දිවි රැකෙන්නට මිස වෙන කුමට
සිතුවොත් එලෙස නොබැඳෙයි පමණකි නමට

පෙර පින් දමින් එන මෙම භවයෙහි සැපතා
කෙරුමෙන් ඇසුරු දොස නැත කිසි ලොබ නොපතා
දරමින් මම මගේ ලෙස එන විට විපතා
මරණින් පසුව එයි පරහේ අත උපතා

සිතින් බැඳෙන බැඳුමයි අවැඩට එන්නේ
ගතින් බැඳෙන දේ මතුවට නොම යන්නේ
නිතින් ලොබ ඇසුර චුතියෙදී සිත ගන්නේ
මතින් බැඳුණු සිත මතු දුගතිය වන්නේ

පරිහරණයෙහි සහ බැඳුමෙහි වෙනස දැන
බැරි දේවල් නොකර වැටහෙන නුවණ ගෙන
අරි මග වඩොත් තිබුණද කෙල ලෙසට ධන
හරිනට හැකිය හිත භව දුක යළිදු දෙන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී